සැඟවුණු බොදු මග යළි පුබුදන

# හෙළ බොදු පියුම

ශ්‍රී බු. ව. 2557ක් වූ නවම් මස (ව්‍යවහාරික වර්ෂ 2014 පෙබරවාරි)

28 වෙනි කලාපය

## පිරිත්, ගාථා, සෙත් කවි ආදියට සම්බන්ධ ශබ්ද විද්‍යාවේ ඇතුල් පැත්ත



රු. 20/-

සැඟව ගිය බොදු මග යළි රැගෙන සෑම පුන් පොහෝ දිනකම එළිදකින දහම් සංග්‍රහය

# නිවන් මගට මුලු පිරුම ...







බත් පත ඉඳුල් හෝදා සතෙකුට දීම
සත් මනු භවේ මුල් ගුණයකි බිහි වීම
ලත් හැම වරින් පොඩියට මුත් සැලකීම
වත් පිළිවෙතකි එයි මතුවට සැනසීම

නිවන් මගට පිළිවෙත් මුල පුරන කල
ගෙවන්නට වෙනව ගනුදෙනු සසරෙ කළ
එවන් විට වුවත් හුරුවෙකි නැගෙන බල
දෙවන් ලද විටදී ඉඩකඩ පිනට මුල

සසුනක් නොමැති කල මුත් පින් දමක් වෙති
තිබුණොත් මැද දහම් මතුවට මුලක් දෙති
පිළිවෙත් පුරන්නට මිනිසත් භවක් ඇති
විටෙකත් නිකං හිටියොත් සැනසුමක් නැති

හැදුවත් විසල් මාළිග පුද දෙන්න පෙර
සිදු වෙත් සසර ගනුදෙනු පියවන්න දුර
නොදුනොත් මවුපියන් කුසගිනි වෙන්න හැර
මුදු මෙත් වඩන්නද සසරින් වෙන්න තෙර ?



එක මුත් මලක් පිදුවත් මුනි සිහි කරමින්
මතු වෙත් නිවන් මග පොඩි නැත බල නැගෙමින්
විසුවොත් දනන් සිවු බඹ විහරණ දරමින්
මෙකලත් පිනක් කර ගත හැක අඩු තරමින්





මා පිය ගුරුන් හට තම යුතුකමින් පුදා
යාචක දුගින් හට හැකි පමණකින් බෙදා
සාසන දමින් මග අනු පිළිවෙලින් සදා
මාවත නිවන් සකසනු ලැබු භවින් මෙදා





නිකන් නොඉඳ ලද පමණින් පිනක් කර
මකන් ලොබ ගතිය සිහි කර දහස් වර
රැකන් නොසිට තම වස්තුව ලොබින් බර
දෙකන් යොමනු දහමට දෙන නිවන් පුර







අනු පිළිවෙලින් යන දම් මාවතක් ඇත
දැන ගෙන නැණින් ගියහොත් ගැලවුමක් දෙත
ලද මොහොතකින් කෙරුවොත් සුළු පිනක් සත
මතු භවයකින් කෙළවර සැනසුමක් එත

පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන

# නිවන් මාර්ගයේ මුල පටන් ගැන්ම අපදාන පාළිය තුලින්...

**8 වන කොටස**



මේ කල්පයෙන් කල්ප ලක්ෂයකට පෙර, එනම් පදුමුත්තර බුදුපියාණන් වහන්සේ ලෝකයට පහළ වූ කාලයේ, උන්වහන්සේට මහත් ගෞරවයෙන් නාගයන් පුද සත්කාර කරපු මොහොතක්. ඒ නාගයන් අතර විමලා නම් වූ නාග කන්‍යාවක් හිටියා. මේ බුද්ධ සාසනයේ, ඒ කියන්නෙ ගෞතම බුද්ධ සාසනයේ උප්පලවණ්ණා රහත් තෙරණිය විවරණ ලබපු අත්බැව තමයි විමලා නාග කන්‍යාව කියන්නෙ. ඇය නාගයන් අතර පිදුම් ලබපු තැනැත්තියක්. මේ නාගයන් අතර මහොරාඝ කියන නාග රාජයා තමයි පදුමුත්තර බුදුන් වහන්සේට පුද සත්කාර කළේ. රත්තරනින් නිම කරපු මණ්ඩපයක් තනවා, රත්තරනින් නිම කරපු පාවඩ එලල නාග තූර්ය වාදනයෙන් තමයි උන්වහන්සේව වැඩම්මෙව්වෙ. ඉතින් උන්වහන්සේ සියලු දාන මාන පිළි අරගෙන අනුමෝදනාව කරන්න පටන් ගත්තා. මේ අනුමෝදනාව ගැන අපදාන පාලියේ මෙහෙම සඳහනක් වෙනවා.

''සම්බුදුරජාණන් වහන්සේ අහර කිස නිමවා පා දොවා මහත් සෘද්ධි ඇති නා රජුගේ නුවණ පමණින් අනුමෝදනා කළ සේක.''

එතකොට නුවණ පමණින් කියල ඇයි එහෙම විශේෂ සඳහනක් කළේ? බුදුන් වහන්සේ නමක් අනුමෝදනාව කළත්, තම තමන්ගෙ නැණ නුවණ අනුව තමයි ඒ අනුමෝදනාවෙන් ප්‍රයෝජනයක් ගන්න පුළුවන් වෙන්නෙ. මේ කාරණය උපමාවකින් පැහැදිලි කළොත්, එකම ජාතියේ බීජ තුනක් අරගෙන එකක් හොඳ පොහොර තියෙන පසකත්, අනෙක් බීජය සාමාන්‍ය පොහොර තියෙන පසකත්, තුන්වැනි බීජය නිසරු පසකත් රෝපණය කළොත්, ඒවායින් ලැබෙන පැළවල තත්වය එකම වෙනවද? ඒ පැළ දිගටම වැඩෙන්න සැලැස්සුවොත් ප්‍රතිඵලය කොහොම වෙයිද? හරිම පහසු උත්තරයක්. පළමු බීජය ඉතාම සරු පස නිසා සරුවටත්, සාමාන්‍ය පසේ ඇති බීජය සාමාන්‍ය ආකාරයටත් පැළ වෙනවා. නිසරු පසේ ඇති බීජය පැළ නොවී මියයනවා. මේක හැමෝටම තේරුම් ගන්න පුළුවන් කාරණයක්. කෙනෙකුට තියෙන නුවණත් මේ වගේ. නැණ නුවණ ප්‍රමාණයට අනුව ඒ අනුමෝදනාව කළාම සතුටු වෙන ආකාරය වෙනස්. ලැබෙන ප්‍රතිඵලත් වෙනස්. බුදුන් වහන්සේ නමක් උන්වහන්සේගෙ අනාවරණ ඥාණයෙන් මේ සියල්ල දකිනවා. ඒ අනුමෝදනාව ලබන කෙනාගෙ නැණ නුවණ අංශුමාත්‍රයක් වත් අඩු නැතිව දකිනවා. ඒ අනුව තමයි අනුමෝදනාව සිද්ධ කරන්නෙ. ඉතාමත් සරලව කියනව නම්, උත්තමයෙකුට දන් පැන් දී ලබන අනුමෝදනාව හරියට සාරවත් බීජ වගේ. අනුමෝදනා වෙන අයගෙ නැණ නුවණ අර පස සහ පසේ තියෙන පෝෂණය වගේ. ඒ තරමට තමයි ප්‍රතිඵල.

නමුත් මේ නාග කන්‍යාවියට අර නාග රජුටත් වඩා නැණ නුවණ තිබුණා. පදුමුත්තර බුදුන් වහන්සේ මේ කාරණයත් දැක්කා. ඒ නිසා ඇයට පෙනෙන්නම සෘද්ධි ලාභින්ගෙන් අගතැන් වූ මහත් සෘද්ධිමත් මෙහෙණින් වහන්සේ නමකට තනතුරක් පිරිනැමුවා. එතකොට ඇය බුදුන් වහන්සේ ළඟට ඇවිත් මොකටද ඒ තනතුර පිරිනැමුවෙ, කොහොමද ඒ තරම් සෘද්ධිමත් වෙන්නෙ කියල පැනයක් ඇසුවා. මේ, සෘද්ධියෙන් අගතැන් සියලු කෙලෙස් නැසූ මාගේ දියණියයි කියල උන්වහන්සේ අර මෙහෙණින් වහන්සේව හඳුන්වා දුන්නා. එතකොට මේ නාග කන්‍යාවත් තමන්ට මතු බුද්ධ සාසනයක මේ තනතුර ලැබෙන්න කියල මහා දන් දීල පැතුමක් පැතුවා.

මෙතන වැදගත් සිදුවීමක් තියෙනවා. බුදුන් වහන්සේ, තමන් වහන්සේගෙ පුතෙක් හෝ දියණියක් කියල හඳුන්වා දෙන්නෙ, හැමවිටම අරිහතුන් වහන්සේ නමක්මයි. බුද්ධ පුත්‍රයෙක් හෝ උන්වහන්සේගෙ දියණියක් වීමට ඇති එකම සුදුසුකම අරිහතුන් වහන්සේ නමක් වීම. උන්වහන්සේ ලබාගත් ප්‍රතිඵලය, ඒ කියන්නෙ නිවන පූර්ණ කර ගත් ඕනෑම කෙනෙක් උන්වහන්සේගෙ පුතෙක් හෝ දියණියක් වෙනවා. එතකොට අරිහත් නොවූ භික්ෂුණී වහන්සේලාත් බුද්ධ පුත්‍රයන් විදියට හඳුන්වනව නේද කියල කෙනෙකුට ප්‍රශ්නයක් එන්න පුළුවන්. භික්ෂුණී වහන්සේ නමක් අරිහත් හෝ නැතා හෝ උන්වහන්සේ දරන සිවුරට අරිහත් ධජය කියල කියනවා. ඒ නිසා අරිහත් ධජය දරන් ඉන්න, පිළිවෙත් පුරණ සියලුම භික්ෂූන් වහන්සේලා සම්මතයෙන් බුද්ධ පුත්‍රයන් වෙනවා. උන් වහන්සේලා ඒ අරිහත් පරපුර නියෝජනය කරනවා. ඒ නිසා පිටින් බලල උන්වහන්සේලාගෙ ගුණ අගුණ නොසෙවිය යුතුයි, අපහාස නොකළ යුතුයි. කෙනෙක් එසේ කිරීමෙන් තමන්ට මග වැහෙන තරමට මහ අපරාධයක් කරගන්න පුළුවන්.

ඒ වගේම උප්පලවණ්ණා තෙරණියගෙ ශරීරයේ පැහැයටත් හේතුවක් තිබුණා. ඒ කියන්නෙ ඒ ☞

නාග ලෝකයේ අරුණ කියල වන්දනා මාන කරන මානෙල් මලක් තිබුනා. මේ නාග කන්‍යාවිය ඒ මල අරගෙන මගේ ශරීරයටත් මේ පැහැය ලැබේවා කියල, ඒ මල අරන් බුදුන් පිදුවා. ඒ හේතුවෙන් තමයි උප්පලවණ්ණා තෙරණියගෙ ශරීරය නිල් මානෙල් මලක් වගේ වුනේ. ඉතින් ඉතාමත් පැහැපත් සුන්දර යුවතියක්. රටේ හැම පැත්තෙන්ම ඇගේ පියාට යෝජනා ආවා, ඇයව මේ සිටුතුමාට විවාහ කර දෙන්න, අපේ රාජ කුමාරයාට විවාහ කර දෙන්න... ආදී වශයෙන්. ඇගේ පියාට මේක මහ ප්‍රශ්නයක් වුණා. එක්කෙනෙකුට විවාහ කර දීමෙන් අනෙක් අය තරහ වෙයි, ප්‍රශ්න ඇතිවෙයි කියන බයක් තිබුණා. මේ නිසා මොකද කළේ දුවගෙන් ඇහුව, බුද්ධ සාසනයේ මහණ වෙන්න කැමතිද, එහෙම නැත්නම් භික්ෂුණියක් වෙන්න කැමතිද කියල. පියා අහපු මේ වචන ටික ඇයට මහත් අස්වැසිල්ලක් වුණා. ඒ නිසා දෙපාරක් හිතන්නෙ නැතිව කැමැත්ත ප්‍රකාශ කළා. කල්ප ලක්ෂයක පාරමිතා ශක්තිය සහ කාශ්‍යප බුදුන් වහන්සේගෙ කාලෙ පිය රජතුමාගෙන් පැවිදි වෙන්න අවසර ඉල්ලපු මොහොතෙ අවසර නොදුන් නිසා අවුරුදු 20000 ක් කුමරි බඹසර රැක්ක පුරුද්ද නැගිල ආවා. ඉතින් සම්බුද්ධ සාසනයේ පැවිදි වෙලා සති දෙකක් ඇතුලත සිවුපිළිසිඹියා සහිතව අරිහත් ඵලයට පත් වුනා.

මේ විදියට අරිහත් වීමෙන් පස්සෙ උප්පලවණ්ණා තෙරණිය අන්ධ වනයේ කුටියක් තනා ගෙන ආරණ්‍ය ගතව වාසය කළා. එතුමිය ගිහිව ඉන්න කාලෙ එතුමියගෙ රූප ස්වභාවයට ගිජු වෙච්ච නන්ද මානවක කියන තැනැත්තෙක් මේ අවස්ථාවෙදි එතුමිය එන කල් රැකගෙන ඉඳල එතුමියව දූෂණයට ලක් කළා. මේ මහා අපරාධය කරපු ඒ තැනැත්තා එවෙලෙම මහපොලොව පලා ගෙන අවීචි මහා නරකාදියට වැටුණා. බුදුන් වහන්සේට මේ කාරණය සැල කළාම උන්වහන්සේ පහත ගාථාව භික්ෂූන් වහන්සේලාට දේශනා කළා.

> මධුවා මඤ්ඤති බාලෝ
> - යාව පාපං න පච්චති
> යදා ච පච්චති පාපං
> - අථ බාලෝ දුක්ඛං නිගච්ඡති

අකුසල කර්මය යම් තාක් විපාක නො දේ ද, ඒ තාක් අඥාන තෙම එය මී මෙන් මිහිරි කොට සිතන්නේ ය. යම් කලෙක අකුසල කර්මය විපාක දේද, එවිට අඥාන තෙම බලවත් දුකට පැමිණෙයි.

(ධම්ම පදය - බාල වර්ගය)

දැන් අර ඉහත කියපු නන්ද මානවකය ඒ බලවත් අපරාධය කරන මොහොතෙ හරිම කැමැත්තෙන් ආස්වාදයක් විඳගෙනමයි ඒ අපරාධය සිද්ධ කළේ. ඒකයි ඒ පාපය කරන කොට හරිම මිහිරියි කිව්වෙ. කෙනෙක් පාපයක්, අපරාධයක් කරන කොට හරිම කැමැත්තෙන්, මධුර ස්වභාවයෙන් තමයි ඒක කරන්නෙ. හරියට මී පැණි කනව වගේ. නමුත් ඒ කරපු පාප කර්මය විපාක දෙනකොට එන්නෙ, හිතාගන්න බැරි විදිහට කටුක අත්දැකීම්. අර පැයක හෝ දෙකක ආස්වාදය නිසා කරගත්ත පාප කර්මයට නන්ද මානවකයා තවම අවීචියේ පැහෙනවා. සාසනයට හෝ සාසනයට සම්බන්ධ උතුමන්ට කරන පාප කර්ම ඒ තරම් බරපතලයි. ඒ වගේම මේ පාප කර්මවලට එන විපාකවල විඳින්න තියෙන දුක ගැන ලෝ වැඩ සඟරාවෙ එන කවියකින් මේ විදියට සටහන් කරල තියෙනවා.

> **කරන කලට පවු මිහිරිය මී සේ**
> **විඳින කලට දුක් ඇඩි වෙයි ගිනි සේ**
> **ඇඳින එ පවු දුරලන උපදේ සේ**
> **නුඳුන මැනවි තුන් දොර අවකා සේ**

ඉහත කාරණය පළමු පද පේළි දෙකෙන් පෙන්වනවා. තුන්වෙනි, හතරවෙනි පද පේළිවලින් කියන්නෙ, අන්න ඒ කාරණය දැනගෙන තමන්ගෙ තුන් දොර, ඒ කියන්නෙ සිත, කය, වචනය පරිස්සම් කරගෙන ඒ වගේ පාප වැඩවලට කිසිම ඉඩක් තියන්න එපා කියල. දැන් කෙනෙකුට හිතෙන්න පුළුවන්, ඇයි එහෙම වෙන්නෙ කියල. කළේ එක පාරයිනෙ! ඇයි මේ අවුරුදු කෝටි ගණන් නිරයෙ පැහෙන්න වෙන්නෙ? ඇයි එකට එකක් වෙන්නෙ නැත්තෙ? කෙනෙක් එක පාරක් පයින් ගැහුව නම්, එයාට වැදෙන්නත් ඕන එක පාරයිනෙ! කොහොමද අත්බැව් සිය දහස් ගණනක් කකුල කැඩෙන, දුක් විඳින තත්වෙට වැටෙන්නෙ? මේ ලිපිය කියවන පින්වතුන්ටත් සමහර විට එහෙම හිතෙන්න පුළුවන්. ඇත්තටම එහෙම වෙන්නෙ කොහොමද? ඇයි එකක් කළාම විපාකය එකක් නොවී ඉතාමත් විශාලනය වෙලා විපාක දෙන්නෙ?

ධර්මයේ සඳහන් වෙනව, අපි අතක් උස්සන කොට ඒ අත උස්සන්න ඕන කරන ශක්තිය ලබා දෙන්න උපන් සිත් ගණන ගණන් කරල ඉවර කරන්න බෑ කියල. අසුරු සැනක් ගහන මොහොතක සිත් කෝටි ප්‍රකෝටි ගණන් ඉපදිලා වැය වෙලා යනව කියල මේ විදියට උපමාවක් තියෙනවා. දැන් පාපයක් / පාප ජාතියක් හටගන්න නම් ඒකට පාප භවයක් තියෙන්න ඕන. භව පච්චයා ජාති කියන සිද්ධාන්තයට අනුව නම් එහෙමයි බලන්න ඕන. ඉතින් ඒ භවය කියන්නෙ මොකක්ද? මේ කාරණයට අනුව නම් පාප ජාතිය ගොඩනගන ශක්තිය නිකන් එන්නෙ නෑ. උපාදානය කරන්න ඕන. එහෙනම් භවය හැදෙන්නෙ උපාදාන පච්චයා භව කියන සිද්ධාන්තය අනුව. නිකන් උපාදානය වෙන්නෙ නෑ. ඒකටම භාවෙලා එහෙම නැත්නම් එතැනට භාවෙලා ළංවෙලා බැඳිල ඉන්න ඕන. ඒකට කියනව තණ්හාව කියල. ඒ පාප ක්‍රියාව කරන්න ඕන ආසාව, තණ්හාව නිකන් ඇති වෙන්නෙ නෑ. ඒකට සංස්පර්ශයෙන් ජනිත වූ සම්ඵස්සජා වේදනාවක් ලැබිල තියෙන්න ඕන. ඒ කියන්නෙ අවිද්‍යා සහගත වින්දනයක් ලැබිල තියෙන්න ඕන. ඒකට සංස්පර්ශයක් හෙවත් කැමැත්තෙන් ලබන ස්පර්ශයක් ලැබිල තියෙන්න ඕන. ඇහැට ප්‍රිය මනාප රූපය නිසා ලැබෙන ස්පර්ශය, ඒ කටහඬ ඇහිල කනට ඇති වන ස්පර්ශය, ඒ වගේම ශරීරයෙන් වහනය වන ගන්ධය නිසා නහයට ඇති වන ස්පර්ශය. ඔය විදිහට ඇස, කන, දිව, නාසය, කය කියන මේ සියල්ලෙන්ම සංස්පර්ශ ලබනවා, තව තවත් ඉල්ලනවා. එතකොට සංස්පර්ශයෙන් එන්නෙ සංඵස්සජා වේදනාවක්. ඒක නිකන් වේදනාවක් නෙවෙයි, තමන්ගෙ හිත තුළ මුලා සහගත භාවය නිසා ගොඩනැගිච්ච වේදනාවක්. ඒක තමයි ආස්වාදය කියන්නෙ.

එතකොට නිකන් සංස්පර්ශයක්, සංඵස්සජා වේදනාවක් එන්නෙ නෑ. ඇස, ඇස විදිහට ඉන්ද්‍රියක් විදිහට තිබුණට සංස්පර්ශයක්, සංඵස්සජා වේදනාවක් එන්නෙ නෑ. රූපයකට කැමැත්තෙන් බැඳෙන්න ඕන. එතකොට තමයි ඒ ඇස ආයතනයක් වෙන්නෙ. ඔය විදිහට කැමැත්තෙන් බැඳිල ඉන්ද්‍රියන් හයම ආයතන (සළායතන) වුණාමයි සංස්පර්ශයක්, සංඵස්සජා වේදනාවක් ලැබෙන්නෙ. එතකොට නිකන් ආයතන වෙන්නෙ නෑ. ඒකට නාමරූප ගොඩනැගෙන්න ඕන. දීර්ඝ කාලයක් හිතේ ඒ පාප සිතිවිලි බැහැගෙන තියෙන්න ඕන. නන්ද මානවකයා, උප්පලවණ්ණා තෙරණිය ගිහිව ඉන්න කාලෙ ඉඳන් ඉතා දැඩි කැමැත්තෙන් හිටපු කෙනෙක් බව ධර්මයේ සඳහන් වෙනවා. ඉතින් සෑහෙන කාලයක් මේක ඔහුගෙ හිතේ පැසව පැසව තියෙන්න ඇති. ඇගේ රූපය ඔහුගෙ හිතේ බැහැගෙන තිබුණා. ඒ කියන්නෙ විඤ්ඤාණයක් ගොඩනැගිල තිබුණා. එතකොට විඤ්ඤාණ පච්චයා නාමරූපං කියන සිද්ධාන්තයට අනුව බැලුවම, කොච්චර පාප සිතිවිලි ප්‍රමාණයක් (නාම රූප) ලෝකෙට නිදහස් වෙන්න ඇත්ද? අසුරු සැනක් ගහන මොහොතක

ඔය සිතිවිලි කෝටි ප්‍රකෝටි ගණන් හැදෙනව නම්, අර කිව්ව පාප ක්‍රියාව කරන මොහොතෙ කොච්චර ප්‍රමාණයක් පාප සිතිවිලි ලෝකෙට නිදහස් වෙන්න ඇත්ද? රහත් උත්තමාවියකට ඒ මහ අපරාධය කරන කොට ලෝකෙට කොච්චර ප්‍රමාණයක් විස කිරණ (පාප සිතිවිලි) නිදහස් වෙන්න ඇත්ද? සූක්ෂම කායිකයන් වූ දෙවියන් බඹුන් මේ සිතිවිලි නිසා කම්පාවෙන්න, කැලඹෙන්න ඇත්ද? පිටින් බැලුවට එක ක්‍රියාවක් කියල, කොච්චර ප්‍රමාණයක් ලෝකය දූෂ්‍ය වෙන්න ඇත්ද? ඒ නිපදවපු පාප ශක්තිය තමයි නැවත විපාක වශයෙන් අති දීර්ඝ කාලයක් විඳවන්න සිද්ධ වෙන්නෙ.

ඉතින් මේ කාරණයෙ අනෙක් පැත්ත තමයි පුණ්‍ය ක්‍රියා. අරිහතුන් වහන්සේ නමකට එක බත් හැන්දක් බෙදුවත් අත්බැව් දහස් ගණන්, ලක්ෂ ගණන් සැප සම්පත් ලැබෙන්නෙත් මේ ක්‍රමයටම තමයි.

ඉතින් උප්පලවණ්ණා තෙරණියට වෙච්ච මේ අපරාධය ගැන වෙනම කතාවක් එයින් ටික කලකට පස්සෙ ඇති වුණා. ඒ කියන්නෙ එදා හිටපු මිනිස්සු සහ භික්ෂුණ් වහන්සේලා අතරෙ ඇතිවුන කතාවක්. ඒ තමයි අරිහතුන් වහන්සේ නමක් කම් සැප විඳිනවද, කාමය ඇසුරු කරනවද කියන ප්‍රශ්නය. ඒ වගේ විවිධ තර්ක ගෙනාවා. ඉතින් අරිහත් වුනාට උන්වහන්සේලාත් ලේ මස් ඇට තියෙන අයනෙ! කාම සේවනය ඒ අයත් කරනවා... ආදී වශයෙන් විවිධ තර්ක මතවාද ආවා. මේ මතවාද තර්ක අතරේ මේ කාරණය බුදුපියාණන් වහන්සේටත් දැනගන්න ලැබුණා.

උන්වහන්සේ මේ කාරණයට උපමාවකින් පිළිතුරු දුන්නා. යම් සේ නෙළුම් කොලයක් උඩට වතුර වැටෙන කොට ඒ වතුර බින්දු නෙළුම් කොලය උඩ නොඇලෙයිද, නොපිහිටයිද, පෙරළී ගොස් වැටෙයිද, අන්න ඒ වගේමයි අරිහතුන් වහන්සේගෙ සිතත්. උන්වහන්සේ කාමයන් කෙරෙහි නොඇලෙයි, නොපිහිටයි. එසේම යම් සේ ඉඳිකටු තුඩක් උඩ අබ ඇටයක් නොරඳයිද, නොපිහිටයිද පෙරළී ගොස් වැටෙයිද, අන්න ඒ වගේමයි අරිහතුන් වහන්සේගෙ සිතත්. උන්වහන්සේ කාමයන් කෙරෙහි නොඇලෙයි, නොපිහිටයි. මේ විදියට අරිහතුන් වහන්සේලාගෙ සිතේ ස්වභාවය ගැන පහදල දුන්නා.

අවසානයේ බුදුන්වහන්සේ මේ සිද්ධියෙන් පස්සෙ, භික්ෂුණී සංඝයාට ආරණ්‍යව නොසිට ඇතුළු නුවර වාසය කිරීම සුදුසු යැයි දන්වා සිටියා.

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු සමග අපදාන පාලිය 2-2- උප්පලවණ්ණා ථේරිපදානය ඇසුරින් සකස් කළේ:*

**ෆික්රි ඉස්මයිල්**
පරිගණක ඉංජිනේරු - ගොතටුව



# විමසමු බුදු බණ...



**බුදු බණ හොයන්නට මේ ලෙස මගක් ඇත**
**විමසා බලන්නට කල් දැන් ඇවිත් ඇත**
**තෝරා ගන්න හැමටම පහසුමත් නැත**
**විමසිලිවන්ත වුවොත් එය බැරිත් නැත**

**කියන්නා කෙසේ කීවද නුවණැත්තා**
**නොකරම සද්ද හරි දේ තෝරා ගත්තා**
**අනුවණ දනා හැම තැන වරදා ගත්තා**
**ගිය ගිය හැම තැනදි ඇදගෙන නා ගත්තා**

**දෙවු ලොව යන්න කියනව ඉනිමං බැඳලා**
**නිවනට දෙවැනි තැන ඒකත් කල් දමලා**
**දන්නෙම නැතිව මගදිම ඉනිමං කැඩිලා**
**වැටෙනව අපායට කළ කී පවු ඇදිලා**

**රාගය දෝසයෙන් වහලා යට කරලා**
**දෝසය රාගයෙන් යටකර ගෙන තබලා**
**රොටියක් වගේ ඒ අත මේ අත ගහලා**
**නිවිලා කියල හිතුවට නම් නැත නිවිලා**

**රාගෙට හේතු වෙනවද කියලා බලමු**
**දෝසෙට මුලාවට යනවා දැයි හොයමු**
**බණ අසනා විටදි විමසිල්ලෙන් අසමු**
**තුන් දොස හඳුනගෙන හැකි හැම විට නසමු**

**රාගය මුලයි දෝසය වෙයි දෙවෙනි හිත**
**මෝහය සැම විටම මේ දෙක සමග වෙත**
**මේ තුන් ගිනිවලින් සදහට මිදෙන අත**
**තිලකුණු තුලින් තෝරා ගමු නිවන ඇත**

පබැඳුම: **මුරුතමුරේ ධම්මින්ද හිමි**

# ද්‍රව්‍ය පදාර්ථ ඥානයට හසුවන විවිධ ශාකවල සැඟව ගිය ඖෂධ ශක්තීන්

3 වන කොටස

ප්‍ර සුගිය කලාපයෙන් විවිධ එළවළු වර්ගවල සැඟවෙච්ච විවිධ ශක්තීන් ගැන විග්‍රහ කළා. මේ ලිපියෙන් හෙළිදරව් කරන්නෙ ඒ වගේ පළතුරු වර්ගවල සැඟවෙච්ච විවිධ ශක්ති විශේෂයන් ගැන.

අඹ කියන්නෙ හිතවත්කම. අඹුව, අඹ යාළුවො ආදී වශයෙන් කියන්නෙත් ඒ හිතවත්කම. ඉස්සර මිනිස්සු ළඟ මේ හිතවත්කම එක්ක බැඳිච්ච සමගිය, සමාදානය බොහොම ශක්තිමත් වුණා. ඒක සමාජයේ යහ පැවැත්මට හේතු වුණා. නමුත් පසු කාලයක ඒ ගති ලක්ෂණය ගිලිහිලා ගිහින් ඒකට හිමි ශක්තිය තමයි අඹ කියන ශාකයේ පිහිටියේ. එතකොට මේ අඹත් ඇඹුල්, පැණි කියල අවස්ථා දෙකකින් තියෙනවා. මොකද මේ හිතවත්කම, සමගිය, සමාදානය කියන ගති ලක්ෂණත් එක පාරටම ගොඩ නැගෙන්නෙ නෑ. මුලින්ම ඒව ගොඩ නගාගන්න ගියාම හරි අමාරුයි, කටුකයි, උල් සහිතයි. ඒ ගති ස්වභාවය ඇති වෙන්න නම් සමාජයේ යහපත් ගති ලක්ෂණ ඇති වෙලා, ඒ යහපත් ගති තියෙන පුද්ගලයො එකට එකතු වෙලා යම්කිසි පරිශ්‍රමයක් දරන්න සිද්ධ වෙනවා. එතකොට ඒ මූලික පරිශ්‍රමයක් දරන අවස්ථාව උලක් වගෙයි, වේදනායි, රිදෙනවා. පොඩි එකාට වුනත් කෝටුවෙන් හරි ගහල හොඳ නරක කියල දෙන්න වෙහෙසක් දරන්න සිද්ධ වෙනවා. ඒ ගති ස්වභාවය නිසා තමයි අඹ ගෙඩිය වුනත් ළපටි කාලෙ ඇඹුල් වෙන්නෙ. නමුත් ඉදිල පෝෂණය වුනාට පස්සෙ පැණි රසයි. ඒ වගේ හිතවත්කම ගොඩ නගන්න අමාරු වුනාට ගොඩ නැගුනට පස්සෙ බොහොම මිහිරියි. ඒ නිසා අදත් අඹවල යම්කිසි විදියකින් අසමගිය, වික්ෂිප්තභාවය, රුස්සන්නෙ නැති ස්වභාවය දුරු කරන ශක්තියක් තියෙනවා. ඒ වගේම මේ හිතවත්කමත් විවිධ මට්ටම්වලින් තිබිල ගිලිහිච්ච නිසා ඒවට හිමි විවිධ ශක්ති විශේෂයන් ගැබ් වෙලා විවිධ අඹ වර්ග හට ගත්තා.

ඊළඟට ඉස්සර හිටපු මිනිස්සු ආහාරයක් ගන්න කොට ඒකෙ ප්‍රමාණය දැනගෙන තමයි ගත්තෙ. වැඩි කොටස කපා හැරියා. තිබිච්ච පළියට, කෑදරකමට ආහාර ගත්තෙ නෑ. හැමෝම තමන්ගෙ ප්‍රමාණය දැනගෙන තමයි ආහාර ගත්තෙ. ඒ ගති ලක්ෂණය පසු කාලෙක දුරස් වෙලා, කෑදරකමට බඩ පුරවගන්න ආහාර ගන්න පටන් ගත්තා. එතකොට අර කලින් වගේ වැඩිපුර ආහාර කපා දමන ගති ලක්ෂණය ඉවත් වුණා. අන් කියන්නෙ ආහාරය. අසි කියන්නෙ කපා හරිනවා. අසිපතින් කරන්නෙත් කපා හැරීමක්. එතකොට වැඩිපුර තියෙන ආහාරය කපා ඉවත් කරන ගති ලක්ෂණය තමයි මුල් කාලෙ තිබුණෙ. ඒක ඉවත් වෙලා ගියාම ඒකට හිමි ශක්තියෙන් තමයි අන් + අසි - අන්නාසි හට ගත්තෙ. අදත් යමෙක් වැඩි පුර සීමාව ඉක්මවල ආහාර ගත්තම, ඒ වැඩි කොටස දිරවන්න පහසුවෙන ශක්තියක් අන්නාසිවල තියෙනවා. වැඩිපුර ගත්ත ආහාරයේ අපත්‍ය ගතිය දුරුවෙලා, ඒක පාලනය වෙලා කෑම දිරවන්න පහසුවක් අන්නාසිවලින් සපයනවා.



ඒ වගේම ඉස්සර හිටපු මිනිස්සු ළඟ යම්කිසි අවස්ථාවකදි සැලෙන්නෙ නැති, සෙලවෙන්නෙ නැති, දරාගන්න පුළුවන් ශක්තියක් තිබුණා. නමුත් පසු කාලෙක මිනිස්සු තණ්හාවෙන් බරිතවෙලා කටයුතු කරන කොට අර තිබිච්ච නොසෙල්වෙන ගති ලක්ෂණය පිටවෙලා ගියා. ඊට පස්සෙ පුංචි දේටත් සෙලවෙන්න, කම්පා වෙන්න පටන් ගත්තා. දරන්න බැරිව ගියා. එතකොට මුලින් තිබිච්ච සෙලවෙන ගතිය ක්ෂය වූ ගති ලක්ෂණය නැතිවෙලා ගිහින් තමයි ක + සෙල් - කෙසෙල් විදියට පිහිටියේ. ඒ වගේම මේ සෙලවෙන්නෙ නැති ගති ලක්ෂණයෙත් විවිධ අවස්ථා ගිලිහිලා ගිහින් තමයි විවිධ කෙසෙල් වර්ග හට ගත්තෙ. උදාහරණයක් විදියට මාළුවක් කියන්නෙ ආහාරයට ගන්න දෙයක්. හුඟක් කෙසෙල් වර්ගවල කෙහෙල්මුව මාළුවක් විදියට උයල කන්න ගන්නවා. නමුත් එහෙම කන්න ගන්නෙ නැති එක තමයි න + ආන කියන්නෙ. ඒ කියන්නෙ මාළුවක් විදියට කන්න ගන්නෙ නෑ. ඒ විදියට කෙහෙල් මුව මාළුවක් විදියට කන්න ගන්නෙ නැති අවස්ථාවක් තමයි ආනමාළුවල තියෙන්නෙ. විශේෂයෙන් ආනමාළුවල කෙහෙල්මුව කොහොමටවත් කන්න ගන්න බෑ.

ඒ වගේම ආදි පැරැන්නන් යමක් ගන්න කොට තෝර බේරගෙන පෙරාගෙන ගන්න හොඳ ගති ලක්ෂණයක් තිබුණා. ඒ නිසා අහුවෙන හැම දෙයක්ම ගත්තෙ නෑ. හොඳ නරක දෙක හොයල බලල පෙරල තමයි ගත්තෙ. පෙර පෙරා හොඳ දේවල් හොයා ගත්තා. ඊට පස්සෙ ඒ හොඳ ගතියත් නැති වෙලා ගියා. ඒ නිසා නරක ඒවත් ගැනීමෙන් අපහසුතාවයන්ට මුහුණ දෙන්න සිද්ධ වුණා. එතකොට පිටවෙලා ගියපු ගති ලක්ෂණයට අදාල ශක්තියෙන් තමයි පේර හටගත්තෙ. විවිධ විදියට පෙර පෙරා ගත්තු නිසා විවිධ පේර වර්ග හට ගත්තා.

ඊළඟට ඉස්සර මිනිස්සු ළඟ, යම්කිසි විදියකින් ආරනවා කියන ගති ලක්ෂණයක් තිබුණා. ඒ කියන්නෙ නරක දේවල් හැරල යහපත් විදියට සකස් වෙලා එන ගති ලක්ෂණයක්. හොඳ චිත්තප්‍රසාදයකින් කටයුතු කරන කොට තමයි එහෙම ආරන ගතියක් වුනත් එන්නෙ. හොඳ ගති වර්ධනය වෙන කොට ආරන මෝරන ගතිය කියලත් කියනවා. ආරේ ගුණ නෑරේ කියන්නෙත් එදා ඉඳන් ආපු ආර්ය ගුණ ධර්ම. නමුත් පස්සෙ කාලෙක මිනිස්සු දූෂ්‍ය වෙලා ආරන්නෙ නැතිව ගියා. ඊළඟට ආරෙට වැඩ

කරන ගති ලක්ෂණ නැති වෙලා ගියා. ඒ කියන්නෙ නරක දේවල් හරින ගතිය නැති වුණා. න + හර + අන් - නාරං කියන්නෙ නරක ගති හරින ආහාරය. එහෙම නැත්නම් හරය හෙවත් හොඳ දේවල් නොහරින ආහාරය. ඒ කියන්නෙ හොඳ ගති ලක්ෂණයක්. ඒක ගිලිහිලා ගිහින් තමයි නාරං හැදුනෙ.

ඒ වගේම ඒ නරක ගති හැරල ආර්ය ගති ලක්ෂණ එන කොටත් පෙඟි පෙඟී පෙරිල ක්‍රමානුකූලව එන ගති ලක්ෂණයක් විදියට තිබුණෙ. යමක් පෙඟුනම ඇරෙනවා. හදවත පෙඟුනයි කියන්නෙ තෙත් වුණා, විවෘත වුණා කියන එක. එතකොට හදවත හඟවන්නෙ නෑ. ඒ විදියට හදවත පෙඟී ඇරී එන ගති ලක්ෂණය තමයි පැඟිරි කියන්නෙ. තරුණ වයසට එන්න පෙරත් පැඟිරා, පැඟිරි වයස ආදී වශයෙන් කියන්නෙ මුකුත් හංගන්නෙ නැතිව, කපටි කමක් නැතිව හදවතේ තියෙන දේ කියන නිසා. පා + හැඟි + ඉරි - පැඟිරි. පැඟිරි වයසෙදි හැඟීම් කියන්න ලැජ්ජයි. ඒ නිසා ඉරියව්වලින් හැඟීම් පෙන්වනවා. ඒ අර්ථයෙනුත් පැඟිරි කියනවා.

එතකොට නාරංවලත් පැඟිරි තියෙනවා. ඒ අර කියපු ගති ලක්ෂණයට අදාල ශක්තිය. පැඟිරි තියෙන හැම ශාකයකම ඒ ගති ලක්ෂණයට අදාල ශක්තිය පිහිටනවා. එතකොට ඉස්සර තිබ්බ්ච, හදවත පෙඟිල විවෘත වෙලා එන හොඳ ගති ලක්ෂණය පසු කාලෙක නැති වෙලා ගිහින් තමයි පැඟිරි හට ගත්තෙ. කෙනෙක්ගෙ සෙම වැඩි වෙන කොට සෙමවලින් ශරීරයේ ඉන්ද්‍රිය පද්ධතිය වැහෙනවා. ඒ වගේ වෙලාවට සෙම අහක් කරන්න පැඟිරි තියෙන කොළ තම්බල දුම් අල්ලනවා. **විශේෂයෙන් පැඟිරි කොළ වර්ග 5 ක් අරගෙන තම්බල දුම් අල්ලල ඒකෙන්ම වතුර පතක් විතර බොන්න දුන්නම, අරින්න බැරි සෙම් අමාරුවලට හුගක් හොඳයි. හැබැයි ඒකට ජම්බෝල කොළ ගන්නෙ නෑ.** වෙනත් මොනව හරි පැඟිරි කොළ වර්ග 5 ක් තමයි ගන්නෙ. ඒකෙන් සෙම නිසා හැදිල තියෙන හිසේ කැක්කුම්, පපුවෙ කැක්කුම් ආදිය දුරු වෙලා යනවා. ඒ කියන්නෙ වැහිල තිබ්බ්ච ඉන්ද්‍රියන් විවෘත වෙනවා.

ඒ වගේම ඉස්සර හිටපු මිනිස්සු ළඟ නිතර දැල්වෙන ප්‍රබෝධමත් ගතියක් තිබුණා. වැඩක් පළක් කරන්න ගියාම ඒ දැල්වෙන ගතිය හුගක් වැදගත් වුණා. ඒ නිසා වැඩ කටයුතුවලින් සාර්ථක ප්‍රයෝජන ගන්න හැකියාව ලැබිල බොහොම සශ්‍රීක සමාජයක් ඇති වුණා. නමුත් පසු කාලෙක ඒ තිබ්බ්ච දැල්වෙන ගතිය නැති වෙලා ගිහින් අඳුරු වෙන්න පටන් ගත්තා. ඒ දැල්ලුම් ගතියට අදාල ශක්තිය තමයි දෙළුම්වල පිහිටියේ. අදත් ප්‍රබෝධමත් ගතිය නැති වෙන කොට, ඇස්වල අමාරුකම් එනකොට දෙළුම් ඖෂධයක් විදියට ගන්නවා. විශේෂයෙන් කෙනෙක්ගෙ ප්‍රබෝධමත් දැල්වෙන ගතිය නිතර පෙන්වන්නෙ ඇස් දෙකෙන්. ඇස් අඳුරු වෙලා ප්‍රබෝධමත් ගතිය නැති වෙන කොට දෙළුම්වලින් ඒ ප්‍රබෝධය නැවත ගන්න පුළුවන්.

ඒ වගේම ඉස්සර අඹු රහිත අයට ආහාරයක් තිබුණා. ඒ කාලෙ අඹුවන් රහිතව හිටපු අයට තිබ්බ්ච ආහාරය තමයි ධර්මය. ඒ කියන්නෙ කාමයන්ගෙන් මත් නොවෙන පැත්ත. වෙනත් විදියකින් කියනව නම් බ්‍රහ්ම චරියාව. ඒක හොඳ ගති ලක්ෂණයක්. නමුත් පසු කාලෙක කාමයන්ගෙන් මත්වෙන්න ගත්තම, අඹු රහිත අයට දෙන ආහාරය හෙවත් බ්‍රහ්මචාරී ගුණය පිරිහිලා ගියා. ඒ ගති



ලක්ෂණයට අදාල ශක්තිය තමයි පිටවෙලා ගිහින් ර + අඹුට + අන් - රඹුටන් විදියට පිහිටියේ. රඹුටන්වල අදත් ඒ ගුණයට අදාල ශක්තිය තියෙනවා. ඒ කියන්නෙ රඹුටන්වල තියෙන්නෙ යම්කිසි විදියක කාම රසය මැඩ පවත්වන රසයක්. මොකද ධර්ම රසයෙන් කාම රසය මැඩ පවත්වන රසයක් පෙර කාලෙ තිබුණෙ. දැන් ඕන නම් මේ ගැන පරීක්ෂණයක් කරල බලන්නත් පුළුවන්. ඒ කියන්නෙ ඒ වගේ අඹු රහිත අයට තිබුණ ආහාරය නැති වෙලා ගියාට පස්සෙ ඒ අයට අඹු අවශ්‍ය වෙන්න පටන් ගත්තා. ඒකට ආහාරයක් අවශ්‍ය වෙනවා. ඒ ශක්තිය නැති වෙලා ගියාම ධාතු විස වෙනවා. එතකොට අතපය ඉදිමීම් ඇති වෙනවා. ඒ වගේ අවස්ථාවලට රඹුටන් කොළ හොඳ බේතක් වෙනවා. **රඹුටන් කොළ තම්බල ඒ වතුරෙන් මඳ උෂ්ණෙන් තැව්වම අතපය, කකුල් ඉදිමුම් ආදී අමාරුකම් දුරු කරගන්න පුළුවන්.**

දැන් මේ සම්බන්ධයෙන් අභයරතනාලංකාර හිමියන්ගෙ ගිහි කාලෙ අත්දැකීමක් මේ විදියට සටහන් කරන්න පුළුවන්. ''ඒ කාලෙ හිටපු කෙනෙක් අතේ පයේ අරින්න බැරි අමාරුකම්, ඉදිමුම් තිබිල මාව හමුවෙන්න ආවා. ඒ පුද්ගලයට යන්න එන්න අමාරුකම් තිබුනා, හන්දිපත් රිදෙන්න ගත්තා. ඒ වෙලාවෙදි රඹුටන් කොළ තම්බල තවන්න දෙන්න කියන එක තමයි සමාධියට ආපු බේත. ඒ බේත එක පාරයි දුන්නෙ, තවල සති දෙකක් යනකොට අර අමාරුකම් සම්පූර්ණයෙන්ම දුරු වුණා. මෙච්චර කලකට ඒ බේත කාටවත් දීල තිබුණෙත් නෑ. පස්සෙ බලන කොට ඒ පුද්ගලය විවාහ වෙලත් නෑ. ඒ කියන්නෙ අඹු රහිතයි. නමුත් ඒ හේතුවෙන් ඇති වෙච්ච අසහනකාරී මානසිකත්වය ඔහු තුළ තිබුණා. ඒකත් කකුල් ඉදිමෙන්න හේතුවක් වුණා. ඒ කියන්නෙ විවාහ වෙන්න බලාපොරොත්තුවක් තිබුණත් වැඩේ කරගන්න බැරි වෙලා අසහනය නිසා ඇති වෙච්ච රෝග ලක්ෂණයක්. ඉතින් ඒ අවස්ථාවෙදි මේ රඹුටන් කොළ ප්‍රතිකර්මයෙන් ඒක දුරුවෙලා ගියා. ආතරයිටීස්වලටත් මේ ප්‍රතිකර්මය දීල අවශ්‍ය නම් පරීක්ෂා කරල බලන්න පුළුවන්.

ඒ වගේම ඉස්සර මිනිස්සු ළඟ, කතා කරන කොට හිතවත්කමක් තිබුණා. ඒ කියන්නෙ යහපත් විදියට කතා කරන ගති ලක්ෂණයක්. ඒ ගති ලක්ෂණය තමයි දිව වූ ආලය කියන්නෙ. දිව මුල් කරල යහපත් දේවල් කතා කරල ආලය කරන ගති ලක්ෂණය, ආලවන්ත කතා බහ. නමුත් පසු කාලෙක ඒ විදියට කතා කරන ගති ලක්ෂණයත් ගිලිහිලා ගිහින් ඒකට හිමි ශක්තියෙන් තමයි දිව වූ + අල් - දිවුල් කියල හට ගත්තෙ. **අදත් දිවේ කටේ තොල්වල පැලිල ඉරි ගියපු ලක්ෂණ නිසා එන ආබාධවලට දිවුල් කොළ තම්බල කට හෝදන්න දෙනවා. දිවුල් කිරි බොන්න දෙනවා.**

ඒ වගේම මුල් කාලෙ හිටපු මිනිස්සු ළඟ සත් බසට ඇලිල ඉන්න ගති ලක්ෂණයක් තිබුණා. සත් බස කිව්වෙ සත් පුරුෂයන්ගෙ කතාව, සද්ධර්මය. පසු කාලෙක ඒ විදියට බහට ඇලී හිටින ගති ලක්ෂණය ඉවත් වෙලා ගිහින් තමයි බහ + ඇලි - බෙලි හට ගත්තෙ. එතකොට සත් බසට ඇලී හිටීම දේව ගතියක්. ඒ නිසා ශ්‍රියා කාන්තාවට, ලක්ෂ්මි දේවියට බෙලි සම්බන්ධ කරල පෙන්වනවා. සත් බසට ඇලී හිටීමේ ගති ලක්ෂණයෙ මුල් අවස්ථාවක් තමයි ඒකෙන් පෙන්වන්නෙ. බස දෙසන්නෙ එක් කෙනෙක්, බසට ඇලී හිටින්නෙ තව කෙනෙක්.

ඒ වගේම 'ජු' කියන වචනයෙන් පෙන්වන්නෙ ජරාවට පත් වෙලා ජීර්ණ වෙන, දිරායන ගති ලක්ෂණයක්. ඒ වගේ ජරාවට පත් වෙන ගති, ක්ෂය කරන ගති ලක්ෂණයක් ඉස්සර මිනිස්සු ළඟ තිබුණා. ඒක හොඳ ගති ලක්ෂණයක්. ඒ කියන්නෙ මිනිස්සු මානසිකව ජරාවට පත් වුණේ නෑ. ඒක මනසත් එක්ක තිබ්ච්ච ගුණයක්, ශක්තියක්. ඒ විදියට පහත් බවට පත් වෙන හෙවත් ජරාවට පත් වෙන දේවල් ක්ෂය කරන ගති ලක්ෂණය දුරස් වෙලා, පසු කාලෙක මිනිස්සු ජරා වැඩ කරන්න පටන් ගත්තා. එතකොට ජු කියන ජරාවට පත් වෙන දේවල් ක්ෂය කරපු ගති ලක්ෂණයට හිමි ශක්තිය තමයි ක + ජු - කජු කියල පිහිටියේ.

ඒ වගේම මුල් කාලයේ හිටපු මිනිස්සු ළඟ බ්‍රහ්මචාරීව වාසය කිරීමේ ගති ලක්ෂණයක් තිබුණා. මුල් කාලෙ හිටපු මිනිස්සු ඒ ගති ලක්ෂණයෙන් ඉවත් වුනේ නෑ. එතකොට යම්කිසි තැනක ඒ විදියටම ඇලී බැඳී ඉන්න ගති ලක්ෂණයට ඉද්ධ වුණා කියල කියනවා. ඒ වගේ මුල් කාලෙ මිනිස්සු බ්‍රහ්මචාරීව වාසය කිරීමේ ගතියට ඉද්ධ වෙලා හිටියා. නමුත් පසු කාලයකදි මිනිස්සු ඒ ගතියෙන් ඉවත් වුණා. යම් කිසි විදියකට හිටපු ආකාරයෙන් වෙනස් වුනා කියන්නෙ දැන් ඉද්ධ වෙන්නෙ නෑ කියන එක. ඒක තමයි මා + ඉද්ධ - මිද්ධ කියන්නෙ. උදාහරණයක් විදියට කිරි මිදුනට පස්සෙ කලින් විදියට තියෙන්නෙ නෑ. ඒ නිසා තමයි මිදුනයි කියන්නෙ. ඒ කියන්නෙ කලින් තිබ්ච්ච තත්වයෙන් වෙනස් වෙලා ගියා. ඒ වගේ අර බ්‍රහ්මචාරීව වාසය කිරීමේ ඉද්ධ ගති ලක්ෂණයෙන් ඉවත් වෙලා කාමයට බැස්සම මා + ඉද්ධ - මිද්ධ වුණා. එතකොට කලින් තිබ්ච්ච හොඳ ශක්තිය පිටවෙලා ගිහින් ඒක මිදි ශාකයේ තැන්පත් වුනා. ඊන මිද්ධ කියන්නෙත් කාමයට සම්බන්ධ දෙයක්. කාම අදහස් ආවම එතන මිදුනා කියන අර්ථයෙන් තමයි ඊන මිද්ධ කියන්නෙ. ඒ කියන්නෙ පෙර තිබ්ච්ච බ්‍රහ්මචාරී ගතියෙන් ඉක්ම ගිහින් කාමයට බැස්සා කියන අදහස.

එතකොට බ්‍රහ්මචාරීව ඉඳල ඒකෙන් ඉක්මවා ගියාට පස්සෙ ඒ හොඳ ගති ලක්ෂණයට අදාල ශක්තිය තමයි ප්‍රණීත ආහාරයක් විදියට මිදිවල පිහිටියෙ. මේ බ්‍රහ්මචරියාව කියන ගතිය ගත්තොත්, ඒකෙත් මූලික වශයෙන් මත් වීමක් තියෙනවා. නමුත් ඒ මත් වීම බාහිර කෙනෙක් ඇසුරු කරල ගන්න මත් වීමක් නෙවෙයි. බ්‍රහ්මචාරීව ඉන්න කොට ශරීරයට අවශ්‍ය සුවය ශරීරයෙම තිබුණා. ඒ තමයි ධ්‍යානලාභීව වෙසෙනකොට තිබ්ච්ච සුවය. ඒක කාම සුවයක් නොවුණට කයට දැනෙන විශාල සුවයක්. කාමයටත් වඩා ලොකු රසාස්වාදයක් ඒ සුවයෙ තියෙන්නෙ. එතකොට පිට කෙනෙක්ගෙන් උපක්‍රමශීලීව ගන්න කාම සුවයක් ඒ අයට අවශ්‍ය වුනේ නෑ. ඒක ස්වභාවිකවම තිබුනා. ඒ ශක්තිය නැතිවෙලා ගිහින් තමයි මිදි හට ගත්තෙ. ඊට පස්සෙ තමයි වෙනත් කෙනෙකුගෙන් කාම සුවය ලබා ගන්න පටන් ගත්තෙ. දැන් එතකොට මිදිවල තියෙන ඒ මත්වීම අරගෙන කාමයේ යෙදෙන්න අදත් මිනිස්සු උපක්‍රමයක් විදියට පුරුදුවෙලා ඉන්නවා. ඒ නිසා තමයි මිදිවලින් වයින් වගේ මත් පැන් වර්ග හදල මත්වෙන්න යොදා ගන්නෙ.

ඒ වගේම ඉස්සර හිටපු මිනිස්සු ළඟ කෙනෙකුට ඇප අල්ලන්න පුළුවන් ශක්තියක් තිබුණා. ඒ කියන්නෙ නිකං ඇප වෙනව නෙවෙයි, කෙනෙක්ගෙ චරිත ස්වභාවය ගැන විශ්වාසයක් තියන්න පුළුවන්කමක් තිබුණු නිසයි ඇප වුණේ. නමුත් පසු කාලයක වංචාවෙන් කපටිකමින් වැඩ කරන්න පටන් ගත්තට පස්සෙ, කෙනෙකුට ඇප අල්ලන්න පුළුවන් හැකියාව නැති වෙලා ගියා. ඒ






විශ්වාසය බිඳිල ගියා. ඒ තරම් අවිශ්වාසයි. ඒ විදියට පිටවෙච්ච ගති ගුණයට අදාල ශක්තියෙන් තමයි ඇප + අල් - ඇපල් හැදුනෙ.

ඒ වගේම ඉස්සර හිටපු මිනිස්සු යමක වටිනාකම කියල ඔප මට්ටම් කරල ඒක ආශ්‍රය කරන්න ගත්තු ගති ලක්ෂණයක් තිබුණා. ඒ කියන්නෙ ඒ වගේ හොඳ හොඳ දේවල් පේ කරල යා කරල ආශ්‍රය කරන්න ගත්තා. පස්සෙ කාලයක ඒ ගති ලක්ෂණයත් ගිලිහිලා ගියාම ඒකට අදාල ශක්තිය තමයි පේ + යා + ආස් - පෙයාස් විදියට පිහිටියේ. නම කවුරු දැම්මත් පටිච්ච සමුප්පාද සිද්ධාන්තයෙන් වචනයේ පද නිරුක්තිය දෙන්න පුළුවන්.

ඒ වගේම කෙනෙකුට තවත් කෙනෙක්ගෙ තත්වෙ මේකයි කියල ඒ පුද්ගලයා ගැන ඔප දමල වර්ණනා කරන්න පුළුවන් හැකියාවක් මුල් කාලෙ මිනිස්සුන්ට තිබුණා. ඒ කියන්නෙ කෙනෙක්ගෙ තියෙන හොඳ ගති ගුණ කියා පාල අල්ලන්න පුළුවන් ගති ලක්ෂණයක්. එතකොට ඒ ගති ගුණ ඔප දාල පාන්නෙ බොරුවට නෙවෙයි, ඒක ඇත්තක්. නමුත් කාලයක් යන කොට මිනිස්සු බොරුවටත් ගති ගුණ කියන්න පටන් ගත්තා. නැති ගුණත් කියන්න පටන් ගත්තා. එතකොට පැ ඔපය අල්ලන්න බැරිව ගියා. ඒ ශක්තිය පිටවෙලා ගිහින් තමයි පැ + ඔප + අල් - පැපොල් හැදුනෙ.

ඊළඟට ඉස්සර හිටපු මිනිස්සු ළඟ තැම්බී ඇලී හිටින ගතියක් තිබුණා. ඒ කියන්නෙ මොකක් හරි වේදනාවක්, කරදරයක් ආවම දාල පැනල ගියේ නෑ. ආත්ම විශ්වාසයෙන් ධර්මානුකූලව යථා ස්වභාවය දැනගෙන ඒකට මුහුණ දුන්නා. ඒ වේදනාව දරාගෙන ඉන්න පුළුවන් ශක්තියක් එදා තිබුණා. ඒ නිසාම එතැන තැම්බි තැම්බී ඇලී හිටින්න පුළුවන් ශක්තියක් තිබුණා. නමුත් පසු කාලෙක වේදනාව වැඩි වෙන ගානට මිනිස්සුන්ගෙ හිත් දූෂ්‍ය වුනාම, අර විදියට ඇලී හිටින්න පුළුවන් ශක්තිය නැති වෙලා ගියා. තැම්බි තැම්බී ඇලී හිටින ශක්තිය ගිලිහිලා ගියා. ඒ ශක්තියෙන් තමයි තැඹිලි හැදුනෙ. ඒ වගේම මේ තැම්බි තැම්බි ඇලී හිටින ගති ලක්ෂණයෙත් අවස්ථා තුනක් තිබුණා. ඒ කියන්නෙ සමාධි සුවයේ, ධ්‍යාන සුවයේ ඉන්න කොට කවුරුහරි බැන්නත් යන්නෙ නෑ, නැති වැරදි කියල දොස් කිව්වත් විඳව විඳව හරි ඒ ධ්‍යාන ලබා ගන්න, ඒ සුවයෙ ඉන්න තැම්බි තැම්බි ඇලී හිටිමින් කටයුතු කරනවා මිසක් දමල යන්නෙ නෑ. එතකොට ඒ වගේ තිබ්ච්ච ස්වර්ණමය ගති ලක්ෂණ ඉවත් වෙලා ගිහින් තමයි රන් තැඹිලි හට ගත්තෙ. ඒ නිසා රන් තැඹිලි අදත් දුර්ලභයි. තැඹිලි වර්ග අතරින් වැඩිය වටින්නෙත් රන් තැඹිලි. ඒ **රන් තැඹිලි තෙල් හිසේ ගෑවම විශේෂයෙන් නුවණ වැඩෙන්න හේතු වෙනවා.**

ඒ වගේම සාපේක්ෂව ඒ තරම් වැදගත් නැති දේවල්වලටත් තැම්බි තැම්බි ඇලී හිටින ගති ලක්ෂණයක් එදා හිටපු මිනිස්සු ළඟ තිබුණා. ඒ කියන්නෙ ආස්වාදයෙන් රත් වෙලා තැම්බි තැම්බි ඇලී හිටින ගති ලක්ෂණයක්. නමුත් සාපේක්ෂව ගත්තම ඒ ගති ලක්ෂණයත් හොඳයි. උදාහරණ විදියට භාර්යාව එක්ක තරහ වුණා කියල යන්නෙ නෑ, තැම්බි තැම්බි ඇලී ඉන්නවා. මං එහෙම යන එක වටින්නෙ නැනෙ, දරුවන්ට කවුද ඉන්නෙ, දැන් ඉතිං බැඳගත්තට පස්සෙ

මොනව කරන්නද, පවුල් අවුල් කරල දාල අනිත් අයට ගිනි දෙන්න හොඳ නැතෙ... ආදී වශයෙන් හිතන ගති ලක්ෂණයක් තිබුණත්, දරා හිටීමේ ශක්තිය තවත් පහළට යනකොට, ඒ ගතියත් දුරස් වෙලා ඒකට අදාල ශක්තිය තමයි රත් තැඹිලිවල පිහිටියෙ. අපි දනට වැඩිපුර පාවිච්චි කරන්නෙ, ඒ වගේම කඩවල විකුණන්න තියෙන්නෙ මේ රත් තැඹිලි. ඒව රන් තැඹිලි තරම් වටින්නෙ නෑ. ඊළඟට සේවකයො වශයෙන් තැම්බි තැම්බී ඇලී හිටපු පිරිසකුත් ඒ කාලෙ හිටියා. ඒ කියන්නෙ බැනුම් අහගෙන දුක් කරදර විඳගෙන අනුන් යටතෙ තැන් තැන්වල වැඩපල කරපු පිරිසක්. ජීවිතය ගෙනියන්න අවශ්‍ය නිසා ඒ සියලු දුක් කරදර ඉවසගෙන ඒ අයත් තැම්බි තැම්බි ඇලී හිටියා. ගැටීමක් නැතිව හිටපු ඒ ගුණයත් අවස්ථානුකූලව වැදගත්. නමුත් පසු කාලෙක ඒක දරාගන්න බැරිව ඒ පිරිසත් දරුණු වුණා. ඊට පස්සෙ අර තැම්බි තැම්බි ඇලී හිටින ගතිය දුරස් වෙලා ගිහින් ඒ ශක්තියෙන් තමයි ගොන් තැඹිලි හැදුනෙ. ඒක රත් තැඹිලි තරම්වත් වටින්නෙ නෑ. එතකොට අදත් තැම්බෙන දාහ සහගත ගතියක් ආවම තැඹිලි හොඳ ඔසුවක් වෙනවා. දාහයක් ආපු වෙලාවට තැඹිලි ගෙඩියක් බිව්වම ඒ අසහනය නැති වෙනවා. මොනව හරි කායික දාහයක් නිවන්න තැඹිලි විශේෂයි.



ඒ වගේම මඩු කියන්නෙ යම්කිසි විදියකින් පාගල දමන මඩවන ස්වභාවයක්. කුඹුරක ගොයම් කපල, පාගල ඉතුරු වෙන රොඩ්ඩට මැඩුවම් කියන්නෙත් ඒකයි. ඉස්සර සමාජයේ මිනිස්සු ළඟ කෙනෙක් මඩවන ගතියක් තිබුණෙ නෑ. ඒ වගේ, කෙනෙක් තවත් කෙනෙක්ව මඩින ගති ලක්ෂණය නැතිවයි මුල් කාලෙ මිනිස්සු හිටියෙ. එතකොට මිනිස්සුන්ගෙ හිත් බොහොම සැහැල්ලුයි, සිසිලයි. නමුත් පසු කාලෙක සමාජයේ මිනිස්සු තවත් කෙනෙක්ව මඩවන්න පටන් ගත්තා. එතකොට අර කලින් තිබ්බ මඩු නොකරන ගති ලක්ෂණය හෙවත් මඩු ක්ෂය කරන ගති ලක්ෂණය ඉවත් වෙලා ගිහින් ක + මඩු - කොමඩු විදියට පිහිටියා. එදා තිබ්බ ගති ලක්ෂණය නිසා අදත් කොමඩුවලින් සිසිල් බවක් ලබා දෙනවා.

ඒ වගේම ඉස්සර කාලෙ ආර්ය ධර්මය දූෂණය කරන ආහාරයක් තිබුණා. ඒ තමයි කාමය. හැබැයි ඒක මිථ්‍යා චාරයක් විදියට නෙවෙයි කළේ. කාම චාරයක් විදියට. ඒ කියන්නෙ ඒකට ගැටීමක් ඇතිවුණේ නෑ. ඒ නිසා පසු කාලීනව බලද්දි ඒකත් සාපේක්ෂව හොඳ ගති ලක්ෂණයක්. නමුත් කාලයක් ගත වෙද්දි මිනිස්සු ඒ මධ්‍යම මට්ටමත් ඉක්මවා ගිහින් කාමයටත් පොරකන්න පටන් ගත්තා. හිත් දූෂ්‍ය වෙලා ද්වේශය ඇවිත් කාමයට ගහ මරාගන්න, ගැටෙන්න පටන් ගත්තා. එතකොට කලින්ටත් වඩා දූෂ්‍ය වුනා. ඒකෙන් අර මුලින් තිබ්බ ආර්ය ධර්මයට පස්සෙ ආපු චාරවත් කාම ගති ලක්ෂණය තමයි ඉවත් වුනේ. එතකොට ගති ගුණවලින් තවත් පල්ලෙහාට බහිනකොට කාමය හෙවත් ආර්ය ධර්මය දූෂණය කරපු ආහාරය දූ + අරි + අන් ඉවත් වෙලා ගිහින් දූරියන්වල පිහිටියා. එතකොට යම්කිසි ශාන්ත භාවයක ඉඳල ඒකෙන් කටුක බව කරා යෑමක් තමයි සිද්ධ වුනේ. ඊට පස්සෙ තවත් පහළට යන කොට ද්වේශය නැගෙන්න ගත්තම, අර මුලින් තිබ්බ සාපේක්ෂ හොඳ ගති ලක්ෂණයත් ඉවත් වෙලා ගියා. කටුක බවට පත්වෙනවත් එක්කම තමයි ඒකත් පිටවෙලා ගියේ. කාමයට ආර්ය ධර්මය කටු වගෙයි. ඒ නිසා දූරියන්වල පිට කටු තියෙනවා. හැබැයි ඇතුළෙ මස රසයි. ඒ තමයි කාම රසයට අනුකූල රස.

ඒ වගේම ඉස්සර කාම ලෝකයේ ලෞකිකව යහපත් විදියට කාම රැගුම් තිබුණා. ඒ කියන්නෙ කාම ලෝකයේ තියෙන රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ පිළිබඳව ප්‍රබෝධමත් රැගුම්. නමුත් පසු කාලෙක මිනිස්සු කාමයට පොර කන්න ගිහින් ද්වේශය වැඩි වෙන කොට ඒ ශක්තිය පිටවෙලා ගියා. ගෙදර හිටපු භාර්යාව වුනත් යම්කිසි විදියකට ලයාන්විතව හිටපු ස්වභාවය නැති වෙලා ගිහින්, කෙනෙක් දක්කමත් ගස්සල යන්න පටන් ගත්තා. ඊළඟට රොස් බව තමයි පෙන්නුම් කළේ. පවුලේ, සමාජයේ අසමගියට ඒක හේතු වුණා. එතකොට සෝක, සංවේග, තරහ, වික්ෂිප්ත බව ආදී ගති ස්වභාවයන් ඇති වෙන්න පටන් ගත්තා. මේ විදියට කාම ලෝකයේ තිබ්බ කාම රැගුම් ඉවත්වීම නිසා ඒකට අදාල ශක්තිය පිටවෙලා ගිහින් කාමරංකවල පිහිටියා.

ඒ වගේම ඉස්සර හිටපු මිනිස්සුන්ට බල 100 ක් තිබුණා. බල 100 ක් කියන්නෙ උපරිම බලයක් කියන අදහස. නමුත් පස්සෙ කාලෙක ඒ තිබ්බ ශක්තිය පිරිහිලා ගියා. එතකොට ඒ සිය බලය පිටවෙලා ගිහින් තමයි සියඹලා හැදුනෙ. ඒ වගේම බල තියෙන කාලෙ මිනිස්සු සිය අඹුට ආලය කළා. නමුත් බලය පිරිහෙන කොට ඒකත් නැති වෙලා ගියා. සිය අඹුට ආලය කිරීමේ ශක්තිය පිට වෙලා ගිහින් ඒ විදියටත් සියඹලා හැදුණා. අදත් කාය බලය වර්ධනයට සියඹලා හොඳ ඔසුවක්.

ඒ වගේම පෙර හිටපු මිනිස්සුන්ට හොඳට වෙර වීරිය තිබුණා. යම්කිසි කටයුත්තක් කරන්න ගියාම ඒක සාර්ථක කරගන්න ඒ වෙර වීරිය බොහොම ප්‍රයෝජනවත් වුණා. නමුත් කාලයක් යන කොට මිනිස්සු වෙර වීරිය අතහැරල දැම්මා. ඒ විදියට වෙර ගතිය ඉවත ලූ නිසා ඒකට අදාල ශක්තිය ගිහින් වෙරළුවල පිහිටියා. ඒ වගේම වෙර කියන්නෙ වෙර වීරියට විතරක් නෙවෙයි, වෛරයටත් වෙර කියනවා. ඉස්සර හිටපු මිනිස්සු ළඟ වෛර නොකරන හෙවත් වෙර ඉවතලූ ගති ලක්ෂණයක් තිබුණා. නමුත් පසු කාලෙක වෙර වීරිය අතහැරල දැම්මම, සම්පත් අඩු වෙලා ගිහින් එකිනෙකාට වෛර කරන්න පටන් ගත්තා. ඒ විදියට වෛරය හෙවත් වෙර ඉවත ලූ ගතිය පිටවෙලා ගිහින් ඒ ක්‍රමයටත් වෙරළු ඇති වුණා.

ඒ වගේම ඉස්සර සමාජයේ යමක් උගන්වන්න ගුරු වෙච්ච අය හිටියා. ඒ කියන්නෙ මේ අද වගේ පොත පත හදාරල කට පාඩම් කරල කරන ඉගැන්වීම් නෙවෙයි, තමන්ගෙ තිබ්බ අධ්‍යාත්මික ශක්තියකින් යමක් උගන්වන්න, ගුරුහරුකම් දෙන්න පුළුවන් අය. එතකොට සමාජයේ මිනිස්සුත් ඒ අය ගුරුකමට ගත්තා. නමුත් කාලයක් යද්දි ඒ අය ගුරුකමට යොදා ගන්නෙ නැතිව හිටියා. ගුරු වූ අය ඇහැල දැම්මා. ඒ කියන්නෙ ඉවත් කළා. ඒ අය දෙන ගුරුහරුකම් පිළිගන්නෙ නැතිව හිටියා. ඒ ශක්තිය පිට වෙලා ගිහින් උ + ගුරු + ඇස්ස - උගුරැස්ස විදියට තැන්පත් වුණා.

ඊළඟට ඉස්සර සමාජයේ මිනිස්සු, ලෝකයේ තියෙන දේවල් අවියක් කරගත්තා. ඒ කියන්නෙ කපන්න කොටන්න නෙවෙයි, ලෝකයේ තියෙන දේවල් යහපත් විදියට අභිවෘද්ධිය වෙනුවෙන් එල ප්‍රයෝජනයට යොදා ගත්තා. හරියට අපි අද කාලෙ යහපත් දේවල් ලියන්න පෑන අවියක් ☞

කරගන්නව වගෙයි. නමුත් කාලයක් යද්දි ඒවා ප්‍රයෝජනයට නොගෙන නිකං අතහැරල දාන තත්ත්වයට පත් වුණා. ඒ විදියට ලෝකය අවියක් කරගත්තු ලක්‍ෂණය පිටවෙලා ගිහින් ඒකට අදාල ශක්තිය ලෝ + අවි - ලොවි කියල තැන්පත් වුණා. එතකොට උගුරැස්ස, ලොවි කියන්නෙ ළඟ ළඟ තියෙන පළතුරු දෙකක්. සමාන ගති ලක්‍ෂණ දෙකක් ගිලිහිලා ගිහින් තමයි ඒව හැදුනෙ.

ඒ වගේම මුල් කාලෙ හිටපු මිනිස්සු ළඟ ගුණයෙන් මෝරන ගති ලක්‍ෂණයක් තිබුණා. දවසින් දවස පියවරක් හරි ගුණයෙන් මෝරන ස්වභාවයක් තිබුණා. ඒ විදියට හිත්වල තිබිච්ච යහපත් ගති ගුණ තමයි මෝරන්නෙ. නමුත් පසු කාලෙක ගුණයෙන් මෝරන්නෙ නැතිව ගුණ හීන වෙන්න පටන් ගත්තා. එතකොට මෝරන ගති ලක්‍ෂණයට අදාල ශක්තිය පිටවෙලා ගිහින් මොර කියන ශාකයේ තැන්පත් වුණා. මෝරන ගති ලක්‍ෂණය ඇට වෙන කොට ඇට මොර හැදුණා. මෝරන ගති ලක්‍ෂණයේ තිබිච්ච හොඳ සාරවත් මස් කොටස ඉවත් වුනාම මස් මොර හැදුණා.

ඒ වගේම මේ යහපත් විදියට මෝරන ගති ලක්‍ෂණය වසා දමන්න කටයුතු කළාම ඒකෙ විපාකය විදියට වස් මෝර කියල රෝගයක් හැදුණා. ඒක තමයි අද මීමැස්මොරය කියන්නෙ. එතකොට **මස් මොර ගහේ පස් පංගුව (කොළ, දළු, මල් හෝ ගෙඩි, මුල්, පොතු) අරගෙන තම්බල උදේ දවල් හවස, දවසට තුන් වරක් පත භාගය බැගින් බොන්න දුන්නම මීමැස් මොරය රෝගයට ඔසුවක් වෙනවා.** ඒකෙ කිසි විසක් නෑ. මාසයක් විතර අරගෙන ප්‍රතිඵල පරීක්‍ෂා කරල බලන්න පුළුවන්. වැඩිපුර ගත්ත කියල ගැටළුවකුත් නෑ.

ඒ වගේම ඉස්සර සමාජයේ හිටපු මිනිස්සු ළඟ ආහාරය දමන ගතියක් තිබුණා. ඒ කියන්නෙ මේ මේ කොටස අහවල් අහවල් අයට කියල වෙන් කරල දන් දෙන ගතියක්. අන් කියන්නෙ ආහාරය. ඒ විදියට අන් කියන ආහාරය දමන නිසා තමයි දන් (ද + අන්) කියන්නෙ. වෙනත් විදියකින් කියනව නම් ගත්තු ණය ආපසු දානවා, නැවත ගෙවනවා (දා + ණය - දානය). නමුත් පසු කාලයක ඒ විදියට ආහාරය දෙන ගතිය හෙවත් දන් දෙන ගති ලක්‍ෂණය නැති වෙලා ගිහින් ඒකෙන් තමයි දං කියන පළතුර හැදුනෙ. ව්‍යවහාරයෙන් තමයි දන් - දං වුනේ. එතකොට මාදං, ඇට දං කියල වර්ග දෙකක් තියෙනවා. මහා උත්තමයන්ට දීපු මහ දානෙත් නොදී හිටියම ඒකෙන් තමයි මාදං ඇති වුනේ. ඒ නිසා බේත්වලට බොහෝ කොටම මාදං ගන්නවා. ඒ වගේම දුගී මගී යාචක ආදී පොඩි අයට දන් දෙන ගතියත් ඉවත් වුනාම ඒ ශක්තිය ඇට දංවල පිහිටියා. මේ ඇට දං මල්වල ගෝරෝචන කියන ඖෂධ ශක්තිය තියෙනවා. දං මල් දෙගුණයක ගෝරෝචන ශක්තිය එකක් පිහිටනවා. එතකොට ගෝරෝචන එකක් වෙනුවට දං මල් දෙකක් ගන්න පුළුවන්. ඒ නිසා **මේ දං මල් වේලල කොටල තේ වගේ හදල බොන්න දුන්නම ළමයින්ගෙ කටහඬ ශක්තිය නැගෙන්න බේතක් වශයෙන් ප්‍රත්‍ය වෙනවා.**

ඊළඟට ඉස්සර මිනිස්සු ගමනක් යන කොට යම්කිසි විදියකින් ආධාරයක් උපකාරයක් අවශ්‍ය උදවියට අත්වාරුවක් අල්ලල, විශේෂයෙන් පඩි පෙලක් වුනත් බහින කොට හෙමින් හෙමින් බහින්න කියල උදව් කරන සිරිතක් තිබුණා. නමුත් පසු කාලෙක ඒ වගේ නැති බැරි කෙනෙකුට අත දෙන ගති ලක්‍ෂණය නැති වෙලා ගිහින් තමන්ගෙ වැඩේ විතරක් කරගෙන යන තත්ත්වයට පත් වුණා. එතකොට අර හිමින් බහින්න කියන ගති ලක්‍ෂණය ගිලිහිලා ගිහින් ඒකට හිමි



ශක්තියෙන් තමයි හිමින් බටු - හිඹුටු ඇති වුනේ.

ඒ වගේම කෙනෙක් දුකකට කරදරයකට පත් වෙලා යම්කිසි විදියකින් සැප පරිහරණයක් ඉල්ලන කොට, තමන්ට පුළුවන් විදියට ඒ සැපත ලබාදෙන සිරිතක් ඉස්සර මිනිස්සු ළඟ තිබුණා. ඒක බොහොම මිහිරියි. නමුත් පසු කාලෙක මිනිස්සුන්ගෙ හිත් දූෂ්‍ය වෙන කොට ඒ විදියට සැපත ඉල්ලුවම නොදී හිටියා. එතකොට කෙනෙක්ගෙ දුකේදි සැපත ඉල්ලා හිටින කොට ඒක ලබාදීමේ ගති ලක්‍ෂණය ගිලිහිලා ගිහින් ඒකට හිමි ප්‍රණීත සිසිල් ශක්තිය සැපත + ඉල්ලා - සැපතිල්ලා විදියට තැන්පත් වුණා. ඒ නිසා අදත් සැපතිල්ලවල බොහොම සිසිල් බවක්, මිහිරි බවක් තියෙනවා.

ඒ වගේම ඉස්සර සමාජයේ මිනිස්සු ලාවට තිබිච්ච පොඩි පොඩි දේවල් පවා අහුල ගත්තා. ඒ කියන්නෙ හොඳ නම්, සුළු ගුණයක් වුනත් අතහැරියෙ නෑ. ලාවට තියෙන පුංචි ගුණයත් වැදගත් කියල අහුල ගත්තා. ඒකත් අහුල ගෙන ක්‍රියාවට නැංවුවා. ඒකත් සමාජයේ ජීවත් වෙන්න අවශ්‍ය මෘදු ආහාරයක් (අවුළු) වුණා. නමුත් පසු කාලෙක ඒ වගේ ලාවට තිබිච්ච දේවල් වැඩක් නෑ කියල අහුල ගන්නෙ නැතිව හිටියා, ගණන් ගන්නෙ නැතිව හිටියා. ලොකු දේවල් විතරක් අහුල ගන්න පුරුදු වුණා. හරියට ඉස්සර කුඩා සික පද, අනු සික පද ගණන් ගත්තත් අද ගණන් ගන්නෙ නැතුව ඉන්නව වගේ. දැන් මේ විදියට ලා දේවල් හෙවත් ලා අවුළු අහුල ගන්න ගති ලක්‍ෂණය ඉවත් වෙලා ගිහින් ලා + අවුළු - ලාවුළු විදියට පිහිටියා. අදත් ඒ ශක්තිය ලාවුළුවල තියෙනවා. ශරීරයට අවශ්‍ය දුලභ විටමින් වර්ග, ප්‍රෝටීන් වර්ග බොහොමයක් ඒකෙ තියෙනවා. නමුත් හුඟක් අය මේ ලාවුළු කන්න කැමති නෑ, ප්‍රිය නෑ. මොකද මිනිස්සු අතර ඉතාම සුළු සුළු ලා ගති ගුණ ගන්න ගති ලක්‍ෂණය නැති වෙලා ගියාම, ඒකට අදාල ශක්තියෙන් හැදිච්ච ලාවුළුවලටත් බහුතරයක් මිනිස්සු කැමති නෑ. ඒ ස්වභාවයම අදත් තියෙනවා.

ඒ වගේම ඉස්සර මිනිස්සු ළඟ චී කියන ගති ලක්‍ෂණයක් තිබුණා. ඒ කියන්නෙ නරක දේවල් දැකල ලැජ්ජා සහගත නිසා චී කියනවා. නමුත් පසු කාලෙක චී කියන නම්‍යතාවය ඉවත් වෙලා ගිහින් මිනිස්සු ලැජ්ජා නැති තත්ත්වයට පත් වුණා. එතකොට අර හොඳ ගති ලක්‍ෂණය ගිලිහිලා ගිහින් චීන කියන ගහේ පිහිටියා. කැලෑ ගහක් විදියට හැදෙන මේ චීන ගහේ මල් හරි සුවඳයි. මේ චීන මල්වල අදත් කස්තුරිවල තියෙන ගුණ පිහිටල තියෙනවා. ඒ නිසා **චීන මල් වේලල ගත්තම කස්තුරිවලට හොඳ ආදේශකයක් වෙනවා.** මේව විසාල ගස් වර්ගයක් නෙවෙයි. පුවක් කඳක් තරම් තමයි උපරිම වශයෙන් විසාල වෙන්නෙ. ඒ වගේම ඇඟිලි තරම් මහත පුංචි ගස් තියෙනවා. ඒ වගේ ගහක කැල්ලක් උඩින් යටින් කපල පැත්තට හේත්තු කරල තිව්වම කිරි / මැලියම් වැක්කෙරෙනවා. **වෙඩි වැදීම් ආදියෙන් ඇති වූ දරුණු පිලිස්සීම් තුවාලවලට ඒකෙන් වැක්කෙරෙන ඒ මැලියම් ගෑවම අර විස ගතිය ඉවත් වෙලා තුවාල සනීප වෙනවා.**

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

**සටහන**
**නීතිඥ චන්දන සිරිවර්ධන**

**අභයරතනාලංකාරය - 28**

# අමනුස්ස උපද්‍රවවලින් වැළකීමට අනුගමනය කළ යුතු ධර්මානුකූල ක්‍රමය වැඩිදුරටත්...



*(පසුගිය කලාපයෙන් - මළගිය ඥාති හිතමිත්‍රාදීන්ගෙන් ඇති වූ කරදර උපද්‍රව ධර්මානුකූලව වැළැක් වූ හැටි)*

**- වහරක අභයරතනාලංකාර හිමි**

මළගිය ඥාති හිතමිත්‍රාදීන්ගෙන් ඇති වන කරදර උපද්‍රව, පෙරේත තටුවක් සමග සාංඝික දානයක් දීල පුණ්‍යානුමෝදනාවක් සිද්ධ කිරීමෙන් ධර්මානුකූලව වළක්ව ගන්න හැටි පසුගිය කලාපයෙන් විග්‍රහ කළා. දැන් මේ වෙන කොටත් ඒ ක්‍රමය අනුගමනය කිරීමෙන් බොහෝ පිංවත් පිරිස් තමන්ට තියෙන කරදර උපද්‍රව දුරු කර ගන්න උනන්දු වෙන බව දැනගන්න ලැබිල තියෙනවා. ඒ වගේම මේ විදියට පෙරේත තටුවක් එක්ක සාංඝික දානයක් දෙන කොට සමහර අවස්ථාවලදි යම් යම් ප්‍රායෝගික ගැටළු පැන නගින අවස්ථා උදාවෙන්න පුළුවන්. ඒ වගේ වෙලාවට නිතර නිතර මේ පිළිබඳව කරුණු විමසන්න ගියාමත් අපහසු නිසා, ඒ විදියට ප්‍රායෝගිකව පැන නගින ගැටළුවලට විසඳුම් විදියට කෙරෙන වැඩිදුර විග්‍රහයක් තමයි මේ ඉදිරිපත් කරන්නෙ.

දැන් මේ පෙරේත තටුව හදන කොටත් ගොක්කොළ ආදියෙන් සැරසිල්ලක් විදියට හදන්න ඕනද කියන ගැටළුවක් කෙනෙකුට මතු වෙන්න පුළුවන්. නමුත් එහෙම අවශ්‍යතාවයක් නෑ. ඒ ආහාර පාන ටික තියන්න පුළුවන් ලෑලි කෑල්ලක්, වට්ටියක්, කොළ පොතක් වගේ මොනව හරි ගැලපෙන ක්‍රමයක් සකස් කර ගත්තම ප්‍රමාණවත්. ඒ තටුව දණ හිස ගාවට විතර උස තියෙන බංකුවක් හෝ පුටුවක් වගේ ආසනයක තියන්න පුළුවන්. දණ හිස මට්ටම කිව්වම ඒ මිම් ඒ විදියටම තියෙන්න ඕනත් නෑ. දළ වශයෙන් තමයි ඒ උස කිව්වෙ.

ඊළඟට මේ වගේ පෙරේත තටුවක් තියන කොට ඒ මළගිය ඥාති හිත මිත්‍රාදීන් ඇතුළු අමනුස්ස කොටස් උපරිමයෙන්ම සතුටට පත් වෙලා, ඒ ආහාර පාන භුක්ති විඳල, අනුමෝදනාවට සම්බන්ධ වෙලා සුගතිගාමී වෙන්න නම්, ඒ තටුවත් හැකි උපරිමයෙන්ම තියන්න ඕන කියන කාරණය පෙන්වා දුන්නා. නමුත් සමහරු ඒ කාරණාව වැරදියට තේරුම් අරගෙන, ඒ අයට උපරිමයෙන් භුක්ති විඳල සන්තෝස වෙන්න කියල, මත්පැන් දුම්වැටි වගේ නොගැලපෙන දේවල් තියන්න පෙළඹෙන්න පුළුවන්. නමුත් මේ මත්පැන් දුම්වැටි ආදිය ගත්තම, මේ ලෝකෙදි වගේම ඒ ලෝකෙදිත් ඒ අමනුස්ස කොටස් ඒවට ඇබ්බැහි වෙලා මත් වුනාම පුණ්‍යානුමෝදනාවට සම්බන්ධ වෙන්න තරම් මානසිකත්වයක් නැතිව යනවා. ලෞකික වශයෙන් ඒ වගේ දේවල්වලට ඇබ්බැහි වුනොත් එතැනින් ඒ අය ගලව ගන්න හරි අමාරුයි. එතකොට ඒ පින් අරගෙන ගැලවෙන්න තියෙන අවස්ථාව ඒ අයට නැති වෙනවා. මේ නිසා කිසිසේත්ම ඒ වගේ නොගැලපෙන දේවල් පෙරේත තටුවට නොතබන්න වගබලා ගන්න ඕන.

දැන් කෙනෙකුට ප්‍රශ්නයක් එන්න පුළුවන්, එතකොට බුලත්විට කොටල ඒක පැත්තකින් දුම් කොළ කෑල්ලකුත් තියන්න කිව්වම ඒකත් අර වගේම නරක දෙයක් නේද කියල. මෙතනදි බත බුලතින් සංග්‍රහ කිරීමේ ලක්ෂණය අපේ පැරණිම සිරිතක් වගේම ආහාර අනුභවයෙන් පස්සෙ බුලත් විටක් සැපීමත් ආදියේ පටන්ම පැවතෙන සිරිතක්. **ආහාර ගත්තට පස්සෙ එන අපත්‍යතාවයන්, මුඛ දුර්ගන්ධයන්, මුඛ රෝග ආදිය දුරු කරන ඖෂධීය ශක්තියක් මේ බුලත් විටේ තියෙනවා.** ඒ නිසා බුද්ධ පූජාවට වගේම දාන මාන ආදියටත් තියන දැහැත් විට නරක දෙයක් නෙවෙයි. එතකොට බුද්ධ පූජාවට තිබ්බෙ නැතත් දුම් කොළ කියන එකත් බුලත් විටට අවශ්‍ය ඖෂධ ශක්තියක් තියෙන දෙයක්. බුලත් විට ගන්න අය ඒක අවශ්‍ය ප්‍රමාණයට ගන්න දන්නවා. නමුත් සමහරු දුම්කොළවලට කැමති නෑ. ඒ වගේම සමහරුන්ට බුලත් විටට දුම් කොළ නැතිවම බෑ. කොහොමත් ඒක විටේ අංගයක්. මේ නිසා කැමති අමනුස්ස කොටස්වලට විතරක් අවශ්‍ය නම් දුම් කොළ ගන්න පුළුවන් වෙන්න තමයි අර විදියට කොටපු බුලත් විටට මිශ්‍ර නොකර දුම් කොළ කෑල්ලක් වෙනම පැත්තකින් තියන්නෙ.

ඒ වගේම තවත් සමහර අය තටුව උපරිමයෙන් තියන්න ඕනෙයි කියල සබන්, රැවුල බාන්න රේසර්, සුවඳ විලවුන්, සෙරෙප්පු ආදියත් තියන්න පෙළඹෙන්න පුළුවන්. නමුත් මේ අමනුස්ස කොටස් මේ අවස්ථාවෙදි ඒ වගේ දේවල් බලාපොරොත්තු වෙන්නෙ නෑ. විශේෂයෙන්ම කෑම බීම, ඇඳුම් සමග මූණ පොඩ්ඩක් හෝදගන්න වතුර ටිකක් විතරයි ඒ අය බලාපොරොත්තු වෙන්නෙ. ඉන් එහාට ලස්සන වෙන්න, හැඩ වැඩ වෙන්න තරම් අවශ්‍යතාවයක් ඒ අයට නෑ. නමුත් ඒ අනෙකුත් සියලු සැප සම්පත් දොළොස් පිරිකර ඇතුලු දාන පූජාවට සම්බන්ධ වෙලා අනුමෝදන් වෙන කොට ඒ අයට ලැබෙනවා. ඒ නිසා බඩගින්න නිවාගෙන චිත්තප්‍රසාදයක් ඇති වෙලා පුණ්‍යානුමෝදනාවට සම්බන්ධ වෙන්න රුකුලක් දීම විතරයි මේ අවස්ථාවෙදි පෙරේත තටුව දීමෙන් බලාපොරොත්තු වෙන්නෙ.

ඒ වගේම මේ පළතුරු, කැවිලි වර්ග ආදිය තියන කොට ඒවායින් කොච්චර ප්‍රමාණය බැගින් තියන්න ඕනද කියන ගැටළුව මතු වෙන්න පුළුවන්. මෙතනදි එක්කෙනෙකුට විතරක් කියල අධිෂ්ඨාන කරන්නෙ නැතිව, හොඳ හැඩිදැඩි මනුස්සයෙකුට කෑමට සෑහෙන ප්‍රමාණයක් තිව්වම ඇති. මොකද අමනුස්ස කොටස් කොච්චර හිටියත් තටුවට තියන ප්‍රමාණයෙන් ඒ හැම දෙනාටම අවශ්‍ය වෙන්න මැවිල එනවා. එහෙම එන බව හිතන්න ඕන. ඒ නිසා සාමාන්‍යයෙන් පළතුරු වගේ දේවල් තියන කොට අඹ ගෙඩියක්, ගස්ලබු පළුවක්, කෙහෙල් ගෙඩි 2 - 3 ක්, අන්නාසි කෑලි 2 - 3 ක් ආදී වශයෙන් තිව්වම ප්‍රමාණවත්. කැවිලි වුනත් එකකින් දෙක තුන බැගින් ගැලපෙන ☞

ප්‍රමාණයට ගන්න පුළුවන්. පොඩි ඒව නම් ටිකක් වැඩිපුර තිබ්බට කමක් නෑ. ලොකු ඒව නම් දෙකක් තුනක් තිබ්බම ඇති. කිරි පැණි වගේ දෙයක් තියනව නම් ඒකත් සාමාන්‍යයෙන් මනුස්සයෙක් කන්න ගන්න ප්‍රමාණයට තියන්න පුළුවන්. ඒ වගේම මේ පළතුරු තියන කොටත් සාමාන්‍යයෙන් මනුස්සයෙකුට කන්න පුළුවන් වෙන විදියට කපල තියන්න ඕන. කෙසෙල් නම් ඇවරි පිටින් තියන්නෙ නෑ, කෙසෙල් ගෙඩිවල අග මුල කපල තියන්න ඕන.

ඒ වගේම එළවළු, ව්‍යංජන ආදිය තටුවට බෙදන කොටත් විශේෂයෙන් හොඳි ඉස්ම තියෙන ව්‍යංජන, කෙලින්ම බත් පතට බෙදන්නෙ නැතිව වෙන වෙනම පුංචි පොල් කටු, කෝප්ප හෝ සිලි කවරවලට එහෙමත් නැත්නම් කෙහෙල් කොළ තවල අරගෙන ගොටු හදල ඒ වගේ සුදුසු දේකට දාල විවෘත කරල බත්වල ඒවායේ පිට ආවරණ ගැවෙන විදියට ළඟින්ම තියන්න පුළුවන් නම් වඩාත් හොඳයි. මොකද සමහර අවස්ථාවල මේ දානෙ අනුභව කරන්නෙ නැති දේව කොටස් ඇවිත්, ඒ දාන තටුවෙන් දානෙ අරගෙන අනිත් නැති බැරි අමනුස්ස කොටස්වලට බෙදල දෙනවා. එතකොට හොඳි වගේ දේවල් කවලම් වුනොත් ඔක්කොම එකට එන්න බලනව මිසක් වෙනම බෙදන්න බැරිව යනවා. නමුත් හොඳි ඉස්ම බතට උරාගන්නෙ නැති බැදපු, හිඳවපු ව්‍යංජන නම් බත් එකට කෙලින්ම බෙදුවට කමක් නෑ.

ඒ වගේම මේ පෙරේත තටුවට මොකක් හරි එක හැන්දක් තියන්න පුළුවන් නම් ඒකත් හොඳයි. මොකද අර කලින් කියපු වගේ මේ තියන හැම භෞතික දේකින්ම ඒ අයට මැවිල යන ක්‍රමයක් තියෙනවා. එතකොට අර වගේ දේවතාවො ඇවිත් බෙදල දෙන අවස්ථා තියෙන නිසා, හැන්දක් තිබුනෙ නැත්නම් දේවතාවො ඒකත් මවල බෙදල දෙනවා. ඒ නිසා ඒ අවශ්‍යතාවයත් ඉෂ්ට වෙන්න හැන්දක් තිබ්බොත් තවත් හොඳයි. එතනදි විශේෂයෙන් වෘක්ෂ දේවතාවො වගේ කොටස් අර අමනුස්ස කොටස්වලට දානෙ බෙදාගන්න උදව් දීල ඒ අයත් පිනක් කරගන්නවා. සමහර වෙලාවට ඒ භූමියේ හිටපු කෙනෙක් දේවතාවෙක් වෙලා ඉන්නව නම් එයාගෙ පෙර නම කිව්වොත් එයත් ඇවිත් එතනට සම්බන්ධ වෙලා අනිත් අයට බෙදල දෙනවා. ඒ වගේ විවිධ සම්බන්ධකම් තියෙන දේවතා කොටස් එන්න පුළුවන්.

ඒ වගේම මේ විදියට පෙරේත තටුව තිබ්බම යම් යම් සත්තු ඇවිත් ඒක කන්න උත්සාහ කළොත් ඒ අය පන්නන්න යන්න හොඳ නෑ. මොකද **අමනුස්ස ආදී කොටස්, අපිට මේ පේන තිරිසන් සත්තු හරහා සම්බන්ධ වෙලත් පෙරේත තටුවට එන්න පුළුවන්. එහෙම ඇවිත් ඒ සත්තු හරහා ඒක අනුභව කරන්න පුළුවන්.**

ඒ වගේම මේ පෙරේත තටුව ඒ මියගිය ඥාති අමනුස්ස කොටස් ආදියට කැප කරන කොටත් ඒ වාක්‍ය කියල කැප කරන්න ඕන ඒ පරපුරේ ලේ උරුමකරුවෙක් විසින්මයි. ඒ විදියට කැප කරන කොට පෙරේත තටුවට අත තියල තමයි ඒක කියන්න ඕන. මොකද ධර්මයේ පෙන්වා තියෙන, සියතින්ම අරගෙන දන්දීම කියන කාරණය මෙතනදිත් වැදගත් වෙනවා. ඒ අයට චිත්තප්‍රසාදය ඇති වෙන්නයි, හිමිකම ලබන්නයි ඒක විශේෂයෙන් වැදගත් වෙනවා. එතනදිත් අත් දෙකම තටුවට තියල කැප කරන්න පුළුවන් නම් තවත් හොඳයි. මොකද දෑතින්ම දෙන කොට ඒ අමනුස්සයින්ට වුනත් චිත්තප්‍රසාදයක්, ප්‍රිය මනාපයක් ඇති වෙනවා. හිඟන්නෙකුට වුනත් බත් එකක් දෙන කොට, තනි අතින් නිකං ආ කියල දෙනවට වඩා අත් දෙකින්ම දුන්නම ඒ



මනුස්සයගෙ චිත්තප්‍රසාදයත් වැඩියි. ඒ වගේම දෙන කෙනාගෙ මාන්නය නැති වෙලා නිහතමානී බවක් ඇති වෙන්නත් ඒක වැදගත්. ඒ නිසා මෙතනදිත් අත් දෙකම තියල තටුව කැප කරන්න පුළුවන් නම් තවත් හොඳයි. ඒ වගේම මේ පෙරේත තටුව තියන්නෙ ගෙදර ඉන්න රෝගියෙක් මුල් කරගෙන නම්, ඒ පුද්ගලයගෙ නමත් සඳහන් කරල, ශරීරයට බැඳිල අමනුස්ස ආදී කොටස් ඉන්නව නම් ඒ අයත් ඒකට සම්බන්ධ වෙන්න කියල කියන්න ඕන. මළගිය ඥාතීන් විශේෂයෙන් ඉන්නව නම් ඒ අයගෙ නම් සඳහන් කරන්නත් පුළුවන්. පෙරේත තටුවට කැප කරන පොදු වාක්‍යය පසුගිය කලාපයෙන් විස්තර කළත් ඒ කාරණය තවත් වැඩිදුර විග්‍රහයක් විදියට තමයි මේ ඉදිරිපත් කරන්නෙ. හැබැයි මේ කියන වාක්‍ය කණ්ඩ මේ විදියට ඒ වචනවලින්ම කියන්න ඕන නෑ. ගැලපෙන විදියට ඒ ඒ අවස්ථාවන්ට අනුකූලව වෙනස් කරල කියන්න පුළුවන්. ඒ නිසා පොදු ක්‍රමයක් තමයි මේ ඉදිරිපත් කරන්නෙ.

මේ භූමිය ඇතුළු වාසස්ථාන ඉදිකිරීමට පෙර, මේ භූමියේ චංචල නිශ්චල සියලු දේට උරුමකම්, හිමිකම් කී සැම සියලු දෙනාම සිහි කරමින්.... (විශේෂයෙන් සඳහන් කළ යුතු මියගිය ඥාතීන් ඉන්නව නම් ඒ අයගෙ නම් සඳහන් කරන්න).... යන අයගේ දූ දරු මුනුපුරු මිනිපිරියන් මෙන්ම, මෙම භූමියට කරන ලද අණවිණ කොඩිවින හදි හූනියම් ආදියකට හිරවී බැඳී සිටින අමනුස්ස ආදීන් ඇත්නම් ඒ සියල්ලෝද නිදහස් වෙත්වා. තවද.... යන අයගේ රෝගී තත්ත්වයන් ඇති කිරීමට මුල් වූ යම්කිසි බන්ධනයකට ලක් වෙච්ච අමනුස්ස ආදී කොටස් වේ නම් ඒ අයත් ඒ බන්ධනවලින් නිදහස් වෙලා මේ භෝජන අරගෙන පෝෂණය වෙලා, සාංඝික දානයට සහභාගි වෙලා පැන් වඩා පිරිනමන පින් අරගෙන සුගතිගාමී වෙලා, මේ... යන අයට ඇත්තා වූ කායික මානසික රෝගීතාවයන් දුරු වෙත්වා. තවද යමෙක් මේ භෝජන ආහාර පාන ආදිය බලාපොරොත්තුවෙන් ඉන්නව නම් ඒ හැම දෙනාමත් මේ ආහාර පාන භුක්ති විඳිත්වා. මේ ආහාර පාන, රෙදිපිළි, ජලය ආදිය ඒ සියලු දෙනාටම කැපයි කැපයි කැපයි. අද දවසේ.... (පූජනීය ස්ථානයේ නම සඳහන් කරන්න) විහාරස්ථානයේ මේ සැම සියලු දෙනාම සිහි කරල දොළොස් පිරිකර සමග සාංඝික දානයක් දීල පැන් වඩා පින් අනුමෝදනාවක් සිද්ධ කරනවා. ඒ පින් ලබා මේ සියල්ලෝම සුඛිත මුදිත වෙත්වා.

ඒ වගේම මේ පෙරේත තටුවයි, සාංඝික දානයයි දුන්නම ඒවායේ ඉතිරි වන බත්, ව්‍යංජන ආදිය කෑමට ගන්න සුදුසුද කියල කෙනෙකුට ප්‍රශ්නයක් එන්න පුළුවන්. මොකද මේ වගේ අවස්ථාවකදි හරියට අවශ්‍ය ප්‍රමාණයටම උයන්නෙ නෑ. ටිකක් වැඩිපුර උයන එක සාමාන්‍ය සිරිතක්. එතකොට **මේ තටුවත් දීල, සාංඝික දානයත් දීල පුණ්‍යානුමෝදනාව සම්පූර්ණයෙන්ම අවසන් වෙන කල් අර ඉතිරි වෙච්ච අවුල්පත් ආදිය පරිභෝජනය කරන්න සුදුසු නෑ.** ඒ සියල්ලම ඉවර වුනාට පස්සෙ ඒ භාජනවල ඉතිරි වෙච්ච දෙයක් තියේ නම් ඒව ආහාරයට ගත්තට ගැටළුවක් නෑ. ඒ වගේම මෙතනදි සාංඝික දානය ගත්තොත් සාංඝික කරන එකයි, සාංඝිකව උයන එකයි කාරණා දෙකක්. සාංඝික කළාම ඒ සාංඝික කරපු කොටස සංඝයාට කැප වෙලා ඉවරයි, ඒක අනික් අයට සංඝයා වළඳන තුරු කැප නෑ. නමුත් සාංඝිකව උයපු ටිකේ ඉතිරිය ගන්න පුළුවන්. ඒත් අග්‍ර කොටසින් බුද්ධ පූජාව ප්‍රමුඛ දානය දීල ඉවර වෙන කල් අර ඉතිරි ටික පරිභෝග කිරීම සුදුසු නෑ. වඩා ගැලපෙන ක්‍රමය තමයි ඒ දාන මාන කටයුතු ඉවර වුනාට පස්සෙ ඒ ඉතිරියක් වේ නම් ඒවා පරිභෝජනය කිරීම.

ඒ වගේම මේ පෙරේත තටුවයි, සාංඝික දානයයි දෙකම එකම දවසෙ දෙන්නත් ඕන. ඉස්සෙල්ලම පෙරේත තටුව වෙනම දීල ඊළඟට බුද්ධ පූජාව ප්‍රමුඛ සාංඝික දානෙ දීල අනුමෝදන් කරන්න ඕන. එතකොට අමනුස්ස කොටස් කාල බීල ක්ෂණයකින් ඒ අනුමෝදනාවට සම්බන්ධ වෙනවා. ඒකට දවස් ගණනක් බලා ඉන්නෙ නෑ. ඒ නිසා පාන්දර හරි උදේ වරුවෙ හරි පෙරේත තටුව තියල දවල් 12 න් ඉස්සෙල්ල දානෙ සාංඝික කරල අනුමෝදනාව පටන් ගන්න ඕන.

ඒ වගේම මේ පෙරේත තටුව, තමන් ඉන්න භූමියට සම්බන්ධ කරල තමයි තියන්නෙ. ප්‍රධාන වශයෙන්ම තමන් පදිංචි ස්ථාන, ඒ වගේම වවා හදාගෙන යම් යම් ව්‍යාපාර කරන ස්ථාන, සමහර විට කෙනෙක් කුලියට ඉන්න තැනක් නම් ඒත් කමක් නෑ, තමන්ගෙ ඥාති පරපුරත් සමග ඒ ස්ථානයට පෙර ඉඳන් සම්බන්ධකම් හිමිකම් තියෙන අමනුස්ස කොටස් සම්බන්ධ කරල, ඒ කාරණයත් කියල තටුව දෙන්න පුළුවන්. ඒ වගේම මෙතනදි භූමියට අරක් ගත්තු අමනුස්ස කොටස්වලට අමතරව, ඒ ගෙදර ඉන්න උදවියගෙ ශරීරවලට සම්බන්ධ වෙලා ඉන්න අමනුස්ස කොටස් ඉන්නව නම් ඒ අයත් ඒ දානෙ අරගෙන අහක් වෙන්න පුළුවන්. නමුත් සමහර අමනුස්ස කොටස්වලට ඒ විදියට අහක් වෙන්න බැරිව ඉන්නවා. මොකද එහෙම අහක් වෙලා ඒ අයට තනියෙන් ජීවත් වෙන්න තරම් ශක්තියක් නෑ. මේ නිසා ඒ වගේ අවස්ථාවකදි ඒ ගෙදර සාමාජිකයිනුත් පෙරේත තටුව දුන්නට පස්සෙ සිද්ධ කරන අනුමෝදනාවට සහ පැන් වැඩීමට සම්බන්ධ වෙන්න ඕන. එහෙම නැත්නම් ඒ වගේ අමනුස්ස කරදර තියෙන අය වෙනුවෙන්, ගෙදර කවුරු හරි කෙනෙක් මේ අනුමෝදනාවට සහ පැන් වැඩීමට සම්බන්ධ වෙන්න ඕන. නමුත් ඒ ගෙදර සාමාජිකයින් සියල්ලම සහභාගි වෙනව නම් තමයි වඩා හොඳ. මොකද සමහර අමනුස්සයින්ට ශරීරයෙන් එළියට බැහැල එන්න තරම් ශක්තියක් නෑ. එහෙම නැත්නම් අධිෂ්ඨාන කරන්න පුළුවන් කෙනෙක් ලවා ඒ ශක්තිය දීල ඇදල ගත්තොත් මිසක් සමහර අමනුස්සයින්ට නැගිට ගන්න බෑ, ශරීරයට රිංග ගත්තු ගමන් එහෙම්මයි. එළියට බහින්න බෑ. ශරීරයම වාසස්ථානය කරගෙන ඉන්නවා.

ඒ වගේම **මේ මනුස්ස ලෝකෙ ඉන්න මනුස්සයින්ගෙ මස් ලේ ශරීරයට හිර වෙලා අමනුස්ස දිෂ්ටි බැඳිල ඉන්නව වගේ, අමනුස්ස ලෝකෙ ඉන්න අමනුස්සයින්ගෙ සියුම් ශරීරවලටත් ඒ වගේ දිෂ්ටි බැඳිල ඉන්න අවස්ථා තියෙනවා.** එතකොට ඒ අය නිකං නිදහස් වෙන්නෙ නෑ. අර වගේ හිර බන්ධන ආදියෙන් නිදහස් වෙන්න කියල අධිෂ්ඨාන කරල කියන කොට ඒ අයත් නිදහස් වෙලා සමහර විට ඒ බැඳිල ඉන්න අමනුස්සයො එකිනෙකා වෙන් වෙන්න පුළුවන්. ඒ වගේ එක්තරා අවස්ථාවක් මට මුණ ගැහිල තියෙනවා.

එක්තරා මවු කෙනෙකුට තමන්ගෙ මියගිය නැන්දම්ම කෙනෙක් වැහිල හිටියා. පිටින් බැලුවම ඒක සමනය වෙලා තිබුනට ශරීරය ඇතුලෙන් පොඩි පොඩි ඔල්මාද වගේ ගති ස්වභාවයක් තිබුණා. ඔහොම තිබිල පසු කාලයකදි ඒ මව මැරිල ගන්ධබ්බ ලෝකෙට ගියා. මමත් ඉතින් සමාධියෙන් යොමු කරල බලාගෙන හිටිය මොකද වෙන්නෙ කියල. ඔහොම ඉඳල දානෙ දීල පුණ්‍යානුමෝදනාව කරන වෙලාවෙදි අර අමනුස්සය ගැස්සිලා ගිහින් දෙන්නෙක් දෙපැත්තට විසි වුණා. බලන කොට අර නැන්දම්ම මේ ගන්ධබ්බ ශරීරයෙ ඉඳල පින් දෙන වෙලාවෙදි තමයි දඟලල අහක් වුණේ. ඒ අවස්ථාවෙදි දෙන්නම පින් අනුමෝදන් වුණා. ඊට පස්සෙ ඒ සියුම් ශරීරයට නැවතත් ඇතුල් වුනේ නෑ. වෙන වෙනම නිදහස් වෙලා ගියා.

දැන් එතකොට අර මවු මළාට පස්සෙත් දෙන්න එකටම ඉන්නව කියල එහෙම ලේසියෙන් හොයන්න බෑ. දානෙ දීල පුණ්‍යානුමෝදනාව සිද්ධ කරන කොට, ගැස්සිලා ගිහින් ගන්ධබ්බය අහකට විසි වෙන කොට තමයි අර මවු සමග තවත් අමනුස්සයෙක් ඉඳල තියෙන බව දැක්කෙ. මොකද ඒ මවු මනුස්ස ලෝකෙදි මට හොඳට දැකල පුරුදුයි. ඒ හිටපු විදියටම චිත්තජ රූපයෙන් ඒ ගන්ධබ්බ ලෝකෙත් ඉන්නවා. හැබැයි ඒ නැන්දම්ම මම කලින් දැකල නෑ. නමුත් එහෙම කෙනෙක් මේ කෙනාගෙ ඇගේ ඉඳල තියෙනවයි කියල දැන ගත්තෙ අර ගැලවෙන වෙලාවෙදි. එහෙම නැත්නම් මනුස්ස ලෝකෙ මනුස්සයින්ගෙ ශරීරවල අමනුස්සයො බැඳිල ඉන්නව කියල පිටින් පේන්නෙ නෑ වගේ තමයි, අර අමනුස්සයින්ගෙ ශරීරවලට බැඳිල ඉන්න තවත් අමනුස්ස දිෂ්ටි එහෙම ලේසියෙන් පේන්නෙ නෑ. ඒක හරි සංකීර්ණ දෙයක්.

මේ නිසා මේ වගේ තටුවක් තියල පුණ්‍යානුමෝදනාවක් කරන කොට, ඒ ගෙදර හැම කෙනෙක්ම වගේ මේ පුණ්‍යානුමෝදනාවට සම්බන්ධ වෙන්න පුළුවන් නම් තම තමන්ට හොඳයි. මොකද සමහර වෙලාවට අනුමෝදන් කරල පැන් වඩන වෙලාවෙදි අමනුස්සයො ඇගේ ඉඳල අහකට පනිනවා. ඒ වගේම පෙරේත තටුවෙ තියෙන දානෙ ගත්තොත් එහෙම අර නැගිට ගන්න බැරිව හිටපු අමනුස්සයින්ගෙ ශරීර එවෙලෙම නැගෙන්න පටන් ගන්නවා. හැබැයි ඒක ඒ අයට කැප කළේ නැත්නම් කන්න බෑ. ඒ නිසා කැප කරන්නම ඕන. එතකල් ඒ අය හූල්ල හූල්ල බලාගෙන ඉන්නවා. කෑම පෙනුනත් කන්න බෑ. මොකද අයිතියක් නෑ, සම්බන්ධයක් එන්නෙ නෑ. ඒ නිසා කැප කිරීම වචනවලින්ම ප්‍රකාශ කරන්න ඕන. එහෙම ප්‍රකාශ කළාම ක්ෂණයකින් සම්බන්ධ වෙනවා. එළියට පැනල ආහාර ගන්නවත් එක්කම ඇඟට ශක්තිය ඇවිත් නැගිටල එන්න, ඇවිදින්න පුළුවන්කම ලැබෙනවා. එතකොට තමයි පුණ්‍යානුමෝදනාවට සම්බන්ධ වෙලා පින් ගන්න යන්න පුළුවන් වෙන්නෙ. එහෙම නැතිව අපි නිකං අඬ ගැහුවට කොහොම එන්නද? කකුල් පණ නෑ. පෙළක් අයට යන්න එන්න බෑ. ඒ වගේම කර කියාගන්න දෙයක් නැතිව අතින් වහගෙන හෙළුවෙන් ඉන්න අමනුස්සයොත් ඉන්නවා. ඒ අය හැංගිලා ඉන්නෙ. මොකද ඒ අය හිතන් ඉන්නෙ අපිට ඒ අයව පේනවයි කියල. නමුත් ඒ අයට අපිව පෙනුනට, දිවැසක් සමාධියක් නැත්නම් බොහෝ කොටම අපේ මස් ලේ ඇහැට ඒ අයගෙ සූක්ෂම ශරීර පේන්නෙ නෑ.

ඒ වගේම ඒ ලෝකෙ ඇඳුම් ඇඳගෙන ඉන්න අයට මේ නිරුවත් අය පේන නිසා ඒ හේතුවෙනුත් ඔවුන් ලජ්ජාවට පත් වෙනවා. ඒ වගේ වෙලාවට ඒ අය මේ නිරුවත් අමනුස්සයින්ට ඔච්චම් කරනවා, ලජ්ජා කරනවා. ඒ වගේම සමහරු කුලප්පු වෙලා දූෂණය කරන්නත් පන්නනවා. මේ වගේ කාරණා නිසා ඒ අය දැඩි අසහනයෙන්, දුකෙන් ඉන්නෙ.

ඒ වගේම මේ දාන මාන කටයුතු සියල්ලම අවසන් වෙලා ඒ පෙරේත තටුව තියපු ලෑල්ල, බංකුව හෝ පුටුව හැර ඉතිරි භෝජන, භාජන ආදී සියල්ලක්ම උරයකට දමාගෙන කට බඳින්නෙ නැතිව, රෙදි කෑල්ල විතරක් උරයට පිටින් වෙනම තියල තුංමං හන්දියකට ගෙනිහින් දාන්න ඕන බවත් කලින් සඳහන් කළා. හැබැයි තටුවට තියපු වතුර, තේ වගේ දියර දේවල් මල්ල ඇතුලට දාන්නෙ නැතිව ඒව වෙනම අයින් කරල, එක භාජනයකට දාල ඒ තුංමං හන්දියෙම පැත්තකට හලන්න පුළුවන්. මෙතනදි තුංමං හන්දියකට ගෙනිහින් දාන්නත් හේතුවක් තියෙනවා. ගෙවල්වල ඉන්න, ඒ වගේම නිවැසියන්ගෙ ශරීරවල ඉන්න අමනුස්ස කොටස්, ඒ ඥාතීන් මළාම ක්‍රමයෙන් කල් යන කොට ඒ ඥාති පරපුරත් ඉවර වෙලා අනාථයටම වැටෙනවා. ඊට පස්සෙ ඉන්න තැනක් නැති නිසා දණ ගාගෙන හරි කොහොම හරි තුංමං හන්දියක් වගේ තැනකට සේන්දු වෙනවා. මොකද මේ තුංමං හන්දියක් කියන්නෙ පිරිස් නිතර නිතර ඇවිත් හැරෙන තැන්. ඒ වගේ තැන්වලට මිනිස්සු යන එන ගමන් මොනව හරි වැඩිපුර දේවල්, අහකට දාන දේවල් විසි කරල යනවා. එහෙම තැන්වලට තමයි මේ අමනුස්ස කොටස් ඇවිත් රැකගෙන ඉඳල කවුරුහරි දාල යන දෙයක් අරගෙන භුක්ති විඳින්නෙ. ☞

ඒක ඉස්සර ඉඳන් එන සිරිතක්. මේකට තුංමං හන්දි විතරක් නෙවෙයි, දෙමං - සිවුමං හන්දි වුනත් ගැලපෙනවා. නමුත් තුංමං හන්දියකට ගෙනිහින් දාන එක තමයි සාමාන්‍ය සිරිත. එතකොට මේ දානමාන, අනුමෝදනා කටයුතු සියල්ලම ඉවර වුනාම එදාම වරු 3 ක් යන්න පෙර හවස 3 න් පස්සෙ විතර ඒක අර විදියට ඉවත් කළාම ප්‍රමාණවත්. කොහොම හරි එදා දවස ඇතුළත ඉවත් කරන්න ඕන. එතකොට අර විදියට තුංමං හන්දියක් වගේ තැනකට ඒක ගෙනිහින් දැම්මම, ඒ ඒ ස්ථානවල අනාථ වෙලා ඉන්න අමනුස්ස කොටස්වලට ඒක ලැබෙනවා. මොකද ඒ වගේ හන්දිවල ඉන්න අමනුස්ස කොටස්වලට තටුව තියන භූමියට හිමිකමක් නැත්නම් එතැනට ඇවිත් ඒක අනුභව කරන්න බෑ. නමුත් මේ විදියට කාල අහකට දාපු තටුව තුංමං හන්දියක් වගේ තැනකට ගෙනත් දැම්මම ඒ අයටත් කැපයි. ඒ ඉතිරිය භුක්ති විඳින්න පුළුවන්. එහෙම අහකට දැම්මට පස්සෙ ඒක ඒ අයට හිමි කරල දුන්න වෙනවා. එතකොට එතන ඉන්න අය පැනල ඒක අනුභව කරනවා.

දැන් ඊළඟට කෙනෙකුට තවත් ප්‍රශ්නයක් එන්න පුළුවන්, මේ සාංඝික දානෙ දීල කරන පුණ්‍යානුමෝදනාව හැම ස්වාමීන් වහන්සේ කෙනෙක්ම දන්නෙ නැනෙ, ඒ විදියෙ පරිපූර්ණ පුණ්‍යානුමෝදනාවක් කරන්නෙ කොහොමද කියල. ඒ නිසා ඒ වගේ පුණ්‍යානුමෝදනාවකට අවශ්‍ය කරුණු කාරණා, පුණ්‍යානුමෝදනා වාක්‍ය ඕනෑම භික්ෂූන් වහන්සේ නමකට මතක තියාගන්න පුළුවන් විදියට පහතින් සඳහන් කරල තියෙනවා. දෙතුන් වතාවක් කියවල පුරුදු වෙන කොට ඉතාමත් පහසුවෙන් ඒක මතක තියාගන්න පුළුවන්. හරියට සමාධියක් වැඩිල ආව නම් කිසි වෙහෙස මහන්සියක් නැතිව වැඩේ තවත් පහසු වෙනවා. ඒ වගේම මේ තියෙන වචන, වාක්‍ය ආදියත් ඒ විදියටම කියන්න අවශ්‍ය නෑ. මේ අදහසයි එන්න ඕන. ඒ අදහස එන විදියට කරන ක්‍රමයක් තමයි මේ ඉදිරිපත් කරන්නෙ. ඒ නිසා තමන්ට පහසු විදියට ගලපල ගන්න පුළුවන්.

ඒ වගේම අපදාන පාලියේ පළමුව තියෙන බුද්ධාපදානය පරිදි බෝසතාණන් වහන්සේ තිලෝක විජය චක්‍රවර්තී නමින් සක්විති රජ කෙනෙක් වෙලා හිටපු කාලයක කරන ලද මනෝමය මහා පූජාවක් ගැන විග්‍රහ වෙනවා. ඒ කියන්නෙ දස දහසක් සක්වල තියෙන රන් රිදී මුතු මැණික් ආදී සියල්ල මනසින් එක් රැස් කරල විසාල මාළිගාවක් මවල බුදු, පසේ බුදු, මහ රහතන් වහන්සේලා වඩම්මවල මනෝමය වශයෙන් දීපු මහා දානයක ප්‍රතිඵලයක් විදියට උන් වහන්සේ බුද්ධත්වයට පත් වෙන තෙක්ම අත දිගු කළ සැණින් සම්පත් ලැබෙන මහා වාසනාවක් පහළ වුනයි කියල සඳහන් වෙනවා. ඒ අනුසාරයෙන් අද දින මේ මහා පූජාවත් පවත්වනව කියල මේ පින්කමේ හේතුඵල සම්බන්ධය ඒ ස්වාමීන් වහන්සේ විසින් පිංවත් පිරිසට විග්‍රහ කරල දෙන්න පුළුවන් නම් තවත් වැදගත්.

දැන් මේ පුණ්‍යානුමෝදනාව විශේෂයෙන් සිද්ධ කරන්න බලාපොරොත්තු වෙන්නෙ මොකටද කියල, ඒ අනුමෝදනාව කරන ස්වාමීන් වහන්සේ ලවාම පළමුවෙන්ම කියවන්න ඕන. ඒ කාරණය දානය දෙන පිංවත් උදවිය දැනගෙන ඉන්න ඕන. උදාහරණ විදියට මෙහෙම පටන් ගන්න පුළුවන්,

අද මේ මහා දාන පූජාව සමග දොළොස් පිරිකර පූජාව සිද්ධ කරන.... සිට පැමිණි.... යන අයගේ දැනට කාලයකට පෙර මියගිය ඥාතීන් වන.... යන අය මූලික කරගෙන ඒ අයටත්, මේ සෑම සියලු



දෙනාටමත් යහපතක් ශාන්තියක් උදා වෙන්න, දුක් කරදර නැති කරල සැනසුම ලබාගන්න බලාපොරොත්තුවෙනුයි අද මේ මහා දානමය පුණ්‍යකර්මය සිද්ධ කරන්නෙ. ඒ මියගිය ඥාති හිතමිත්‍රාදීන් ඇතුළු හිමිකම් කියන යම් තාක් අය වේ නම්, ඒ හැම දෙනාම වෙනුවෙන් භෝජන සංග්‍රහයක් කරල ඒ අයට කැප කරල තියෙනවා. ඒ සංග්‍රහය භුක්ති විඳල මේ දානෙ පින ඒ සියලු දෙනාම ලබා ගනිත්වා. ඒ වගේම කැප ඇරවල ඒ දාන සංග්‍රහය අරගෙන අද මේ හැම දෙනාම එකතු වෙලා තම තමන් අත හිත දුන්නා හා සමානව මේ මහා දානයට, පුණ්‍යානුමෝදනාවට සහ පැන් වැඩීමට සම්බන්ධ වෙන්නයි ඇවිත් තියෙන්නෙ. ඒ අය උදෙසා දෙන්නා වූ දානය ඒ අයට යහපතක් සිද්ධ කරල ඒ අය යම්කිසි දුගතියක ඇත්නම් ඒකෙන් නිදහස් වෙලා සුගතිගාමීව යහපත උදා වෙලා අභිවෘද්ධිය ලැබෙන්නත්, ඒ අයට යම්කිසි ආහාර පාන ඇඳුම් පැළඳුම් ආදියකින් අඟහිඟයක් ඇත්නම් ඒ අඟහිඟකම් සියල්ල දුරුවෙලා ලැබීම පහළ වෙන්නත් මේ පුණ්‍ය කර්මය හේතු වේවා. මේ අය උදෙසාද මේ කරගත්තා වූ මේ දානමය පූජාවේ ආනිසංසයන් නිසා අනන්ත ලෝක සත්වයින්ටත් අද යහපතක් සිද්ධ වෙනවා. ඒ නිසා දැන් මේ පිංවතුන් විසින් සිද්ධ කරගන්නා වූ මේ මහා පුණ්‍යානුමෝදනාවත් අනිත් අයත් අතහිත දීල සිද්ධ කළා සේ අනන්ත ලෝක සත්වයින්ද එකතු වෙලා අද මේ විදියට සිද්ධ කර ගනිත්වා....

මේ ආදී වශයෙන් පටන් ගත්තම තමයි ඒ අමනුස්ස කොටස්වලටත් චිත්තප්‍රසාදය ඇති වෙලා හරියට වැඩ කටයුතු සිද්ධ වෙන්නෙ. එතකොට ඒ අයටත් අද ඒ අය විසින්ම අනුන්ට පිං දෙනව කියන හැඟීමක් එනවා. අපිත් පිං ලබාගෙන සුඛිත මුදිත වුනා සේ, අපි අද මේ දානය නිසා ලැබුව මහත් සිත, අපි කරනවා හා සමානව මේ අයත් ලෝකයාට අනුමෝදන් කරවල අපිටත් පිං දෙනව කියන හැඟීමක් මේ අමනුස්ස කොටස්වලට එනවා. දැන් මේ ටික මේ විදියට කියල ඊළඟට,

මේ ආකාරයෙන් අනන්ත ලෝක සත්වයින්ටත් ලබා දුන්නා වූ පුණ්‍ය කුසල බල මහිමය නිසා, ඒ පිං පෙත් දීමේ අනන්ත පුණ්‍ය වාසනාවක් (අවශ්‍ය, නම් සඳහන් කරන්න)... යනුවෙන් මුලින් සඳහන් කළා වූ ඒ ඥාති හිතමිත්‍රාදීන් සියලු දෙනාටම ලැබිල, ඒ අයත් සුඛිත මුදිත වෙලා යහපතක්ම උදා කර ගනිත්වා. ඒ වගේම මේ පිංවතුන් වාසය කරන්නා වූ භූමියට හෝ මේ පිංවතුන්ට කරන ලද යම්කිසි අණවින කොඩිවින හදි හූනියම් ආදිය වන්නා වූ දෝසාන්ධකාරයන්ට බැඳී රැඳී සිටින්නා වූ අමනුස්ස කොට්ඨාස ඇත්නම්, ඒ සෑම සියලු දෙනාම මේ උතුම් පුණ්‍ය කුසල ආශිර්වාදයේ බල මහිමයෙන්, ශාසන ආශිර්වාදයේ බල මහිමයෙන්, අනන්ත තුනුරුවන් ගුණ බල මහිමයෙන් මේ මොහොතේම නිදහස් වෙලා මේ පිං ලබල සුඛිත මුදිත වී ඒ අයටත් යහපත උදා වෙත්වා..... මේ ආදී වශයෙන් කියල පටන් ගැන්ම අවසන් කරන්න පුළුවන්. ඒ වගේම අනුමෝදන් කරන කොට මිය පරලොව ගිය නම් සඳහන් කළ යුතු අය ඉන්නවනම් විශේෂයෙන් සඳහන් කරන්න ඕන. එහෙම විශේෂයෙන් නම් සඳහන් කරන්නෙ නැත්නම් පොදුවේ හතර වරිගයේ ඥාති හිතමිත්‍රාදීන් කියල සඳහන් කරන්න ඕන.

මේ විදියට මියගිය අයගෙ නම් ගොත් එකතු කළා වගේම, මේ තටුව දීල සාංඝික දානය දීමේ ප්‍රධාන කාරණාව යම් රෝගී කෙනෙක් මුල් කරගෙන නම් සිද්ධ කරන්නෙ, ඒ දානෙ දෙන්න පෙර රෝගියාගෙ නම කියල ඒ රෝගියාට යම් අණවින කොඩි වින හදි හූනියම් ආදී කෙබඳු හෝ දෝසයකින් බන්ධනයකින් බැඳී රැඳී ඉන්නා වූ අමනුස්සයෝ වේ නම්, ඒ අයත් මේ ශාසන ආශිර්වාදයෙන් පුණ්‍ය බල මහිමයෙන් ත්‍රිවිධ රත්නයේ ☞

අනන්ත ආශිර්වාද බල මහිමයෙන් නිදහස් වෙලා, ඒ සියලු දෝසාන්ධකාරයෝ මොහොතකින් බිඳී ගිහින් ඒ අය නිදහස් වෙලා, ඒ තැනැත්තා පෙළෙන කායික මානසික රෝගයන්ගෙන් නිදහස ලබල නිරෝගී බවට පත් වෙලා, බැඳී රැඳී ඉන්නා වූ අමනුස්ස ආදී කොට්ඨාශත් අද මේ පින් ලබා සුඛිත මුදිත වෙත්වා.... ආදී වශයෙන් කියන්න ඕන.

ඒ වගේම ප්‍රධාන කාරණය මියගිය අයගෙ නම් ගොත් සිහි කරල පින් දීම සහ රෝගියෙකුට සුවය ලබන්න කියන කාරණා දෙකම නම්, ඒ දෙකම මුල් කරල අනුමෝදනාව පටන් ගන්න ඕන. මෙතනදි ප්‍රධාන කරන්න ඕන මොකක්ද කියල ඒ දානෙ දෙන පිංවත් පිරිස ස්වාමීන් වහන්සේට කියන්න ඕන. තවත් පැහැදිලි කරනව නම්, දන්න කියන මියගිය ඥාති හිත මිත්‍රාදීන් ඉන්නව නම් ඒ අයගෙ නම් සඳහන් කරන්න ඕන. ඒ වගේම කෙනෙක් රෝගී වෙලා ඉන්නව නම් ඒ රෝගී අයයි, මියගිය අයයි මුල් කරල අනුමෝදනාව පටන් ගන්න ඕන. යම්කිසි කෙනෙක් රෝගියෙක් වෙලා ඉන්නව නම් ඒ පුද්ගලයට අණවින කොඩිවින බන්ධනයක් ඇත්නම් ඒ රෝගියා මුල් කරල සෙත් පැතීම කරන්න ඕන. මියගිය ඥාතීන්ගෙ නම් දන්නව නම් ජීවත් වෙලා ඉදෙද්දි ඒ පුද්ගලයන් ආමන්ත්‍රණය කරපු විදියට නම් ගොත් කියල සිහි කරන්න ඕන. උදාහරණ විදියට ලොකු සීය, ලොකු ආච්චි අම්ම, සීලවතී ආච්චි අම්ම ආදී වශයෙන් නෑදෑකමක් තියෙන අයගෙ නම් ගොත් දන්නව නම් ඒ අය ගැන කියන්න ඕන. හැබැයි එහෙම ඥාතිකම් කියනව නම්, අහවල් කෙනාගෙ ආච්චි අම්මා... ආදී වශයෙන් ඒ අය කාගෙ කවුද කියල කියන්න ඕන. එහෙම නෑදෑකම් සඳහන් කරන්නෙ නැත්නම් ඒ අය හඳුන්වපු සැබෑ නම් සඳහන් කරන්න ඕන. එතකොට ඒ අය මුල් කරල ඒ අය ඇතුළු සතර වරිගයේම ඥාති හිතමිත්‍රාදීන් ඇතුළු මේ පිං පෙත් බලාපොරොත්තු වන යම් තාක් අය ඉන්නව නම් මේ පිං පෙත් ලබා සුඛිත මුදිත වෙත්වා.... ආදී වශයෙන් කියන්න ඕන.

ඊළඟට බුද්ධ පූජෝපහාරය තියල නමස්කාරයෙන් පටන් ගෙන මේ සියලු පැන්, ආහාර පාන, කැවිලි පළතුරු, දැහැත් විට, දොළොස් පිරිකර ඇතුලු සියල්ල බුද්ධ ප්‍රමුඛ මහා සංඝරත්නයට පූජා කරනව කියල ඒ වෙන් කරපු අග්‍ර ප්‍රමුඛ කොට්ඨාශය ඒවට අදාල ගාථා කියල පූජා කරන්න ඕන. උදාහරණ විදියට පැන් පූජා කරන ගාථාව කියල පැන් පූජා කරනවා. භෝජන පූජා කරන ගාථාව කියල භෝජන පූජා කරනවා. ඒ විදියට අතිරේක භෝජන පූජාව හෙවත් උපනාමික පූජාව (කැවිලි, පළතුරු පූජාවත් මේකටම අයිතියි), දැහැත් පූජාව, බෙහෙත් පූජාව, දොළොස් පිරිකර පූජාව ආදියත් ගාථා කියල හෝ සිංහලෙන් අදහස කියල හෝ පිංවතුන් ලවා පූජා කරවන්න ඕන. දොළොස් පිරිකර පූජා කරන කොට, අට්ට පරික්කාරං කියන වචනෙ වෙනුවට දොළස පරික්කාරං පරිකප්පිතං ආදී වශයෙන් කියල පූජා කරන්න පුළුවන්. එහෙම කියල අන්තිමට සියලු පිරිකර එකවිට පූජා කරන බලාපොරොත්තුවෙන් අධිවාසේ තුනෝ භන්තේ - සබ්බ පරික්කාරං... ආදී වශයෙන් ගාථාව කියල පූජා කරන්න ඕන. ඔය අතර මල් පහන්, සුවඳ දුම් ආදියත් තිව්ව නම් ඒවත් අදාල ගාථා කියල පූජා කරන්න ඕන.

දැන් මේ විදියට අග්‍ර ප්‍රමුඛ කොටස බුද්ධ පූජාවට තියල පූජා කරල, ඊළඟට ඉතිරි දානය ඇතුළු පිරිකර සුපටිපන්න ආදී ගුණ සිහි කරල සංඝයාට පූජා කරමියි කියල පූජා කරවන්න ඕන. එතනදි උපසම්පදා භික්ෂූන් වහන්සේ නමක් ඉන්නව නම් සහ අවශ්‍ය නම් ඉමං භික්ඛං සපරික්ඛාරං... ආදී වශයෙන් කියන ගාථාව පිංවතුන් ලවා කියවල භික්ෂූන් වහන්සේලාට කැප කරල සාංඝික කරන්න පුළුවන්. එහෙම නැත්නම් සුපටිපන්න ආදී ගුණ සිහි කරල අෂ්ඨාර්ය පුද්ගල මහා සංඝරත්නයට මේ භෝජන පූජා, පිරිකර පූජා, දොළොස් පිරිකර පූජා ඇතුලු සියල්ල පූජා කරමි කියන බලාපොරොත්තුවෙන් සාදු කාරයක් දෙන්න කියල, හැමෝම ලවා පූජා කරමි/// කියල තුන් වතාවක් කියවන්න ඕන. ඊළඟට පූජා වේවා! පූජා වේවා! පූජාම වේවා! කියල පූජා කොටස අවසන් කරනවා.

ඒ වගේම මේ විදියට සංඝයා උදෙසා දාන මාන පිරිකර ආදිය පූජා කරන කොට පිංවතුන් සියලු දෙනාටම වෙන වෙනම අත ගස්සවන්න අපහසු නම්, ඒ සියලු දාන මාන පිරිකර ආදී පූජා වටා ස්පර්ශ වෙන්න නූලක් තියල ඒ නූල පිංවත් පිරිස අතට දීල එක කෙළවරක් අනුමෝදනාව සිද්ධ කරන ස්වාමීන් වහන්සේගෙ අතට දෙන්න ඕන. ඒ විදියට තියල පූජා කරමි ආදී වශයෙන් කියන කොට, භික්ෂූන් වහන්සේ ඒ දානමාන ආදිය ලබා ගන්න අත ගහල තියෙනවා. ඒ වගේම අනිත් පිංවත් පිරිසත් ඒ දානමාන ආදී පිරිකර පූජා කරන්න අත ගහල තියෙනවා. නූල එහෙම සම්බන්ධ වුනාම ඒ කාරණා 2 ම සිද්ධ වෙනවා. ඒ ක්‍රමය නැත්නම් සියලු දානමාන පිරිකර ආදිය මේසයක තැන්පත් කරල භික්ෂූන් වහන්සේලා ඉදිරියේදී සියලු දෙනාම ඒ මේසෙට අත ගහල පූජා කරන්නත් පුළුවන්. මේ මොකක් හරි ලේසි ක්‍රමයක් යොදාගන්න පුළුවන්.

දැන් මේ විදියට පටන් ගත්තු පූජාවෙ පුණ්‍යානුමෝදනාව ඊළඟට පහත දැක්වෙන විදියට පොදුවේ කරගෙන යනවා.

මේ කරගත්තා වූ අනන්ත පුණ්‍ය වාසනා කුසල වාසනා නිසා තම පවුල්වල ජීවත් වන්නා වූ සැම සියලු දෙනාටම මාරක බාධක අපල උපද්‍රව දුරුවී සැනසිල්ල ශාන්තිය උදා වෙත්වා.

ඒවාගේම කළ ගුණ සැලකීම් වශයෙන් තමන්ව මෙලොවට බිහි කළා වූ දෙමව්පියන් ඇතුලුව ඇති දැඩි කළා වූ යම් තාක් අය ඇත්ද, ඒවාගේම දැනීම් ඉගෙනීම් කියා දුන්නා වූ ගුරු දෙගුරුන් ඇතුලු යම් තාක් අය ඇත්ද, ඒවාගේම රැකී රක්ෂා සපයා දුන්නා වූද නොයෙක් ආකාරයෙන් උදව් උපකාර කළා වූ යම් ස්වාමි පක්ෂයක් ඇතුලුව ඒ ආකාරයෙන් තමන්ට උදව් උපකාර දෙන සැම සියලු දෙනාම ඇතුලුව, අපට යහපත් ආශිර්වාදයක් කරන්නා වූ යම් තාක් ඉෂ්ඨ දේවතාවන් ඇතුලු යහපත් පිරිස් ඇත්ද, ඒ සියලු දෙනාටමත් මේ අනන්ත පුණ්‍ය කුසල ආශිර්වාදයන් විහිදී පැතිරී පිහිටා සියල්ලෝම සුඛිත මුදිත වෙත්වා.

ඒවාගේම යම් ආකාරයකින් අප ඇසුරු කරන්නා වූ ගේ දොර, දේපල, ඉඩ කඩම් ආදියක් ඇත්ද, යාන වාහන, වතු පිටි, මං මාවත්, ලිං තොටු, ගහ කොළ, රැකී රක්ෂා ව්‍යාපාර කරන ස්ථානයන් ආදියක් ඇත්ද, මේ ආදී සැම සියලු තැන්හි වචා හදා සකස්කර දීමට කටයුතු කර දුන්නා වූ යම් තාක් පිරිස් ඇත්ද ඒවා ආරක්ෂා කරන්නා වූ දෙවි දේවතා කොට්ඨාස ඇත්ද, මේ සැම සියලු දෙනාත් සිහි කරමින් දිව්‍ය බ්‍රහ්ම ආදී පටන් දයාවෙන් කරුණාවෙන් යුක්තව මේ පින් බලාපොරොත්තු වෙන යම් තාක් අය වෙත්ද ඒ සැම සියලු දෙනාම සිහි කරමින් අද අප උදා කරගත්තා වූ සියලු පුණ්‍ය කුසල ආශිර්වාදයෝ ඒ සියලු ලෝකයාටද ගලා යාවා... විහිදේවා... පැතිරේවා... පිහිටාවා... සියල්ලෝම සුඛිත මුදිත වෙත්වා... මෙලොව ජීවත්වන්නා වූ සැමට යහපත අභිවෘද්ධිය උදා වෙත්වා... මියගිය සියල්ලන්ටම දුගතියක් නොවෙත්වා... සුගතියක් අභිවෘද්ධියක්ම ලැබෙත්වා... උතුම් වූ නිවන් සාක්ෂාත් කර ගැනීමටත් එතෙක් සියලු අභිවෘද්ධිය උදා වෙන්නටත් ඒ සැමටම හේතු වාසනා වෙත්වා. සාදු! සාදු! සාදු!

ඒවාගේම අනන්ත සංසාරයේ මියගිය සතර වරිගයේ ඥාතීන් මෙන්ම අපට උදව්වක් උපකාරයක් ආශිර්වාදයක් මේ මොහොත දක්වා කළ සියල්ලන්ටම කෘතෝපකාර සලකන ගුණයෙන් මේ අප්‍රමාණ පුණ්‍ය කුසල ආශිර්වාදයෝ ගලා යාවා... විහිදේවා... පැතිරේවා... පිහිටාවා...

ඒ සියල්ලෝම කෙබඳු උපතක කෙබඳු භවයක කෙබඳු තැනක සිටියත් මේ අනන්ත පුණ්‍ය කුසල ආශිර්වාදයෝ මහා පුණ්‍ය ගංගා කුසල ගංගා ගලන්නා සේ විහිදේවා... පැතිරේවා... පිහිටාවා... සසර වසනා තාක් කල් නිවන් දක්නා ☞

ජාති දක්වා මොහොත දක්වා කිසි කලෙකත් දුගතියක් නොවෙත්වා.. සුගතියක් වෙත්වා.. පිරිහීමක් නොවෙත්වා.. උතුම් වූ නිවන් සාක්ශාත් කර ගැනීමටත් සියලු සංසාර දුක් කෙලවර කරගැනීමටත් එතෙක් සියලු අභිවෘද්ධිය උදාකර ගැනීමටත් ඒ සැමටම හේතු වාසනා වෙත්වා. සාදු! සාදු! සාදු!

ඒ වගේම අනන්ත සංසාරයේ අපගෙන් අවැඩක් අසාධාරණයක් වරදක් ප්‍රමාද දෝෂයක් යමෙකුට සිද්ධ වී නම් ඒවාට ගෝචර වූ ලෝක සත්වයෝ කෙබඳු උපතක කෙබඳු භවයක කෙබඳු තැනක සිටියත් මේ අනන්ත පුණ්‍ය කුසල ආශිර්වාද ඒ සියල්ලන්ටම විහිදී පැතිරී පිහිටා සියල්ලෝම සුඛිත මුදිත වෙත්වා... කිසි කෙනෙකුටත් දුගතියක් නොවෙත්වා... සුගතියක් අභිවෘද්ධියක්ම වෙත්වා... උතුම් වූ නිවන් සාක්ෂාත් කර ගැනීමටත් සියලු සංසාර දුක් කෙලවර කරගැනීමටත් මේ පුණ්‍ය කුසල ආශිර්වාදයෝ හේතු වාසනා වෙත්වා. සාදු! සාදු! සාදු!

ඒවාගේම අනන්ත සංසාරයේ පටන් මේ දක්වා අපගෙන් අවැඩක් අසාධාරණයක් වරදක් ප්‍රමාද දෝෂයක් සිද්ධ වූ සියල්ලන්ටම වන්දි ගෙවා නිදහස් වීම හේතුකොට ගෙන, මේ දක්වා අප වෙත තිබූ පාප අන්ධකාරයන් දෝෂ අන්ධකාරයන් මේ මොහොතේ සමනය වෙලා, මෙතැන් පටන් නිවන් දක්නා ජාති දක්වා මොහොත දක්වා මාරකයක් බාධකයක් අපලයක් උපද්‍රවයක් දුකක් කරදරයක් දෝෂ අන්ධකාරයක් අහලකට ළං නොවෙත්වා... සසර කරන ලද පුණ්‍ය කුසල ආශිර්වාදයන් ඇදී එත්වා... මේ පුණ්‍ය කුසල ආශිර්වාදයෝ ක්‍රියාත්මක වෙත්වා. දුර්භික්ෂ භය, අමනුෂ්‍ය භය දුරු වෙලා අට අනූවක් රෝග නව අනූවක් ව්‍යාධි දෙසිය තුනක් අන්තරා දුරු වෙලා, ඇති බව, භව භෝග, සැපත, ණය නැති බව,වරදක් නැති බව කියන ගුණයන්ද ආයුෂ, වර්ණ, සැප, බල , පටිභාන ඥානය කියන කාරණාද පූර්ණ භාවයට පත් වේවා!

අප විසින් යහපතක් ශාන්තියක් අභිවෘද්ධියක් උදා කරගත්තා සේම දිව්‍ය බ්‍රහ්ම, මනුෂ්‍ය, අමනුෂ්‍ය සතර වර්ගයේ ඥාති මිත්‍රාදී කොට්ඨාශ මෙන්ම අනන්ත ලෝකවාසී සියලු සත්වයන්ටත් මේ යහපත් ශාන්තිය උදා වෙත්වා! සාදු! සාදු! සාදු!

මේ දාන මාන පූජා සත්කාර සඳහා යම් කෙනෙක් අත හිත දෙන ලද්දේද ඒ සඳහා සුළු අත් උදව්වක් දෙන ලද්දේද.. ඒවාගේම යම් මිල මුදලකින් හෝ වේවා තමන්ගේ ශ්‍රම කඳුලකින් හෝ වේවා ආධාරයක් උපකාරයක් කරන ලද්දේද... බඩු බාහිරාදියකින් උදව්වක් උපකාරයක් කරන ලද්දේද... වචනයකින් හෝ වේවා යම් ප්‍රශංසාවක් කරන ලද්දේද, චිත්ත ප්‍රබෝධයක් පහල කරන ලද්දේද, අංශු මාත්‍රයකින් හෝ විරුද්ධතාවක් නොදක්වා මේ සත් කටයුතු කිරීමට ඉඩ ප්‍රස්ථාව දෙන ලද්දේද, දිව්‍ය බ්‍රහ්ම තැන් පටන් කවුරුන් හෝ වේවා ආශිර්වාදයක් කරන ලද්දේද, ඒ ආදී සියල්ලෝම මේ අනන්ත පුණ්‍ය කුසල ආශිර්වාදයන් ලබන්න හේතු වාසනා වන්තයෝ වෙනවා.

ඒ සැම සියල්ලෝම කෙබඳු තැනක හිටියත් මේ අනන්ත පුණ්‍ය කුසල ආශිර්වාදයෝ මහා පුණ්‍ය ගංගා කුසල ගංගා ගලන්නා සේ ගලා ගොස් විහිදේවා... පැතිරේවා... පිහිටාවා... සසර වසනා තාක් කල් නිවන් දක්නා ජාති දක්වා මොහොත දක්වා කිසි කලෙකත් දුගතියක් නොවෙත්වා... සුගතියක්ම වෙත්වා... පිරිහීමක් නොවෙත්වා... උතුම් වූ නිවන් සාක්ෂාත් කර ගැනීමටත් සියලු සංසාර දුක් කෙලවර කරගැනීමටත් එතෙක් සියලු



අභිවෘද්ධිය උදාකර ගැනීමටත් ඒ සැමටම හේතු වාසනා වෙත්වා...! සාදු! සාදු! සාදු!

අතීතයේ පටන් මේ දක්වා මෙම ස්ථානයන්ට අයිතිවාසිකම් කී අය මෙන්ම මෙම ස්ථානයන් ගොඩ නැගූ පිරිස් වේද, මේවා ගොඩ නැගීමේදී තමන්ගේ ශ්‍රම කඳුලකින් හෝ වේවා වැලි කැටයකින් හෝ වේවා අත් උදවු මාත්‍රයකින් හෝ උදව්වක් උපකාරයක් කළ කෙනෙක් වේද, යම් චිත්ත ප්‍රසාදයකින් යුක්තව ප්‍රසංසාවක් කළ කෙනෙක් වේද, අංශු මාත්‍රයකින් හෝ විරුද්ධතාවයක් පල නොකළ කෙනෙක් වේද, යහපත් අයුරින් කටයුතු කරගැනීමට මග පාදා දෙන ලද දිව්‍ය බ්‍රහ්ම තැන් පටන් කවුරුන් හෝ වේවා ආශිර්වාදයක් කරන ලද්දේද, ඒ ආදී සියල්ලෝම මේ අනන්ත පුණ්‍ය කුසල ආශිර්වාදයන් ලබන්නට හේතු වාසනාවන්තයෝ වෙනවා.

ඒ සැම සියල්ලෝම කෙබඳු උපතක කෙබඳු භවයක කෙබඳු තැනක සිටියත් මේ අනන්ත පුණ්‍ය කුසල ආශිර්වාද ඒ සියල්ලන්ටම විහිදී පැතිරී පිහිටා සියල්ලෝම සුඛිත මුදිත වෙත්වා... කිසි කෙනෙකුටත් දුගතියක් නොවෙත්වා, සුගතියක් අභිවෘද්ධියක්ම වෙත්වා...!

උතුම් වූ නිවන් සාක්ශාත් කර ගැනීමටත් සියලු සංසාර දුක් කෙලවර කරගැනීමටත් හේතු වාසනා වෙත්වා...! සාදු! සාදු! සාදු!

දැන් මේ විදියට පුණ්‍යානුමෝදනාව අවසන් කරල ඊළඟට ඒ ස්වාමීන් වහන්සේ ලවා මේ ගාථා කියල පැන් වැඩීමක් සිද්ධ කරගන්න ඕන.

**උන්න මේ උදකං වට්ටං**
**- යථා නින්නං පවත්තති**
**ඒව මේව ඉතෝ දින්නං**
**- පේතානං උපකප්පති**

**යථාවාරි වහාපූරා**
**- පරිපූරෙන්ති සාගරං**
**ඒව මේව ඉතෝ දින්නං**
**- පේතානං උපකප්පති**

මේ විදියට පැන් වැඩීමේ ගාථා දෙක කියන කොට ඒ ඉන්න සියලු දෙනාම ඒකට සහභාගි වෙන්නත් ඕන.

ඒ වගේම මේ ගාථා දෙක කියන්න ඉස්සෙල්ල, අද මේ කරන ලද අනන්ත පුණ්‍ය කුසල ආශිර්වාදයන් ලැබෙන්නෙ මෙහෙමයි කියල ඒ ස්වාමීන් වහන්සේ විසින් විග්‍රහ කරල දෙන්න ඕන.

මේ මියගිය ඥාති හිතමිත්‍රාදීන්ටත්, අනන්ත ලෝක සත්වයින්ටත් මේ පින් ලැබෙන්නෙ මෙහෙමයි කියල බුදුන් වහන්සේ තිරෝකුඩ්ඩ සූත්‍රයේ දේශනා කරල තියෙනවා. මේ වහින ජල කඳ ඇළ දොළ ගංගා ආදියෙන් ගලා ගෙන ගොස් මුහුදු කෙළවර කරලයි පවතින්නෙ. එනම් වසින්නා වූ ඉහළින් එන ජලය පහත් බිම් කරා ගලා ගෙන ගිහින් මුහුදට එකතු වෙනවා. ඒ ආකාර උපමා පරිදි මෙසේ මේ මහා පිනක් කරල ගලන්නා වූ මහා පුණ්‍යස්කන්ධය ඒ මියගිය ඥාති හිතමිත්‍රාදීන් ඇතුලු සියලු දෙනාටමත් විහිදී පැතිරී පිහිටනවා. ඒක ධර්මතාවයක්. ඒ උපමා පරිදි අද මේ කරගත්තා වූ පින ඒ අයට පිහිටනවා.

ඒ වගේම මහ වැස්සක් වැහැල ඒ මහා ජලස්කන්ධය වැව් අමුණු ආදිය පුරවගෙන ඒවායේ එකතු වෙලා ඇල දොල ගංගා වශයෙන් ගිහින් මහ මුහුදෙහි පිහිටන්නේ යම් සේද, එසේ මහා ජලස්කන්ධයක් සේ පිහිටන්නා වූ මේ මහා පුණ්‍යස්කන්ධය මෙසේ ගලාගෙන

ගිහින් මියගිය ඥාති හිතමිත්‍රාදීන් ඇතුලු සියල්ලන් කරා පිහිටනවා. ඒ ආකාරයෙන් බුදුන් වහන්සේ දේශනා කරල තියෙන ආකාරයට තමයි අදත් මේ පැන් වැඩීමේ චාරිත්‍රය සිද්ධ කරන්නෙ. මේ විදියට වසින්නා වූ වැසි ජලයට උපමා කරල කෙණ්ඩියෙන් වැක්කෙරෙන්නා වූ ජලය, ඒ වගේම ඇතුලත තියෙන බඳුන පිරිල ඉතිරී යාම, වැව් පොකුණු පිරිල ඉතිරිලා ගංගා ඇළ දොළ ආදී වශයෙන් ගලාගෙන යාමට උපමා කරනවා. ඒ විදියට පිරිල ඉතිරිලා ගිහින් පිටත තියෙන බඳුනේ තියෙන ජලය, මුහුදේ ජලය පිහිටීමට උපමා කරනවා. මේ ආකාරයෙන් තමයි අද අපි මේ දෙන පිනත් මියගිය ඥාති හිතමිත්‍රාදීන් ඇතුලු සියලු සත්වයින්ටම විහිදිලා පැතිරිලා පිහිටන්නෙ කියල හිතාගෙන, එසේ විහිදී පිහිටා ඒ අය සුඛිත මුදිත වෙත්වා කියල අධිෂ්ඨාන කරල, දැන් ඉතින් පැන් වඩන්න කියල මේ විදියට විග්‍රහ කරල දීල, අර මුලින් සඳහන් කරපු ගාථා 2 කියල පැන් වඩන්න ඕන.

ඒ වගේම මේ ගාථා දෙක කියල අවසන් වෙන කොට භාජනය පිරිල උතුරල ගිහින් පැන් වැඩීම අවසන් වෙලා තියෙන්නත් ඕන. පැන් කෙණ්ඩියේ තිබ්බ ජලය ඔක්කොම ඉතිරි නැතිව වත් කරල තියෙන්නත් ඕන. පුණ්‍යානුමෝදනාව අඩුවක් නැතිව සම්පූර්ණයෙන්ම සිද්ධ කළා, ඉතිරියක් නැතිව සියලු පින් දුන්නා කියන කාරණය සංකේතමත් වෙන්නෙ එතකොට. ඊළඟට ඒ ගාථා දෙකෙන් පස්සෙ, ඉදං මේ ඥාති නං හෝතු සුඛිතා හොන්තු ඥාතයෝ කියන ගාථාව (තමන්ගෙ ඥාති පිරිස සිහි කරල) එක වතාවකුත්, ඊළඟට ඉදං වෝ ඥාති නං හෝතු වශයෙන් දාල (අනිත් අයගෙ ඥාතීන් සිහි කරල) තවත් දෙවතාවකුත් කියන්න ඕන. ඊළඟට කරණීය මෙත්ත සූත්‍රය සජ්ජායනා කරල දෙවියන්ට, ඥාතීන්ට පින් අනුමෝදන් කරන්න ඕන. ඒ වගේම පැන් වැඩීමෙන් පස්සෙ ඒ ජලය කොස් ගහක් වගේ කිරි ගහක් මුලට හෝ එහෙම නැත්නම් පන්සලේ බෝධිය වගේ නොපෑගෙන තැනකට විසි කරන්න ඕන. එහෙම කරන්නත් විශේෂ හේතුවක් තියෙනවා. මොකද මේ විදියෙ යහපතක් කරල, සෙත් ශාන්තියක් කරපු ජලය යම්කිසි විදියකට පරමාණු බවට, කිරණමය බවට පරිවර්තනය වීමක් සිද්ධ වෙනවා. එතකොට කිරි ගහක් කියන්නෙ අනික් ගස්වලට වඩා විශේෂයෙන් සාර ගහක්. මේ ජලය කිරි ගහක් මුලට දැම්මම ඒකෙ මුල් හරහා උරාගෙන ගහ දිගේ ඉහළට ගිහින් මුළු විශ්වයටම පොදුවේ ඒ සෙත් කිරණ ශක්තිය සම්බන්ධ වෙනවා. එතකොට අර පැන් වඩන කොට පුණ්‍ය ගංගා, කුසල ගංගා ගලනව වගේ මෙතනදිත් මහා ශාන්තියක් මුළු විශ්වයටම විහිදෙන්න ගන්නවා. ඒක විශේෂ දෙයක්. ඒ වගේම මෙතනදි කොස් ගහක් වගේ ලොකු ගහක් යොදා ගන්න පුළුවන් නම් තවත් හොඳයි. එහෙම නැත්නම් මොකක් හරි තියෙන කිරි ගහකට දැම්මත් කමක් නෑ.

ඒ වගේම මේ විදියට තටුවක් එක්ක දානයක් දීල පුණ්‍යානුමෝදනාවක් සිද්ධ කරන මේ ක්‍රමය අනුගමනය කිරීමෙන් කරදර බාධක ඉවත් වෙලා ජයග්‍රහණ ලැබෙන්න ගත්තම, මේ වගේ පිංකම්වලට සම්බන්ධ වෙන පිංවත් පිරිස් ක්‍රමයෙන් වැඩිවෙන්න පුළුවන්. දැනටමත් මේ ක්‍රමය ආරංචි වෙලා ඒ ක්‍රමය අනුගමනය කරල එක්තරා ස්ථානයක පවුල් 20 ක් සම්බන්ධ වෙලා පෙරේත තටු 20 ක් සමග දානමාන දීල ස්වාමීන් වහන්සේලා දෙනමක් මුල් වෙලා ඒ සියල්ලටම පුණ්‍යානුමෝදනාව සිද්ධ කරල තියෙනවා. ඒ වගේම වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයෙත් සමහර දවස්වලට ඔය වගේ දාන 4 - 5 ක් ම එකට ගෙනත් පූජ කරල පුණ්‍යානුමෝදනා කරන්නත් සිද්ධ වෙලා තියෙනවා.

ඒ නිසා මේ වගේ අවස්ථාවක් උදා වුනොත් හැමෝටම දානයක් දෙන්න, වෙන වෙනම දවස් වෙන් කරගන්න අවස්ථාව නොලැබෙන්න පුළුවන්. ඒ නිසා ඒ වගේ අවස්ථාවකදි පවුල් කිහිපයකම උදවියට ඒ වගේ පෙරේත තටු තියල, වෙන වෙනම දොළොස් පිරිකර සමග දානෙත් පූජ කරල මේ වගේ අනුමෝදනාවක් සිද්ධ කරගන්න පුළුවන්. එවැනි අවස්ථාවකදි පෙරේත තටු වෙන වෙනම තියන්න ඕන වගේම දොළොස් පිරිකරත් වෙන වෙනම ගේන්න ඕන. හැබැයි සාංඝික දානෙ නම් ඒ ඒ අයට බෙදාගෙන ගේන්න පුළුවන්. ඒ වගේම අර මුලින්ම කියපු පෞද්ගලික අනුමෝදනා කොටස ඒ ඒ අය උදෙසා වෙන වෙනම සිද්ධ කරන්නත් ඕන. එහෙම කරල ඊට පස්සෙ එන පූජා කටයුතු ඇතුළු පොදු අනුමෝදනා කොටස සියල්ලන්ටම පොදුවේ සිද්ධ කරනවා. පැන් වඩන කොටත් ඒ ස්වාමීන් වහන්සේ අර ගාථා කියල පොදුවේ පැන් වැඩීම සිද්ධ කරන්න පුළුවන්. හැබැයි පැන් කෙණ්ඩි සමග පැන් භාජන ඒ ඒ දානෙ ගෙනාපු පිරිස්වලට වෙන වෙනම සම්බන්ධ කරන්න ඕන. උදාහරණ විදියට විවිධ පවුල් සමග ඥාති හිතමිත්‍රාදීන් කොටස් 5 කට පැන් වැඩීම කරනව නම්, පැන් කෙණ්ඩි 5 ක් සමග භාජන කට්ටල 5 ක් තියල නූලක් ඒ හැම පැන් කෙණ්ඩියක් වටේටම ඔතල ඒකෙ එක කෙළවරක් අනුමෝදනාව සිද්ධ කරන ස්වාමීන් වහන්සේට දෙන්න ඕන. පිරිස් වැඩිනම් හැමෝටම පැන් කෙණ්ඩිය අල්ලන්න බැරි නිසා ඒ පිරිස ඒ නූල අල්ල ගන්න ඕන. එතකොට ඒ ඒ පිංවත් පිරිස් තම තමන්ට සම්බන්ධ පැන් කෙණ්ඩිය අල්ල ගෙන පැන් වත් කරන කොට, ස්වාමීන් වහන්සේ ගාථා කියල පැන් වැඩීම සිද්ධ කරන්න ඕන. ඒ වගේම ඒ නූලෙ සම්බන්ධය පැන් වැඩීම අවසන් වෙන කල් දිගටම තියාගන්න ඕන.

ඉතින් මේ වගේ කිහිප දෙනෙකුට එකම දවසෙ අනුමෝදනාව කරන්න සිද්ධ වුනොත් ඒකට වැඩිපුර කාලයක් ගත වෙන්න පුළුවන්. ඒ නිසා ඒ ඒ ස්වාමීන් වහන්සේලාගේ ශක්තීන් අනුව, තම තමන්ට කාලවේලාව වෙන් කරගන්න පුළුවන් විදියට දවසකට කොච්චර අනුමෝදනාවන් ප්‍රමාණයක් සිද්ධ කරන්න පුළුවන්ද කියන කාරණය උන් වහන්සේලාටම තීරණය කරන්න පුළුවන්. එහෙම අවස්ථාවක් ආවොත් ඉදිරියේදි දානෙ දෙන කොට ඇති වන තදබදය මග හැර ගන්න පුළුවන්. ඒ වගේම **මේ විදියට පෙරේත තටුවක් දීල දානයක් දෙන්න විහාරස්ථානයකට යනව නම්, ඊට පෙර අදාල විහාරස්ථානයෙන් දින වෙන් කරගෙන අවසර ලබා ගන්නත් විශේෂයෙන් මතක තියා ගන්න ඕන. එහෙම නැතිව නොදන්වා හදිසියේ හිතු මතේට දානෙ දෙන්න ගියොත් ඒ ස්වාමීන් වහන්සේලාත් අපහසුතාවයන්ට පත් වෙන්න පුළුවන්**. එහෙම වෙච්ච අවස්ථාත් තියෙනවා.

ඉතින් මේ වෙන කොට සැඟවිලා ගිය බොහෝ වටිනා ශාසන ක්‍රමයක් තමයි මේ විදියට හෙළිදරව් කළේ. මේ ක්‍රමය අනුගමනය කිරීමෙන් හැමෝටම තියෙන කරදර බාධක දුරු වෙලා, සැනසිල්ලෙන් අභිවෘද්ධියෙන් යුක්තව උතුම් නිවන් සාක්ෂාත් කරගන්න උපනිශ්‍රයක් ලබාගන්න පුළුවන්. ඒ වගේම මේ කරන ශාසන කටයුතු කවදාවත් අපතෙ යන්නෙ නෑ. මතු නිවන් දක්නා ජාති දක්වාම ඒ ශක්තිය ඇදිල ඇවිත් අභිවෘද්ධිය මතු කරල දෙනවා. මේ සම්බන්ධයෙන් මීට පෙර සඟරා කලාප කිහිපයකින්ම වැඩිපුර කරුණු හෙළිකරල තියෙන නිසා ඒ විදියට සටහන් නොවෙච්ච, වැඩිදුර විග්‍රහ නොවෙච්ච කාරණා ටිකක් තමයි මේ සටහන් කළේ. ඒ නිසා මේ හා සම්බන්ධ තවත් කරුණු කාරණා දැනගන්න අවශ්‍ය නම්, හෙළ බොදු පියුම 8, 9, 17 යන කලාපවල පළ වූ 'වැරදි අවබෝධය නිසා අභාවයට යන පෙරේත තටුව, පෙරේත තටුවක් නිවැරදිව තියන්නේ කෙසේද? නිවැරදි පුණ්‍යානුමෝදනාවක් සඳහා දැනගත යුතු කාරණා' ... ආදී වශයෙන් මේ හා සම්බන්ධිත ලිපි කියවීමෙන් තවත් විස්තර දැනගන්න පුළුවන්.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

**සටහන**
**නීතිඥ චන්දන සිරිවර්ධන**

# පිරිත්, ගාථා, සෙත් කවි ආදියට සම්බන්ධ ශබ්ද විද්‍යාවේ ඇතුල් පැත්ත...

*(පසුගිය කලාපයෙන් - ගති ගුණ, ගති හඬ සහ ගති රුව අතර සම්බන්ධය නවීන විද්‍යාව තුළින්...)*

ආදියේ පටන් පැවත එන පිරිත්, ගාථා, සෙත් කවි ආදිය සකස් කිරීමේදී ඒවාට අදාල විශේෂ ශබ්ද ශාස්ත්‍රයක්, ශබ්ද විද්‍යාවක් තිබුනත් අද වෙන කොට ඒ ශාස්ත්‍රය බොහෝ පිරිසක් නොදන්නා කරුණක් බවටත්, ගණන් නොගන්න තත්ත්වයටත් පත් වෙලා තියෙනවා. ඒ නිසාම ඒවායින් යහපත් ප්‍රතිඵල හරියට ලබාගන්න බැරි වෙලා තියෙනව වගේම, ඒ ශබ්ද ශාස්ත්‍රය වරද්දා ගැනීම නිසා නොයෙක් විපරීතයන් සිද්ධ වීමෙන් අයහපතක් සිද්ධ වෙච්ච අවස්ථාත් මිනිස්සු නොදැනුවත්වම තියෙනවා. ඒ සම්බන්ධයෙන් යම් දැනුවත් කිරීමක් තමයි මේ ලිපියෙන් සිද්ධ කරන්නෙ.

මේ ශබ්ද ශාස්ත්‍රය ගැන කතා කරන කොට අක්ෂර, ගණ, මාත්‍රා ආදී වශයෙන් ඒවා එකිනෙකට සංකලනය කිරීමේදී අකුරු 8 ක් පද 1 යි, පද 4 ක් ගාථා 1 යි... ආදී වශයෙන් එන චක්‍රයක් තියෙනවා. ගාථාවක ස්වභාවය තියෙන්නෙ ඒ විදියට. අක් කරනව කියන්නෙ යම්කිසි එක ශබ්දයක් පිට කිරීම. හැම ශබ්දයක්ම පිට කරන කොට අ, ආ, ඇ, ඈ, ඉ, ඊ, උ, ඌ, එ, ඒ, ඔ, ඕ කියන ස්වර අක්ෂරයක් තමයි මුල් වෙන්නෙ. අ... කුර. කුර ගහනව කියන්නෙ යම් කිසි ස්ථානයක පිහිටුවනවා කියන අදහස. අ කියන ශබ්දයක් පිට කරනවා කියන එක තමයි අකුරක් කියන්නෙ. උදාහරණ විදියට 'ප' යන්න ශබ්ද කරන්න ඕන නම්, ප් + අ - ප කියල තමයි ශබ්ද කරන්නෙ. 'ම' යන්න ශබ්ද කරන්න ඕන නම්, ම් + අ - ම කියල තමයි ශබ්ද කරන්නෙ. මේ විදියට අ යන්න වගේ ස්වර අක්ෂරයක් නැතිව ප්, ම් ආදී වශයෙන් තනියෙන් ශබ්ද කරන්න බෑ. ඒ ශක්තිය හරියට පිට වෙන්නෙ නෑ. එතකොට මේ ශබ්දයක් පිට කරන ක්‍රියාවලියට තමයි අකුරක් කියන්නෙ. මේ වගේ ස්වරයක් එකතු වුනේ නැත්නම් එතන තියෙන්නෙ අකුරක් නෙවෙයි, අකුරු භාගයක්. උදාහරණ විදියට ක්, න්, ං කියන්නෙ අකුරු භාග. අකුරු භාගයට අක්ෂරයක් කියන්නෙ නෑ. ඒකට ස්වරයක් එකතු වෙන්න ඕන. එතකොට ඒ ස්වරවලින් මුල් අකුර විදියට තියෙන 'අ' යන්න අරගෙන තමයි අකුරක් කියන්නෙ. අකුර කියන වචනය හැදිල තියෙන්නෙ ඒ විදියට. එතකොට අ, ආ, ඇ, ඈ.... ආදී වශයෙන් කියවෙන ස්වරයක්



එක්ක තමයි අකුරක් ශබ්ද කරන්නෙ. ත් + ඉ - ති, ම් + ඊ - මී... ආදී වශයෙන් හැම අකුරක්ම ශබ්ද කරන කොට මේ මොකක් හරි ස්වරයක් එනවා. ඒ විදියට හැදෙන කොට එන ස්වර අකුරුවලින් මුල් අකුර තමයි 'අ' කියන්නෙ. අක්ෂරයක් හැදෙන එක අවස්ථාවක් තමයි මේ ස්වරයක් සමග ව්‍යංජනයක් එකතුවීම. ඒ වගේම මේ සියලුම ස්වරත් අක්ෂර වෙනවා. එතනදි ස්වර 2 ක් එකතු වුනොත් දීර්ඝ ස්වරයක් හැදෙනවා. ඒ වගේ දීර්ඝ ස්වරයක් කියන්නෙ දීර්ඝ අක්ෂරයක්. (උදා : අ + අ - ආ) ඒ වගේම ස්වර අක්ෂරයකින් හෝ සාමාන්‍ය අක්ෂරයකින් පස්සෙ හල් අක්ෂරයක් තිබුණොත් ඒ දෙකම එකතු වෙලා එතනදිත් දීර්ඝ අක්ෂරයක් හැදෙනවා. (උදා : ඉ + න් - ඉන්, පි + න් - පින් මෙතනදි ඉන් සහ පින් කියන්නෙ දීර්ඝ අක්ෂර 2 ක්.) ශබ්ද ශාස්ත්‍රය අනුව ඒ වගේ අකුරු 8 ක් පදයකට තියෙනවා.

ඒ වගේම **ගණයක් හැදෙන්න නම් අඩු ගණනෙ ඒ වගේ අකුරු (අක්ෂර) 3 ක් ඕන වෙනවා.** ගණ වෙනව කියන්නෙ යම්කිසි දෙයක් සමූහ වෙනවා කියන එක. ඒ කියන්නෙ එක අකුරකින් යමක් විග්‍රහ කරනවට වඩා සමූහයක් එකතු වුනාම තමයි යමක් සකස් වෙලා එන්නෙ. **අකුරුවලින් යම්කිසි ශක්තියක් නිදහස් කරන්න නම් ඒකට ගණයක් හෙවත් සමූහයක් තියෙන්න ඕන.**

උදාහරණ විදියට යම්කිසි හොද්දක් හදන කොට ඒකට මොනව හරි මූලික වර්ග 3 ක් වත් ගන්න ඕන. ඇනු, මිරිස්, ලුණු කියන මේ තුනෙන් මිරිස් හොද්දක් හදන්න නම් ඇනුයි, මිරිසුයි විතරක් දැම්මට ඒක හොද්දක් වෙන්නෙ නෑ. හොද්දකට ලුණු අනිවාර්යයි. ඒ වගේම මිරිස් දාන්නෙ නැතිව අනිත් දෙක දැම්මත් හොද්දක් නෙවෙයි. මිරිස් වෙනුවට ගම්මිරිස් ටිකක් හරි දාන්න ඕන. මේ විදියට මේ තුනම එකතු වුනාම තමයි හොද්දක මූලාරම්භය පටන් ගන්නෙ. ඒ වගේම අපි ලුණු මිරිසක් කියල දෙයක් හදා ගන්නවා. ඒකටත් ඇනු, මිරිස්, ලුණු කියන තුනම දාන්න ඕන. ඒ තුනම දාල අඹර ගත්තම තමයි ලුණු මිරිස වෙන්නෙ. දෙකක් හෝ එකක් අරගෙන ඇඹරුවට ලුණු මිරිසක් වෙන්නෙ නෑ. එතකොට මේ තුන අයින් කරන්න බෑ. මිරිස් හොද්දක් කියන එක හැදෙන්නත්, ලුණු මිරිසක් හැදෙන්නත් අඩු ගානෙ මේ තුනම එකතු වෙන්න ඕන. ඔය තුනට ජලය එකතු කළාම තමයි හොද්දක් බවට පත් වෙලා සකස් වෙලා එන්නෙ.

මේ වගේ යම්කිසි විදියකින් ගණයක් හැදෙන කොට අක්ෂර 3 ක් වත් අඩු තරමින් එකතු වෙන්න ඕන. ගණයක් කිව්වෙ යමක් සකස් වෙන්න අවශ්‍ය ක්‍රමයක්. එතකොට යම්කිසි වර්ග 2 ක් එකතු කරන්න නම් ඒකට මුහුම් දාන්න ඕන. මුහුම් දම්මම ඒ තුනම එකතු වෙලා තමයි ගණ වෙන්නෙ. උදාහරණ විදියට හයිඩ්‍රජන්, ඔක්සිජන් වායු 2 ක් විදියට තිබුණට ජලය හැදෙන්නෙ නෑ. ඒ වායු 2 හරහා යම්කිසි උත්ප්‍රේරකයක් යැව්වෙ නැත්නම් ගණ වෙලා ජලය හැදෙන්නෙ නෑ. එතකොට හයිඩ්‍රජන්, ඔක්සිජන් කියන දෙක මහා ශක්තියකින් එකතු වෙලා ස්පෝටනයක් වෙලා ගිනි ගන්න සැලැස්සුවොත් ඒක ජලය සකස් වෙන්න ආරම්භයක් වෙනවා. ඒ සඳහා මොනව හරි ශක්තියක් පිටින් දෙන්න ඕන. ඒ අනුසාරයෙන් තමයි ජලය හැදෙන්න මූලාරම්භය සකස් වෙලා එන්නෙ. මේ වගේ ගණයක් හැදෙන්න අකුරු 3 කවත් එකතුවක් අවශ්‍යයි. 2 කින් සනීභවනය කරන්න බෑ. ගණයක් වෙන්නෙ යම් පදාර්ථයක්. ඒකෙන් තමයි යමක් නිපදවෙන්නෙ.

එතකොට මේ ගණයක් හැදෙන්න ජල, වායු, ගිනි ආදී වශයෙන් විවිධ අක්ෂර තියෙනවා. ඒ වගේ අක්ෂර සකස් වුනාම හැදෙන ජල ගණ, වායු ගණ, ගිනි ගණ, භූමි ගණ, දේව ගණ, චන්ද්‍ර ගණ, සූර්ය ගණ සහ ආකාශ ගණ වශයෙන් අට ආකාරයකින් ගණ තියෙනවා. ඒ වගේ හටගත්තු ගණවලින් තමයි විවිධ පදාර්ථ හැදෙන්නෙ. එතකොට මේ විදියට ගණ හටගන්නත් ජල, වායු, ගිනි ... ආදී වශයෙන් කියන මේ අක්ෂර එකතු වෙන ක්‍රමයක් තියෙනවා. ඒ ක්‍රමය ශබ්ද විද්‍යාවක්. සෙත් කවි ආදිය හදන්න ගන්න උදවිය ඒ විද්‍යා ක්‍රමය හදාරල ඒ ගැන දැන ගන්නවා. නමුත් ලොව්තුරා බුදුන් වහන්සේට, සිවුපිළිසිඹියාපත් අභිඤ්ඤාලාභී මහ රහතන් වහන්සේලාට, ඍෂිවරුන්ට ඒක වෙනම හදාරන්න ඕන නෑ. අධ්‍යාත්මික ශක්තියෙන්ම ඒ ක්‍රමවේදය උන් වහන්සේලාගේ මට්ටම්වලින්ම නැගිල එනවා. හැබැයි අතීත් අය ඒ ශබ්ද විද්‍යාව නැවත හදාරල ඒ අනුව තමයි සෙත් කවි, මන්ත්‍ර ආදිය හදන්නෙ.

එතකොට යම්කිසි විදියකින් ගින්නක් හට ගන්වල පවත්ව ගන්න නම් අඩු ගානෙ දර කැලි 3 ක්වත් ඕන වෙනවා. 2 කින් ගින්නක් හට ගෙන පවත්ව ගන්න බෑ, දරා හිටින්නෙ නෑ. තුන් පැත්තකින් දර කැලි 3 ක් තිව්වොත් ඒව එකට ඇදි ඇදී ගින්න පවත්වන්න පුළුවන්. මේ වගේ කාරණා 3 ක එකතුවක් නිසා යම් පදාර්ථයක් හැදෙනවා. ඒක තමයි ගණයක් වෙන්නෙ. ඒ ගණයක් හැදීමේදී අර කියපු ශබ්ද විද්‍යාවට අනුව එකතු වෙන ක්‍රමයක් තියෙනවා.

උදාහරණ විදියට ජලයයි, ගිනියි, වායුවයි තුනම එකට එකතු කරන්න හැදුවට බෑ. ඒකෙන් පදාර්ථයක් හැදෙන්නෙ නෑ. මේ තුනෙන්ම බිංදුව බැගින් ගත්තට යමක් හැදෙන්නෙ නෑ. ඒක ගලපන්න බෑ. එතනදි ජල බිංදු 3 ක් එකතු කරගත්තොත් නම් ජල ගණයක් හදන්න පුළුවන්. ඒ වගේ ගිනි බිංදු 3 ක් එකතු කළොත් ගිනි ගණයක් හදන්න පුළුවන්. වායු බිංදු 3 ක් එකතු කළොත් වායු ගණයක් හදන්න පුළුවන්. ඒකෙන් තමයි යමක් සකස් කරන්න පුළුවන් වෙන්නෙ. එහෙම නැත්නම් ඒකට වායුවක් ආධාර වෙන්න ඕන. දර කැලි 3 ක් එකතු කරනව වගේ ගිනි බිංදු 3 ක් එකතු කරල ඒකට වායු බිංදුවක් දුන්නොත් ඒව ආධාරයක් වෙලා ගින්න ඇවිලෙනවා. ඒ කියන්නෙ ඒකට අවශ්‍ය කරන ගණය සකස් වුනාම ඒ ගණයට තවත් ජාතිවලින් ආධාර දෙන්න පුළුවන්. හැබැයි ආධාර දෙන කොටත් ඒක සකස් කරන ක්‍රමයක් තියෙනවා. උදාහරණ විදියට ගිනි ගණයක් හැදුනට පස්සෙ ඒකට ජල බිංදුවක් දැම්මොත් එහෙම ඒක නිවෙනවා. ඒ කියන්නෙ ජල ගණයයි, ගිනි ගණයයි එකතු කරන්න බෑ. එකතු කළොත් ඒකෙ ප්‍රතිඵලයක් නෑ. මේ වගේ ශබ්ද 2 ක් ගත්තමත් ඒ දෙක නියම ක්‍රමයට එකතු වුනේ නැත්නම් ඒකෙන් හරි ප්‍රතිඵලයක් එන්නෙ නෑ.

ඊළඟට අක්ෂර අනුවම තමයි මාත්‍රා හැදෙන්නෙත්. යම්කිසි දෙයකට මුහුම් දෙනවයි කියන්නෙ යමක් සිද්ධ කරන්න අවශ්‍ය දෙයක්, යම් පොඩි දෙයක් ඒකට මුසු කරනවයි කියන එක. ඒක තමයි මාත්‍රයක් කියන්නෙ. උදාහරණයක් විදියට ජල ගණයක් හැදුනම ඒක රත් කරන්න ඕන නම්, ජල ගණ දෙකක් අරගෙන ගිනිවලින් මාත්‍රා 1 ක් දෙන්න ඕන. එහෙම නැත්නම් ඒක රත්වෙන්නෙ නෑ. ඒ වගේම ගිනි මාත්‍රා වැඩිපුර එකතු කළොත් ඒක වාෂ්ප වෙලා යනවා. එතකොට උණු කරන්න අවශ්‍ය මට්ටම ගන්න බෑ. මේ වගේ මාත්‍රා අඩු වැඩි වෙන්න ඕනෙත් ගණවීම අනුව. ඒ නිසා ගිනි ගණයක් හදන්න ඕන නම් ඒ ගිනි ගණයට ගැලපෙන දර වගේ පොළවට සම්බන්ධ පඨවියක් ගන්න ඕන. ඒ වගේම වායු මාත්‍රා 1 ක් දෙන්න ඕන. දැන් ඒකට ගිනි මාත්‍රාවක් දුන්නම ගිනි හට ගන්නවා.

මේ වගේ යම්කිසි සෙත් කිරීමක් කරන්නත් සිසිල් බව ඇති කරන ජල, වායු වගේ ඒකට ගැලපෙන ගණ, මාත්‍රා ඒ ගැලපෙන ක්‍රමයට ගන්න ඕන. උදාහරණ විදියට ශරීරය සීතල වෙලා ඉන්න කෙනෙකුට යම්කිසි මඳ උණුසුමක් දෙන්න ඕන නම් ඒකට ගිනියම් කරලත් බෑ. ඒ නිසා මඳ උණුසුම ඇති වෙන විදියට අවශ්‍ය ප්‍රමාණයට ගිනි අක්ෂරයි, වායු අක්ෂරයි ප්‍රමාණයක් දීල ජල අක්ෂරයක් දෙන්න ඕන. ඒක නිවෙන්නෙත් නැති ගානට, අවශ්‍ය අනුපාතයට මඳ උණුසුම එන විදියට තමයි දෙන්න ඕන. ඒ දෙන අනුපාතය අනුව තමයි අක්ෂර, ගණ ගැලපෙන්නෙ. ඒ වගේම මේ මාත්‍රා ගණින කොටත් ක්‍රමයක් තියෙනවා. ඒ අනුව **දීර්ඝ (ගුරු) අක්ෂරයකට මාත්‍රා 2 යි, කෙටි (ලඝු) අක්ෂරයකට මාත්‍රා 1 යි, හල් අක්ෂරයකට මාත්‍රා 1/2 යි.** ආ, මා, මෝ, මේ, මී... ආදී වශයෙන් ඇදල කියන්නෙ දීර්ඝ අක්ෂර. ඒ වගේම අ, ම, මො, මෙ, මි... ආදී වශයෙන් කියන්නෙ කෙටි අක්ෂර. ම්, ග්, න්, ර්, යි, ං... ආදී ඒව හල් අක්ෂර. ඒ වගේම කෙටි අක්ෂරයකට පස්සෙ හල් අක්ෂරයක් ආවොත් ඒ දෙකම එකතු වෙලා දීර්ඝ අක්ෂරයක් හැදෙනවා. උදාහරණ විදියට ලංකාව කියන වචනය ගත්තොත් ලං කියන්නෙ දීර්ඝ අක්ෂරයක්. ඒ වගේම දීර්ඝ අක්ෂරයකට පස්සෙ හල් අක්ෂරයක් ආවොත් ඒ දෙකම එකතු වෙලා හැදෙන්නෙත් දීර්ඝ අක්ෂරයක්. උදාහරණ විදියට සාංකාව කියන වචනය ගත්තොත් සාං කියන්නෙත් දීර්ඝ අක්ෂරයක්. මේ කාරණය ශබ්ද විද්‍යාවක්.

ඉස්සර ගාථාවක්, මන්ත්‍රයක් හදන කොටත් මූලික වශයෙන්ම ඒක සකස් කළේ ශබ්ද විද්‍යාවට අනුකූලව. **බුදුන් වහන්සේට, සිවුපිළිසිඹියාපත් මහරහතන් වහන්සේලාට ඒ ගාථා ආදිය ශබ්ද විද්‍යානුකූලවම ගෙතිල එනවා. චතුපටිසම්භිදා ඥාන තියෙන නිසා ඒකට අමුතුවෙන් වෙහෙස මහන්සි වෙන්න දෙයක් නෑ.** ඒ ඥානවලින්ම නියම ක්‍රම රටාවට ගෙතිල එනවා. නමුත් ඒ හැකියාව නැති අයට මහන්සි වෙලා ශබ්ද විද්‍යාව ඉගෙන ගෙන ඒ අනුසාරයෙන් ඒක කරන්න වෙනවා. එහෙම හදාරල තමයි බමුණො මන්ත්‍ර, ස්තෝත්‍ර ආදිය හැදුවෙ. නමුත් මූලික ඍෂිවරු ඒ වගේ මන්ත්‍ර ආදිය හැදුවෙ තමන්ගෙ අභිඤ්ඤා බලයෙන්. ඒක හිතන කොටම එන දෙයක්. එතකොට ශබ්ද ශාස්ත්‍රයට අනුව ගාථා, මන්ත්‍ර, සෙත් කවි ආදිය ගෙතීමටත් ක්‍රම 2 ක් තියෙනවා. එකක් තමන්ගෙ අධ්‍යාත්මික ශක්තියෙන්ම ගෙතීම. අනෙක ඉගෙන ගෙන හදාරල ගෙතීම. මේ නිසා අද සමහර උදවිය කවියක්, සිංදුවක් කියල අර්ථ ගලපල ගත්තට මේ කියන අක්ෂර, ගණ, මාත්‍රා ගැලපිලා නෑ. එතකොට අර්ථය ගන්න පුළුවන් වුනත් අර ශක්තිය පිහිටන්නෙ නෑ.

මේ වගේ එදා හදපු පිරිත දැන් සිංහලෙන් කියන්නෙත් අර වගේ අක්ෂර, ගණ, මාත්‍රා ගලපල නෙවෙයි. ඒක නිකං භාෂා පරිවර්තනයක් විතරයි. පාලි භාෂාවෙයි, සිංහල භාෂාවෙයි අක්ෂර, ගණ, මාත්‍රා ආදිය ගැලපීම් කියන්නෙ අවස්ථා 2 ක්. එකක තියෙන එක නෙවෙයි අනිකෙ තියෙන්නෙ. මෙතනදි සිංහලෙන් කරන්නෙ අදහස දීමක් විතරයි. ඒකෙ අක්ෂර, ගණ, මාත්‍රා පිහිටවල නෑ. නමුත් අනාදියේ පටන් පාලියෙන් එන පිරිත කියන්නෙ සිවුපිළිසිඹියාපත් මහරහතන් වහන්සේලා උන් වහන්සේලාගෙ ශක්තියෙන් ශබ්ද විද්‍යානුකූලව මුලින් හදල දීපු පිරිත් කොටස්. එතකොට ඒ පිරිතම සිංහලෙන් කියනව නම් ඒකට වෙනම අක්ෂර, ගණ, මාත්‍රා පිහිටවන්න ඕන. ඒ කටයුත්ත ඒ ශාස්ත්‍රය ඉගෙන ගත් කෙනෙක් බොහොම අමාරුවෙන් කරන්න ඕන වැඩක්. එහෙම නැත්නම් සිවුපිළිසිඹියා නුවණ තියෙන කෙනෙකුට ශබ්ද විද්‍යානුකූලවම නිරායාසයෙන්ම ගැලපිලා එන ක්‍රමවේදයක් තියෙනවා. ඒ වගේ කෙනෙකුට නම් තනියෙන් ඒ වැඩේ කරන්න පුළුවන්. එහෙම හැකියාවක් නැති කෙනෙක් ශබ්ද ශාස්ත්‍රය හැදෑරීමෙන් තොරව ඒක කරන්න ගියොත් අක්ෂර, ගණ, මාත්‍රා ගැලපීමක් නැතිව වැඩේ අවුල් කර ගන්නවා. ඉතින් පිරිත්, ගාථා, සෙත් කවි ආදී වශයෙන් අලුතින් හඳුන්වල දීල, කනට මිහිරි වෙන්න අර්ථය එන්න ඕන තරම් කියන්න පුළුවන්. නමුත් අර කියපු ශබ්ද විද්‍යාවට ගැලපුනේ නැත්නම් පිරිතකින්, ගාථාවකින්, සෙත් කවියකින් එන බලය, ශාන්තිය ඒකෙන් ලැබෙන්නෙ නෑ.

එතකොට එහෙම සිංහලෙන් කියන පිරිතක ප්‍රතිඵලය මොකක්ද? උදාහරණ විදියට කෙනෙක් සෙත් කවියක් හදල කියනවා. එතකොට ඒක සිංහලෙන් හදන කොටම ශබ්ද ශාස්ත්‍රය දැනගෙන ඒ අනුවම හැදුව නම් ඇත්තටම ඒකෙන් සෙතක් සිද්ධ වෙනවා. ඒක හරි බලවත්. මොකද සෙත් කවියක් හදන්නෙ නිකං අර්ථ ගන්න නෙවෙයි, යමෙකුට සෙතක් ශාන්තියක් කරන්න. එතකොට ශබ්ද ශාස්ත්‍රය නැතිව සෙත් කවියක් හැදුවොත් ඒක සෙත් කවියක් නෙවෙයි. මේ වගේ **පිරිත කියන එකත් හැදුනෙ නිකම්ම අර්ථයක් දෙන්න නෙවෙයි. වස් දොස් සමනය වෙලා සෙතක් ශාන්තියක් ලැබෙන ක්‍රමයට ඒ අදහසින් තමයි ඒකත් හැදුනෙ.** එතකොට මේ වගේ පිරිත සිංහලට පරිවර්තනය කරල පිරිතක් විදියට සිංහලෙන් කියන කොටත්, ඒකෙන් බලාපොරොත්තු වෙන්නෙ අර්ථ විග්‍රහ කරල දීමක් නෙවෙයි, පිරිතක තියෙන බලය, සෙත් ශාන්තිය ලබා ගැනීමක්. ඒ නිසා තමයි ඒක පිරිත් ස්වරූපයෙන් කියන්නෙ. එතකොට අර ශබ්ද ශාස්ත්‍රය දන්නෙ නැතිව ඒක කෙරුවොත් මොකද වෙන්නෙ? අර පාලි පිරිතෙ තියෙන ශාන්තිය, බලය එතන නෑ. හැබැයි අදහස නම් තියෙනවා.

ඒ වගේ එදා හිටපු අන්දරෙත් බොහොම දක්ෂ විදියට විවිධ කවි හැදුවා. හැබැයි ඒව සෙත් කවිත් නෙවෙයි, වස් කවිත් නෙවෙයි. මිනිස්සුන්ට නිකං රසාස්වාදයක් දෙන්න හදපු විහිළු කොලොප්පම් කවි. නමුත් සමහර වෙලාවට පිටින් බැලුවම සෙත් කවියක්,



වස් කවියක් වගේ අර්ථයෙන් පෙනුනත් අක්ෂර, ගණ, මාත්‍රා ගැලපිලා නැති නිසා ඒව සෙත් වෙන්නෙත් නෑ, වස් වෙන්නෙත් නෑ. අද හිටිවන කවි කියල කියන්නෙත් යම්කිසි අර්ථයක්, රසාස්වාදයක් දෙන්න හදන කවි මිසක් අර වගේ ශබ්ද ශාස්ත්‍රානුකූලව සෙත් කරන්න හදන කවි නෙවෙයි. නමුත් මිනිස්සුන්ට යම්කිසි පණිවිඩයක්, අර්ථයක්, රසාස්වාදයක් දෙන්න ඒව බොහොම හොඳයි. මොකද හිටිවන කවි කියන්නෙ කෙනෙකුට සෙත් කරන අදහසින් නෙවෙයි. යම්කිසි අර්ථයක් දීල මිනිස්සුන්ගෙ කන් පිනවන්න රසාස්වාදයක් දෙන්න.

මේ නිසා මේ ශබ්ද ශාස්ත්‍රය ප්‍රධාන වශයෙන්ම බලපාන්නෙ සෙත් කවි, ගාථා, පිරිත් ආදියට. එහෙම නැතිව කෙනෙකුට යම්කිසි දහම් පණිවිඩයක් දෙන්න හදන කවිවලට අක්ෂර, ගණ, මාත්‍රා ගැලපීම් අවශ්‍ය වෙන්නෙ නෑ. මොකද ඒ වගේ කවිවලින් කෙරෙන්නෙ ප්‍රධාන වශයෙන්ම දහම් අර්ථය වටහා දීමක් මිසක් සෙත් කිරීමක් නෙවෙයි. ඒ අරමුණින්මයි ඒ වගේ කවි හදන්නෙත්. ඒ වුනත් පිරිස් අතරට යන කවි පොතක් වගේ දෙයක් නම්, ඒක හඳුන්වා දෙන මුල් කවිය විතරක් මේ ශබ්ද ශාස්ත්‍රයට ගැලපිලා තිබීම වැදගත්. නැත්නම් ඒක නිර්මාණය කරපු කෙනාට හෝ තමන්ගෙ ඥාතීන්ට හෝ ශ්‍රාවක පිරිස්වලට දොස් එන්න පුළුවන්.

උදාහරණ විදියට සිය පින් සිරින් සරු - දෙතිස් ලකුණින් විසිතුරු... ආදී වශයෙන් වෑත්තෑවේ හිමියන් ලියපු, බොහෝ අර්ථවත් රසවත්, ඒ නිසාම මිනිස්සු අතර ප්‍රසිද්ධියටත් ගෞරවයටත් පත් වෙච්ච ගුත්තිල කාව්‍යය කියන කවි පොතේ මුල්ම කවිය විදියට සටහන් කරල තිබුණෙ මේ කවිය. සිය පින් කිව්වම ශබ්ද විද්‍යාව අනුව ඒක වායු ගණයක්. අක්ෂර බැලුවොත් මුල් ගණයට කෙටි අක්ෂර දෙකයි, දීර්ඝ අක්ෂරයයි. එතකොට ඒ කවිය උන් වහන්සේගෙ නමට යොදල බැලුවොත් මර විපාකයක් විදියට තමයි වැටෙන්නෙ. උන් වහන්සේට ඒක ගැලපෙන්නෙ නෑ. ඒ කාරණය බොහොම බරපතල විදියට දැක්ක නිසා තමයි උන් වහන්සේගෙ ගුරු හාමුදුරුවො ''වෑත්තෑවෙ මේ වැත්තේ - කොයි පැත්තේ දැයි නැත්තේ'' ආදී වශයෙන් කිව්වයි කියන්නෙ. ඒකෙන් පෙන්නුවෙ උන් වහන්සේ රට හැරල යන්න ඕන කියන අදහස. ඒ තරමට ඒ කවියෙ පළවෙනි ගණය උන් වහන්සේට නරක විදියට බලපෑවා. වායු ගණයකින් මුල් කවිය පටන් ගත්තට පස්සෙ උන් වහන්සේට ගැලපෙන්නෙ නෑ, විසි වෙන්න ඕන. ඒක තමයි ඒ ගණයෙ තියෙන බලපෑම. කවි පොත ගත්ත ගමන්ම ගුරු හාමුදුරුවො මේ දෝසය දැක්කා. ඒකෙ ගණ වැරදිලා. මේ වගේ අවස්ථාවකදි තමන්ගෙ නමට විස නැති, සශ්‍රීක වෙන, යහපතට, ශාන්තියට පත් වෙන විදියෙ ගණයකින් පටන් ගන්න ඕන වුනත්, මේ මුල් කවියෙ එහෙම ස්වභාවයක් තිබුණෙ නෑ.

දැන් මේ බුදුන් වහන්සේට වඳින්න, ගෞරව කරන්න හදපු බොහොම අර්ථවත් කවියක්. කෙලින්ම පොත පටන් ගත්තු පළවෙනි කවිය. ඒ කියන්නෙ මුළු

පොතේම අදහස දෙන්න හදපු පළමු කවිය. නමුත් ගණයෙ නොගැලපීම නිසා ඒක දෝසයක් විදියට බලපාල උන් වහන්සේට ගම, රට හැරල යන්න සිද්ධ වුනා. ඒකට තමයි උන් වහන්සේගෙ ගුරු හාමුදුරුවො උපක්‍රමයක් විදියට, පලා මැල්ලුමක් හදල වැත්තෑවෙ හාමුදුරුවන්ගෙ දානෙ පාත්තරේට තුන් පොලකින් පළා බෙදුවයි කියන්නෙ. ඒ කියන්නෙ පළ, පළ, පළ කියල නොකිය කිව්වා. මොකද උන් වහන්සේ ඒ දෝසයෙන් බේර ගන්නත් ඕන. හැබැයි යන්න කියල එක පාරටම කියන්නත් බෑ. මොකද එතකොට සිත් අමනාපකම් ඇති වෙලා දෝසය වැඩිවෙන්නත් පුළුවන්. නමුත් උන් වහන්සේට මේ ගැන උපක්‍රමශීලීව හඟවන්නත් ඕන නිසා ඒකට උපක්‍රමයක් විදියට තමයි උන් වහන්සේගෙ දානෙ පාත්තරේට අර විදියට තුන් පොළකින් පළා බෙදුවයි කියන්නෙ.



දැන් උන් වහන්සේ දානෙ වළඳන්න ලෑස්ති වෙනකොට තුන් පොළක පළා මැල්ලුම. මොකද මේ පළා, පළා, පළා තුන් පොළටම බෙදුවෙ කියල උන් වහන්සේ කල්පනා කළා. උන් වහන්සේට හොඳ නුවණක් තිබ්බ්ච නිසා ඒ නුවණට මේ කාරණය ගෝචර වෙලා මේ පළ, පළ, පළ කියල තමන්ට යන්න කියනවයි කියන කාරණය දැනගත්තා. උඹ පලයන්, උඹට හොඳ නෑ කියල අණ පනවල දැනුම් දුන්න නම් ඒක ගැලපෙන්නෙ නැති නිසා තමයි ගුරු හාමුදුරුවො අර විදියට ප්‍රයෝග සම්පත්තියෙන් සියුම් උපක්‍රමයක් අනුගමනය කළේ. ඒ ක්‍රමයට තමයි ඒ අවස්ථාවෙ උන් වහන්සේව ඒ වස් දොසින් බේර ගත්තයි කියන්නෙ. අදත් පළ නොකිය පළා බෙදනවයි කියල කතාවට කියන්නෙත් මේ වගේ අවස්ථා එනකොට.

දැන් එතකොට ප්‍රසිද්ධ කවි පොතක් ලියන කොට වුනත් ඒ තරම් විශාල බලයක් පළවෙනි කවියෙ, පළවෙනි ගණය හරහා ක්‍රියාත්මක වෙන බව මේ වගේ කාරණාවලින් පැහැදිලි වෙනවා. අද වුනත් මේ කාරණය ඒ වගේ සමහර උදවියට බලපාල තියෙන්න පුළුවන්. නමුත් මේ වගේ කාරණයකින් සිද්ධ වුනයි කියල අඳුන ගන්න විදියක් නැතිව නන්නත්තාර වෙච්ච උදවියත් ඉන්න පුළුවන්. මොකද මේ ශබ්ද ශාස්ත්‍රයේ තියෙන බරපතලකම නොදන්න නිසා. කොහොම හරි කර්ම විපාකත් සම්බන්ධ වෙලා තමයි එහෙම අඩුපාඩුවක් වුනත් සිද්ධ වෙන්නෙ. කර්ම විපාකය බලවත් නම් තමන් නොදැනුවත්වම එහෙම දෝස එන්න පුළුවන්. එහෙම නැත්නම් ඒ වගේ දේවල් හැමෝටම වෙන්නෙත් නෑ. උදාහරණ විදියට ලෝ වැඩ සඟරාව ගත්තොත් ඒක ලියපු කතුවරයාණන්ට වහන්සේට එහෙම දෝස ඇවිත් නෑ. ඒකෙ පටන් ගැන්ම ශබ්ද විද්‍යානුකූලව හරියට ඇවිත් තියෙනවා. මේ නිසා **විශේෂයෙන් සෙත් කවි හදන කොට නම් කවියක් කවියක් ගානෙ මේ අක්ෂර, ගණ, මාත්‍රා ගැලපිලා තියෙන්නම ඕන. අර්ථ දෙන්න කවි පොත් ලියන කොට නම් ඒ කවි පොතේ නම / මාතෘකාවට අමතරව පළවෙනි කවියෙ පළවෙනි ගණයට විතරක් ශබ්ද ශාස්ත්‍රය ගැලපුනාම ප්‍රමාණවත්.** එතකොට පළවෙනි ගණය විතරයි විශේෂයෙන් බලපාන්නෙ.

**කවි පොත් විතරක් නෙවෙයි මිනිස්සු අතරට යන පුවත් පතක්, සඟරාවක්, පොතක් පතක්, ගීතයක් වුනත් මේ හැම එකකටම ඒවායේ අභ්‍යන්තරය ශබ්ද විද්‍යාවට නොගැලපුනාට ආරම්භය ගැලපිලා තිබීම වැදගත්.** ඒ කියන්නෙ මෙතනදි ඒ පුවත්පතේ හෝ සඟරාවෙ හෝ පොතේ හෝ නම තමයි බොහෝ කොටම ආරම්භය විදියට බලපාන්නෙ. ඇතුල ප්‍රශ්නයක් නෑ. ගීතයක් නම් ඒ පද මාලාවෙ මුල් ගණය තමයි බොහෝ කොටම බලපාන්නෙ. නමුත් සමහර වෙලාවට ආරම්භයේ ගණවල තියෙන දෝස වුනත් වෙනත් හේතු නිසා, ඒ පද මාලාවන්ගෙ වෙනත් බලවත් ගණවලින් කැපෙන අවස්ථා තියෙන්න පුළුවන්. ඒ නිසා මේ කාරණය පොදුවේ තමයි පෙන්වා දෙන්නෙ. විශේෂයෙන් සමූහයක් උදෙසා දෙන දෙයක් නම් ඒකෙ මුල සමූහ වෙලා තියෙන්න ඕන. ඒ කියන්නෙ ගණයක් හැදිල තියෙන්න ඕන. මේ කාරණය ශාස්ත්‍රානුකූලව දැනගෙන හිටියෙ නැතත් ජනතාව අතරට යන විශේෂ දෙයක් නම් ඒකෙ මුල් නම ඉදිරි පැවැත්මට වගේම ඒවා නිර්මාණය කරපු උදවියටත් බලපානවා.

එතකොට සමූහයක් හෙවත් ගණයක් හැදෙන්න අඩු තරමින් මාත්‍රා 3 ක් එන්න ඕන. මාත්‍රා 3 ට වැඩි වුනාට කමක් නෑ, අඩු වෙන්න බෑ. ඒ වගේම ඒ මුල් ගණයට අඩු තරමින් අකුරු 3 ක් එන්නත් ඕන. එතනදි හල් අක්ෂර එනව නම් ඒවත් අකුරු භාග විදියට අරගෙන එකතු කරන්න පුළුවන්. දැන් මේ විදියට මුල් ගණය ගැලපිච්ච අවස්ථාවක් විදියට ලෝ වැඩ සඟරාව ගත්තොත්, ලෝ - මාත්‍රා 2 යි + වැ - මාත්‍රා 1 යි + ඩ - මාත්‍රා 1 යි = මාත්‍රා 4 යි. ඒ වගේම ඒ සඟරාවෙ මුල් කවිය ගත්තොත්, සෙත් සිරි දෙන මහ ගුණ මුහුදානන් කියන කොට සෙත් - මාත්‍රා 1.5 යි + සි - මාත්‍රා 1 යි + රි - මාත්‍රා 1 යි = මාත්‍රා 3.5 යි. ඒ වගේම මේ අවස්ථා දෙකේදීම දීර්ඝ අක්ෂරයයි, කෙටි අක්ෂර 2 යි එකතු වෙලා තමයි මුල් ගණය හැදිල තියෙන්නෙ. ඒ කියන්නෙ ඔක්කොම අක්ෂර 3 යි. එතකොට ඒ අවස්ථා දෙකේදීම ගණය සම්පූර්ණ වෙලා තියෙනවා. ඒක චන්ද්‍ර ගණයක්. පොදුවෙ බැලුවොත් විපාකය විදියට එන්නෙ යසස්. නමුත් තවත් සියුම් විදියට බලනව නම් ඒක ලියපු කතුවරයාණන් වහන්සේගෙ නමටත් ගලපල හුඟක් ගැඹුරට බලන ක්‍රමයක් තියෙනවා. ඒ වගේම සමහර විට විසෙන් විස නසනව වගේ, මුල් ගණය නරකට හිටියත් වෙනත් පැත්තකින් ඒ දෝසය කැපෙන අවස්ථාත් තියෙන්න පුළුවන්. නමුත් ඒ කාරණය බොහෝ ගැඹුරට ශබ්ද විද්‍යාව ගැන දන්න උදවියට තමයි කියන්න පුළුවන් වෙන්නෙ. ඒ නිසා මේ වගේ දේවල් කරන කොට ශබ්ද විද්‍යාව අනුව කටයුතු නොකළොත් අර වගේ දෝස එන්න පුළුවන්.

දැන් මේ වගේම දෙයක් එදා අපේ ජාතික ගීයටත් සිද්ධ වුණා. නමෝ නමෝ මාතා කියල ජාතික ගීය පටන් ගත්තම න + මෝ + න කියන කොට කෙටි අක්ෂරයයි, දීර්ඝ අක්ෂරයයි, කෙටි අක්ෂරයයි විදියට තමයි මුලට අකුරු 3 එකතු වෙලා ගණය හැදෙන්නෙ. මේ විදියට පළවෙනි ගණයට කෙටි අක්ෂර දෙකක් දෙපැත්තට ඇවිත් මැදට දීර්ඝ අක්ෂරයක් ආවොත් ඒකෙන් ලැබෙන ගණය සූර්ය ගණයක් වෙනවා. එතකොට ඒක මඩෝර වගේ දෙයක් වෙනවා. මඩෝර කියන්නෙ මැඩ ☞

පවත්වනවා, හැම වෙලේම මැඩෙනවා, වගතුවක් වෙන්නෙ නෑ කියන එක. ඒකෙ විපාකය තමයි රෝගාබාධ. එතකොට ඒ වගේ දෙයක් ජාතික ගීය වගේ හැමෝම කියන ප්‍රසිද්ධ ගීයක මුලට දැම්මොත් ජාතියේ විනාසයට ඒක හේතු වෙනවා. නමුත් මේ කාරණය දැනගෙන, එදා හිටපු ශබ්ද ශාස්ත්‍රය දන්න උදවිය උපදෙස් දීල තමයි ශ්‍රී ලංකා මාතා කියල මුලට දාල ඒක වෙනස් කළේ. ශ්‍රී + ලං + කා කිව්වම දීර්ඝ අක්ෂර 3 ක්මයි මුලට යෙදෙන්නෙ. එතකොට භූමි ගණයක් හැදෙන්නෙ. ශ්‍රී ලංකා කියන්නෙත් භූමිය. එතකොට ගණයත් භූමි ගණයක්. ඒ දෙකම ගැලපිලා. භූමියෙන් ජය ලැබෙනවා. විපාක විදියට එන්නෙත් ජය. ඒ නිසා දැන් ජාතික ගීය ජය පැත්තට තමයි තියෙන්නෙ. නමුත් කලින් තිබුනෙ මැඩෙන සහ රෝගවලට හේතු වෙන විදියට. එතකොට මේ ජාතික ගීය මුලින්ම අදහස දැනගෙන අර්ථවත්ව හැදුවට අර වගේ අක්ෂර, ගණ, මාත්‍රා ගලපන ශබ්ද ශාස්ත්‍රය දැනගෙන ඉඳල නැති බව මේ කාරණයෙන් පෙනී යනවා. මේ වගේ කාරණාවලට අදාළ ශබ්ද ශාස්ත්‍රය අද ඉන්න උදවියටත් යම් පමණකට හරි බලාගන්න අවශ්‍ය නම්, ආර්. කේ. රෝහන් සිසිර කුමාර මහත්තය ලියපු ලංකා ග්‍රහස්ඵුට ලිතෙන් මේ අක්ෂර, ගණ පිහිටීම් බලාගන්න පුළුවන්. හැබැයි ඒකට මේ ශාස්ත්‍රය ගැන යම්කිසි මූලික දැනීමක් අවශ්‍ය වෙනවා.

දැන් මේ වගේ අද කාලෙ වෙච්ච තවත් බරපතල වැරැද්දක් තමයි පිරිත සිංහලෙන් සජ්ඣායනා කිරීම. දැන් මේ වැරැද්ද මේ විදියට පෙන්වා දෙන්නෙ කවුරුවත් පෞද්ගලිකව විවේචනයට ලක් කරන්නවත්, දොස් කියන්නවත් නෙවෙයි. මේකෙන් සිද්ධ වෙන අවැඩ පෙන්වා දීල, පුළුවන් නම් ඒකෙන් බේරෙන්න ක්‍රමයක් තමයි මේ කියන්නෙ. දැන් මේ හුඟක් පිරිත් සූත්‍ර දේශනා පටන් ගන්නෙ ''ඒවං මේ සුතං'' කියල. එතකොට හුඟක් සූත්‍ර ඒ විදියට පටන් අරගෙන තියෙන්නත් හේතුවක් තියෙන්න ඕන. ඒ + වං + මේ කියන කොට දීර්ඝ අක්ෂර 3 කින් තමයි මුල් ගණය හැදෙන්නෙ. ඒ ගණයට අනුව නම් ඒකෙ විපාක විදියට එන්නෙ ජය. ඒ කියන්නෙ ජයග්‍රහණයට හේතු වෙන විදියට තමයි ගණය හැදිල තියෙන්නෙ. දැන් අර ඒවං මේ සුතං කියන එක සිංහලෙන් ඇදල පිරිත් විදියට කියන්න ගියාම අර මුලින් පාලි වචනවල තිබ්ච්ච මාත්‍රා, ගණ ඔක්කොම වෙනස් වෙනවා. එතකොට ඒ පිරිතෙන් බලය ගන්න බැරිව යනවා. මොකද පරි අත්ත හෙවත් පිරිත් කියන්නෙ යම්කිසි පර්යායකට, පෙළකට අක්ෂර, ගණ, මාත්‍රා ක්‍රමානුකූලව ගැලපිලා ආපු ක්‍රම රටාවක්. විශේෂයෙන් පිරුවානා පොත් වහන්සේ තුළ තියෙන්නෙ දෙවි, බඹ, මිනිස් ඇතුළු සියලු ලෝකවාසීන්ටම යම්කිසි යහපතක්, ශාන්තියක් සිද්ධ වෙන විදියට ශබ්ද ශාස්ත්‍රය පිහිටවපු ක්‍රම රටාවක්. නිවන් දකින ධර්මයක් ඒකෙන් කියවුනත් ඒව ගලපල තියෙන්නෙ ප්‍රධාන වශයෙන්ම සෙතක් ශාන්තියක් වෙන්න කියන අදහසින්, එහෙම වෙන විදියට. මේ නිසා තමයි එදා විශාලා මහනුවර ඇති වෙච්ච තුන් බිය දුරු කරන්නත් රතන සූත්‍රයෙන් සෙත් කරල පැන් ඉස්සෙ. නිකං ධර්ම දේශනයක් නොකර පිරිත් විදියට කිව්වෙ ඒ නිසා.

එතකොට මේ පිරිත කියන කොට නිකං ධර්ම දේශනයක් නෙවෙයි, එක්තරා ක්‍රමානුකූල ශබ්ද රටාවකට ඒක දිගට වැලට ගෙතිල යනවා. හැබැයි ඒකම සිංහලට පරිවර්තනය කරල පිරිත් රටාවටම වැලක් වගේ කියාගෙන යන කොට අර අක්ෂර, ගණ, මාත්‍රා ගලපන්න බැරිව යනවා. ඒ විදියට පිරිතක් වශයෙන් කියන කොට ඒක සාමාන්‍ය සජ්ඣායනයක් වෙන්නෙ නෑ. දහස් ගණනක පිරිසක් එක වරකට කියනවා, එහෙම කියන්න පෙළඹෙනවා. එතකොට එන දෝසයත් වැඩියි. මොකද මේ සිංහලෙන් කියන පිරිතත් නිකං අදහස් දෙන්න හදපු එකක් නෙවෙයි. පිරිතක් වගේ දිගටම කියන්නෙ සෙත් කරන අදහසින්මයි. **අදහස දෙන්න කියන එකයි, සෙත් වෙන්න කියන එකයි ක්‍රම දෙකක්. ඒ නිසා සෙත් වෙන්න පිරිතක් වශයෙන් ලයාන්විතව කියන කොට ඒක අර කියන ශබ්ද ශාස්ත්‍රයට ගැලපිලා තියෙන්න ඕන.** ඒකට තමයි පද වැල කියන්නෙ. ඒ පද වැල වැරැද්දුවොත් තමයි අක්ෂර, ගණ, මාත්‍රා වරදින්නෙ. මුල, මැද, අග හැම තැනම පදවැල කියන එක හරියට තියෙන්න ඕන. එහෙම නැතිව අකුරු තිබ්ච්ච පළියට බෑ. පිරිතක් වගේ කියන්න පුළුවන්, නමුත් පද වැලට ගැලපෙන්න ඕන.

එතකොට මේ පාලි පිරිතක තියෙන පද වැල සිංහලෙන් ගන්න එක හරි අමාරු වැඩක්. ඒක ශබ්ද විද්‍යාව දන්න කෙනෙක් ආයාසයෙන්මයි හදල ගන්න ඕන. එහෙම නැත්නම් සිවුපිළිසිඹියාපත් නුවණ වැඩිච්ච කෙනෙකුට අර කලින් කිව්ව වගේ නිරායාසයෙන්ම ගෙතිල එන්න ඕන. ඉතින් සිවුපිළිසිඹියාපත් නුවණක්, හොඳ සමාධියක් තියෙනව නම් මේ වගේ අවස්ථාවක හරියටම ශබ්ද විද්‍යානුකූලවම ගැලපිලා එනවා. විශේෂයෙන් පටිභාන කවි ගෙතෙන කොට ඒ ක්‍රමය හරියටම අහු වෙනවා. ඒකට අමුතුවෙන් කරන්න දෙයක් නෑ. ශබ්ද ශාස්ත්‍රයට අනුකූලවම ගෙතිල තමයි ඒ පද පිටවෙන්නෙ. පළවෙනි පදය කියල දෙවෙනි පදය පටන් ගන්න කොටම නිරායාසයෙන්ම ගෙතිල එනවා. එතකොට පද හදනව නෙවෙයි, හැදෙනවා. ඊළඟට මොකක්ද ගන්න ඕන පද වැල කියල, එහෙම හිත හිතා ඉන්න වෙලාවක් නෑ. සමාධියට ගෝචර වෙලා ඒක නිරායාසයෙන්ම එනවා. දහම් කතාවක් වුනත් හරියට සමාධි ගත වෙලා කරනව නම් ඒ කතාව හැදෙන්නෙත් ශබ්ද විද්‍යාව අනුසාරයෙන්මයි. ඒ කතාවත් එක්තරා ලතාවකට තමයි ගෙතිල එන්නෙ. ඒ නිසා තමයි සිවුපිළිසිඹියාපත් මහරහතන් වහන්සේලාගෙ ඒ ශක්තිය ඉහළින් වැඩිච්ච නිසා, උන් වහන්සේලා ධර්ම දේශනා කරන කොට ඕන තරම් වෙලාවක් අපහසුතාවයකින් තොරව අහගෙන ඉන්න හිතෙන්නෙ. නමුත් සමහර අය කතා කරන කොටත් අහගෙන ඉන්න බෑ. ටිකක් වෙලා අහගෙන ඉන්න කොට එපා වෙනවා, අර ක්‍රමානුකූල රටාව නෑ. ඉතින් ඒක කෘතීමව හදන්නත් බෑ. බණ භාවනා කරල යම්කිසි ශක්තියකින් සසර ආපු පුරුද්දකින්මයි මතු වෙන්න ඕන.

මේ නිසා සිංහලෙන් පිරිත් කියන කොට ඒවායේ සිංහල අර්ථ දැනගත්ත පලියට හරි යන්නෙ නෑ. ශබ්ද විද්‍යාව අනුව ඒක ඉදිරිපත් කළේ නැත්නම් යා දෙන්නෙ නෑ. ඉතින් මේ දැන් පාලියෙන් තියෙන පිරිත ශබ්ද ශාස්ත්‍රානුකූලවම හදල තියෙන නිසා තමයි මෙච්චර කාලයක් රැකිල තියෙන්නෙ. අනෙක් ගාථා වුනත් එහෙමයි. උදාහරණ විදිහට සනසාරප්ප දිත්තේන කියන කොට සමහරු ඕකට තේල පජ්ජෝත දිත්තේන... ආදී වශයෙන් මොනව හරි කෑලි දාල වෙනස් කරල කියන අවස්ථාත් තියෙනවා. පාලි භාෂාව ඉගෙන ගත්තු අය තමන්ගෙ උගත්කමට, මතයට මේ වගේ ගාථා වෙනස් කරල කියනවා. ඒ අය විතරක් ඒක හදාගෙන තනියෙන් කියනවා. සමහර අය තමන් පාලි දන්න බව පෙන්වන්න මේ වගේ වෙනස්කම් කරනවා. ඒ අය හිතන්නෙ පාලි හොඳට දැනගත්තම ඔක්කොම හරි කියල. නමුත් ශබ්ද විද්‍යාව නැත්නම් ඒකෙන් වැඩක් වෙන්නෙ නෑ. තමන්ට යම්කිසි සමාධියක් නැත්නම් ඒකෙ තියෙන වැරැද්දක්වත් අහුවෙන්නෙ නෑ. එතන තියෙන්නෙ නිකං උගත්කමක්, භාෂා දැනීමක් විතරයි. හුඟක් ගැඹුරු ශබ්ද ශාස්ත්‍රය ගැන දැනීමක් නෑ.

**ඉතින් මේ විදියට අනාදියේ පටන් සිවුපිළිසිඹියාපත් මහ රහතන් වහන්සේලාගෙන් ගෙනාපු පිරිත්, ගාථා ආදිය අද වෙන කොට සමහරු තමන්ගෙ මතයට වෙනස් කරන්න පෙළඹිලා තියෙනවා.** නමුත් තමන් දන්නෙ නැතිවම කාලයක් යන කොට ඒක සාපයක් වෙලා

තමන්ටම දොස් එන්න පුළුවන්. එහෙම දොස් ආවත් ඒ නිසා ආව කියල ඒ අය දන්නෙත් නෑ. මේ නිසා මේ ක්‍රමවේදය ගැන දැනුවත් වෙලා ඉඳීම තමන්ටම යහපත්. තමන් ඒ ක්‍රමවේදය දන්නෙ නැත්නම් දන්න අය හදල දීපු එක කියනව මිසක් අලුතින් කෑලි එකතු කරල පරිවර්තනය කරල කියන්න හොඳ නෑ.

මොකද මේ අනාදිමත් කාලයක පටන් එන පිරිත්, ගාථා අපට ඕන ඕන විදියට වෙනස් කරන්න බෑ. සිවුපිළිසිඹියාව පිහිටපු අයමයි ඒව හදල තියෙන්නෙ. සිංහලෙන් හරි මොන භාෂාවකින් හරි ඒක පරිවර්තනය කරල කියන්න පුළුවන් වෙන්නෙත් ඒ වගේ අයටමයි. ඒ හැකියාව නිකං කෙනෙකුට පිහිටන්නෙ නෑ. ඒක සමාධියට ගෝචර වෙන මහ ගැඹුරු විද්‍යාවක්. අධ්‍යාත්මික ශක්තියක් නැත්නම් ඒක හරියට අහු වෙන්නෙත් නෑ.

ඒ වගේම මෙතනදි ඝන සාරප්ප දිත්තේන කියන කොට ඒක ආපු ක්‍රම රටාවක් තියෙනවා. නමුත් ඒ ක්‍රම රටාවට නෙවෙයි, තේල පජ්ජෝත කියන කොට එන්නෙ. නමුත් පිටින් බැලුවම හරි වගේ පේනවා. ඒ වුනාට ශබ්ද ශාස්ත්‍රයට දාල බැලුවොත් මුල් ගාථාවට වඩා වෙනස්. ඒ වගේම මේ මුල් ගාථාව ගත්තොත් ඝන සාරප්ප කියල කපුරුවලට සම්බන්ධ කරල තියෙනවා. කපුරු මිශ්‍ර ආලෝකයෙන් කියල එහෙම අදහසක් කියවෙනවා. නමුත් දැන් පහන් පත්තු කරන්න ගන්නෙ කපුරු නෙවෙයි, තෙල් නිසා තෙල් මිශ්‍ර ආලෝකයෙන් කියල අදහස එන්න තමයි තේල පජ්ජෝත කියල වෙනස් කරන්න හේතුවක් වෙලා තියෙන්නෙ. නමුත් මුල් ගාථාව ගත්තොත් ඝනසාර ආපය කියන්නෙ යම් කිසි ගණයක තියෙන සාරවත් ද්‍රව ගතිය. ඒක කපුරුවලට විතරක් තියෙන එකක් නෙවෙයි. දිය කරල ගන්න යම්කිසි සාරයක් තියෙනව නම් ඒකත් අහු වෙනවා. නමුත් ඒ ගති ලක්ෂණය ඉස්සෙල්ල කපුරුවලට ආදේශ කරල කතා කරල තියෙන නිසා, දැන් හිතන් ඉන්නෙ කපුරුවලට විතරයි ඝනසාරප්ප කියන්නෙ කියල. නමුත් කපුරුවලට එහෙම කිව්ව පළියට ඒකට විතරමයි අනෙක් ඒවට නැහැ කියන්න බෑ. මොකද පොල් කියන ඒවත් ඝනයි. ඒක මිරිකල සාරය ගත්තම තමයි පොල්තෙල් හෙවත් සාර ආපයක් බවට පත් වෙන්නෙ. ඒකට තමයි ඝනසාරප්ප කිව්වෙ. කපුරු කියන්නෙත් මුලින් ඝන දෙයක්. ඒක රත් වුනාමත් ද්‍රව වෙලා සාර ආපයක් හැදෙනවා. ඒ තමයි ඒකෙ තියෙන පත්තු වෙන තෙල් ගතිය. නමුත් ඒ ගතිය කපුරුවලට විතරක් නෙවෙයි පොල් තෙල්, තල තෙල්, දොඹ ඇට තෙල් මේ මොකක් ගත්තත් ඒ ඝන ද්‍රව්‍ය මිරිකල තමයි සාරය ගන්නෙ. ඒක තමයි අන්තිමට තෙල වෙන්නෙ. ඒ කියන්නෙ ඝන දෙයකින් පෙරා ගත්තු දෙය. එතකොට අර විදියට අදහස එන්න පදය වෙනස් කරල තමයි මේ අරගෙන තියෙන්නෙ. හොඳයි කොහොම හරි අර්ථය හරි ගියා කියල හිතමු. ඒත් ශබ්ද රටාව වෙනස් වෙලා. අර පෙර තිබිච්ච ශබ්ද රටාව දැන් මේ ගාථාවෙ නෑ. පද වෙනස් කළාට ඒවායේ ශබ්ද රටාව ගැලපිලා නෑ. ඒව ගැලපුනේ නැත්නම් ඒ ගාථාවෙන් බල නගන්න බැරි වෙනවා. ඒ නිසා එහෙම පද වෙනස් කරන කොටත් ඒකටත් ක්‍රමයක් තියෙනවා.

උදාහරණ විදියට සිංහලෙන් කවි ලියන කොට සමහර අකුරු පද කෙටි කරල කවියට ගැලපෙන විදියට ගන්නවා. උදාහරණ විදියට මේ සසර කියන එක මෙසසර කියලත්, ඒත් කියන එක එත් කියලත් යොදනවා. ඒ වගේ තැනට ඔබින විදියට හදල ගන්න ඕන. හැබැයි එතනදි භාෂා රීතියට වඩා කාව්‍ය රීතිය තමයි බලපාන්නෙ. ඒ වගේ ගාථාවකදිත් භාෂා රීතියට වඩා ගාථා රීතිය තමයි බලපාන්නෙ. ඒක තමයි වැදගත් කරල සලකන්න ඕන. එහෙම නැත්නම් නොයෙක් වස් දොස් එන්න පුළුවන්. එතකොට ගාථාවකින්, පිරිතකින් ප්‍රයෝජන ගන්න බැරිව යනවා. සිංහලෙන් ඒවායේ තේරුම දැනගන්න ඕන. එහෙම දැන ගන්න එක හොඳයි. නමුත් ඒක වෙනම කාරණයක්. ගාථාවක්, පිරිතක් කියන කොට ඒක කියන්න ඕන ශබ්ද ශාස්ත්‍රය අනුව. ඒ නිසා අර්ථ දැනගත්ත පළියට ඒ වචනවලින් බල නැගෙන්නෙ නෑ. ඒකට තමයි ශබ්ද විද්‍යාව කියල දෙයක් තියෙන්නෙ. **මෙතනදි අර්ථ රසය වෙනයි, ශබ්ද රසය වෙනයි. අර්ථ රසය කෙලින්ම අවබෝධයට සම්බන්ධයි. ශබ්ද රසය අවබෝධයට උපනිශ්‍රය වෙනව වගේම විශේෂයෙන් සෙත් ශාන්තියට හේතු වෙනවා. ඒ නිසා තමයි එදා පිරිත් දේශනයක් ඇහිල ගෙම්බෙක් මණ්ඩුක දිව්‍ය පුත්‍රය වෙලා ඉපදුනේ. ඒ තිරිසන් සතාට අර්ථයක් වැටහිලා නෙවෙයි. තනිකරම ශබ්ද රසය තමයි ඒ සතා ගත්තෙ.** ඒ ශබ්ද රසය තිබුණෙ නැත්නම් ඒ වගේ දෙයක් සිද්ධ වෙන්නෙ නෑ.

ඒ වගේම තවත් සමහරු මෙච්චර කලක් ගෙනාපු අධිවාසෙ තුනෝ හන්තේ... ආදී වශයෙන් කියන ගාථාවෙ පතිගන්හාතු මුත්තමං කියන අග කොටස උත්තමං කියල වෙනස් කරල කියනවා. මෙතනදි මුත්තමං කිව්වෙ මහා උත්තම හෙවත් මහෝත්තමයාණන් කියන එක. නමුත් ඒක තෝර ගන්න බැරිව තමයි අර විදියට උත්තමං කියල වෙනස් කරල කියන්නෙ. ඒ කියන්නෙ උත්තමයන් වහන්සේ කියන අදහස. නමුත් මහා උත්තමයන් වහන්සේයි, උත්තමයන් වහන්සේයි කියන කොට මේ දෙකේ පැහැදිලිවම වෙනසක් තියෙනවා. උත්තම කියනවට වඩා මහා උත්තම කියන එක පූජනීයයි, ගෞරවනීයයි. ඒකවත් තෝර ගන්න බැරිව මේ විදියට වචන වෙනස් කළාම දැන් අර කලින් තිබිච්ච ගෞරව අදහස අඩු වෙනවා. නමුත් ඒක ඒ අය දන්නෙ නෑ.

ඒ වගේම මෑත කාලයේ පටන් ගෞතම බුදුන් වහන්සේට පූජා කරන අදහසින්, පතිගන්හාතු ගෝතමං කියලත් සමහරු අලුතින් හදල කියනවා. නමුත් මේ විදියට ගෝතමං කියල යෙදුවම අර්ථය එන්නෙ නිකම්ම, ගෝතමයන්ට පිළිගන්වනව කියල. අර කලින් තිබිච්ච ගෞරවය මුකුත් නෑ. එතකොට අර මුලින්ම මහා උත්තමය කියපු එක පස්සෙ උත්තමය වෙලා අන්තිමට ගෝතමය වුණා. ඉතින් පණ්ඩිතකමට හැදුවට මොන තරම් අගෞරවයක්ද අන්තිමට වෙලා තියෙන්නෙ? ඒ වගේම මෙතනදි ලොවුතුරා බුදුන් වහන්සේ කිව්වම ගෞතම බුදුන් වහන්සේ විතරක් නෙවෙයි, සියලුම බුදුවරයන් වහන්සේලා අයිති වෙනවා. දැන් එතකොට මොකද වෙන්නෙ, අර මුත්තමං කියල සියලු මහා උත්තමයන් වහන්සේලා හෙවත් සියලු බුදුවරයන් වහන්සේලා සංකේතමත් කරන්න තිබිච්ච වචනය ගෝතමං කියල වෙනස් කරල, ගෞතම බුදුන් වහන්සේ විතරක් පුද්ගලිකත්වයකින් අරගෙන තියෙනවා. මෙච්චර කලක් මේ පාරම්පරිකව ගෙනාපු ගාථාව මේ විදියට වෙනස් කළා කියන්නෙ, ඒකට නිග්‍රහ කරල අයින් කළයි කියන එක. ඒ කියන්නෙ ඒකෙ අඩුපාඩුවක්, වැරැද්දක් තියෙනව, මීට වඩා අපි දන්නවා කියන මතයෙ ඉඳගෙන තමයි මේ වෙනස් කිරීම කරල තියෙන්නෙ. නමුත් ඊට වඩා ගැඹුරට දැන ගත්තු උදවිය තමයි එදා මේ ගාථාව හදල තියෙන්නෙ.

නමුත් මේ වගේ කාරණා තෝර ගන්න බැරිව සමහරු පණ්ඩිතකමට භාෂා රීතීන් දාල අලුතින් හදල කියනවා. මොකද භාෂා රීති දැනගත්තට අර මුල් ගාථාවල වචනවලින් කියවෙන අදහස දන්නෙ නෑ. මේ සම්බන්ධයෙන් යම්කිසි දැනුවත් කිරීමක් කළේ කවුරුවත් විවේචනය කරන්නවත්, කාටවත් අපහාස කරන්නවත් නෙවෙයි, හැමෝගෙම යහපතට.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# මස් ලේ කයේ ක්‍රියාකාරීත්වයට සහ සශ්‍රීකත්වයට සිතිවිලි බලපාන හැටි

*(පසුගිය කලාපයෙන්: සූක්ෂම මනෝ කායේ සැබෑ තතු....)*

සූක්ෂම මනෝ කයට අදාල භාව රූපයේ වෙනස්වීම නිසා ස්ත්‍රී පුරුෂ භට ගන්නා හැටි පසුගිය කලාපයේ පළ වූ ලිපියේ අවසන් කොටසින් විග්‍රහ කළා. ඒ කාරණය තවදුරටත් මේ විදියට පැහැදිලි කරන්න පුළුවන්. පුරුෂ බවට පත්වෙන්න ඉන්න කෙනෙක් නම්, ඒ කෙනාගෙ ස්ත්‍රී භාව රූපය ඉතාමත් දුර්වල වෙන්න පුළුවන්. පුරුෂ භාව රූපයක් තිබුණොත් ඒක සමහර විට මෙහෙම වෙනවා. ඒ කියන්නෙ යම් කිසි අවස්ථාවක ස්ත්‍රී ලක්ෂණය ගෙවිල පුරුෂ ලක්ෂණය එනව නම්, මුලින්ම මේ දෙකේ මිශ්‍රණයක් වශයෙන් තමයි එන්නෙ. කාලෙකදි ඒ ප්‍රමාණෙ ඇවිත් නැවත ඉතිරි ටික මතුවෙලා එනවා. ඒ වගේම එක සැරේ ස්ත්‍රී පුරුෂ භාව රූප දෙක එකට පිහිටන අයත් ඉන්නවා. ඒ අය ද්වි ලිංගිකයි. ඒ කියන්නෙ සමහර උදවිය ස්ත්‍රී පුරුෂ දෙගොල්ලන් විදියටම හැසිරෙනවා, දෙගොල්ලන්ම ඇසුරු කරනවා. ඒක ද්වි ලිංගික වෙන්න හේතුවක් වෙනවා.

එතකොට නපුංසකයො කියල කියන්නෙ ස්ත්‍රී හෝ පුරුෂ භාව රූපය සැඟවිච්ච අය. ඒ කියන්නෙ ස්ත්‍රී හෝ පුරුෂ භාව රූපය තිබුණත් ඒක දුර්වල නිසා ඒ ස්ත්‍රී හෝ පුරුෂ බව සැඟවිලා යටපත් වෙලා යනවා. ඒ නිසා ලිංගේන්ද්‍රියන් මතුකරල දෙන්න තරම් ඒ ස්වභාවය බලවත් නෑ, දුර්වලයි. ඒ අය ද්විලිංගික නෙවෙයි. ඒක විකෘති පිහිටීමක්. එහෙම නැත්නම් සාමාන්‍ය ස්වභාවය තමයි ස්ත්‍රී භාව රූපය එක් අයෙකුට වෙනමත්, පුරුෂ භාව රූපය තවත් කෙනෙකුට වෙනමත් පිහිටීම. මෝරන කොට ඒ ඒ ගති ලක්ෂණ මතු වෙලා එනවා. සමහර විට පෙර භවයෙදි පුරුෂ ගති ලක්ෂණ 50% කට කිට්ටු කරල 49% ක් තිබුණොත් ඒ පුද්ගලය මෝරන්නෙ පුරුෂ පැත්තට නම්, ස්ත්‍රී ගති ලක්ෂණ අඩු වෙවී පුරුෂ ගති ලක්ෂණ වැඩි වෙවී එන අවස්ථාවක් නම්, ඒ පුද්ගලයගෙ සංඛාර ගොඩ නැගි නැගී තිබුණෙ එහෙම අවස්ථාවක නම්, 49% ක් පුරුෂ. තවත් එකක් පැන්න ගමන් සම වෙනවා. ඊට පස්සෙ පුරුෂ. ඔතනට ආසන්න වෙන කට්ටිය එහෙම තැනකින් පටිසන්ධියක් ලැබුවොත් ඒ පුද්ගලයගෙ ගති ලක්ෂණය පුරුෂ බවට පත් වෙනවා. එතකොට භාව රූපය කර්මජ වශයෙන්ම පරිවර්තනය වෙනවා.

ඒ වගේම උපතින් පුරුෂ ගති ලක්ෂණ තියෙන සමහර පුරුෂයො ඉන්නව ඒ අය ස්ත්‍රී ගති ලක්ෂණ පුරුදු වෙනවා. කනේ කරාබු දාගෙන ඇඟ පත වන වනා යනවා. කොණ්ඩෙත් ස්ත්‍රියක් වගේ දිගට





වවාගෙන හැඩ කරගෙන යනවා. පුරුෂයන් ඇසුරු කරනවා. ඔහොම ගිහින් ස්ත්‍රීන් වගේ සංඛාර වඩල ඒ ගති ලක්ෂණය ආවම ඒක ස්ත්‍රී භාව රූපයකට හේතු වෙනවා. ඒ ගති ලක්ෂණ ආවොත් ටික කලක් යන කොට ක්‍රමයෙන් ස්ත්‍රී භාවයට පරිවර්තනය වෙවී 1% - 2% - 3% ... ආදී වශයෙන් ස්ත්‍රී පැත්තට පරිවර්තනය වැඩි වේගෙන යනවා. එහෙම ගිහින් පුරුෂ ගති ලක්ෂණ අමතක වෙලා ස්ත්‍රී ගති ලක්ෂණ වැඩි වෙන අවස්ථාවක් එනවා. ඊළඟට 50% පැන්න ගමන් ජීවත් වෙලා ඉදෙද්දිම ස්ත්‍රී ගති ලක්ෂණයට එනවා. ඒත් එක්කම ස්ත්‍රී භාව රූපය නැගෙනවා. ලිංගේන්ද්‍රියන් පසුව නැගෙනවා. අර සසරෙදි ආපු පුරුදු කරපු ගති ලක්ෂණ බලපාල එහෙම වෙනවා. එතකොට ඒ පුද්ගලයගෙ ගති ලක්ෂණත් ඒ වගේ නිසාම තමයි ස්ත්‍රියක් විදියට ඉන්න හිතෙන්නෙ. ඒ තමයි පෙර භවයෙ පුරුදු කරගෙන ආපු ගති ලක්ෂණ. ඊට පස්සෙ ලිංග පරිවර්තනය වෙනවා. මොකද කර්ම ශක්තියෙන් ගත්තු භාව රූපයේ මේ ස්ත්‍රී පුරුෂ දෙකේම මධ්‍යස්ථ අවස්ථාවක්, මිශ්‍රණයක් තියෙනවා. ඒ කියන්නෙ වැට උඩ ඉන්නව වගෙයි. ඒක යම් මොහොතකදි එක පැත්තකට පනින්න පුළුවන්. කර්ම ශක්තිය ගෙවෙනව නම් ඒක කාටවත් නවත්තන්න බෑ. ගෙවිල ඉවර වෙනවා. එතකොට ජීවිත රූපය සහ වස්තු රූපය ගෙවුනොත් තමයි මැරෙන්නෙ. පටිසන්ධියකින් චුත වෙන්න සිද්ධ වෙන්නෙ ජීවිත රූපය සහ වස්තු රූපය ගෙවුනොත්. භාව රූපය ගෙවුනයි කියල චුත වෙන්නෙ නෑ. නමුත් ජීවිත රූපයත්, වස්තු රූපයත් කියන දෙක ජීවිතය පවත්වන්න ඕන. ඒ දෙකට හානියක් වුනොත් කර්මජ රූපවලින් ඒ පුද්ගලය මැරෙනවා, චුත වෙනවා. එහෙම නැතිව භාව රූපයට හානියක් වුනා කියල චුත වෙන්නෙ නෑ. භාව රූපය කියන්නෙ නිතරම පරිවර්තනයක්. ඒ භාව රූපය වෙනස් වීමෙන් ගති වෙනස් වෙනවා. ඒක උපතින් ලැබුවත් පස්සෙ කාලෙක ගති වෙනස් වෙන්න පුළුවන්. ඒ නිසා තමයි සමහර මනුස්සයො ජීවත් වෙලා ඉදෙද්දිම ලිංග පරිවර්තනය වෙන්නෙ. ඒ කියන්නෙ ස්ත්‍රීන් පුරුෂයන් බවට පත් වෙනවා, පුරුෂයන් ස්ත්‍රීන් බවට පත් වෙනවා. හැබැයි මේ විදියට අතර මගදි ලිංග පරිවර්තනය සිද්ධ වෙන ආකාරය අටුවාවකවත් විග්‍රහ කරල නෑ. එහෙම දේවල් වෙලා තියෙනව කියනව මිසක් සිද්ධ වෙන ක්‍රමවේදය නෑ. නමුත් නුවණට, සමාධියට ගෝචර වෙන ආකාරයක් තමයි මේ පෙන්නුවෙ.

දැන් ඊළඟට නැවතත් පසුගිය කලාපයේ මුලින් විස්තර කරපු ☞

විග්‍රහයට ගියොත්, භෞතික මස් ලේ කයේ යම්කිසි දුර්වලකමක් නිසා කෙනෙක් වයසට ගිහින් කොණ්ඩෙ යන්න පුළුවන්. සතර මහා භූතයන්ගෙ දුර්වලතාවය හෝ ප්‍රබලත්වය අනුව තමයි ඒක සිද්ධ වෙන්නෙ. මුලින්ම භෞතික මස් ලේ කයට කොණ්ඩයක් ආවෙ සූක්ෂම කර්මජ කයේ තිබිච්ච ගති ලක්ෂණයෙන්. නමුත් ඊට පස්සෙ භෞතික කයේ මොනව හරි රෝගීතාවයක් නිසා හෝ උඳුගොව්වන් කෑම නිසා හෝ වෙනත් විෂ බීජයක් ඇතුල්වීම නිසා හෝ ඒ වගේ මොකක් හරි හේතුවකින් කොණ්ඩෙ යන්න පුළුවන්. හැබැයි එහෙම භෞතික මස් ලේ කයේ කොණ්ඩෙ ගියා කියල සූක්ෂම කර්මජ කයේ කොණ්ඩෙ යන්නෙ නෑ. වයසට ගියත් ඒක තියෙනවා. සතර මහා භූතයන්ගෙ වෙනස්වීම නිසා භෞතික කයේ වෙච්ච පරිවර්තනයක් තමයි කොණ්ඩෙ යෑම. මේ කාරණය උදාහරණයකින් පැහැදිලි කරන්න පුළුවන්.

**සමහර අය නිදාගෙන ඉඳල හදිසියේ භය වීමකින් හරි මොනව හරි ප්‍රශ්නයක් වෙලා මානසිකත්වයේ යම් වෙනස් වීමක් සිද්ධ වුනොත්, ඒ පුද්ගලයට තමන්ගෙම ශරීරය මහ විශාල පුද්ගලයෙක්ගෙ ශරීරයක් වගේ පේන්න පටන් ගන්නවා.** ඒ වගේ අවස්ථාවල තමන්ටම බය හිතෙනවා. ජීවිත කාලය තුලදි කෙනෙක් මේ අත්දැකීම දවසක් දෙකක් හරි ලබල තියෙනවා. විශේෂයෙන් උණ ගැනිල ඉන්න සමහර වෙලාවට උණ විකාරයෙන් දොඩවන අවස්ථා තියෙනවා. ඒ වගේ සමහර අවස්ථාවල බැලුවොත් තමන්ට තමන්ගෙ අතපය, ශරීරය මහ විශාල මිනිහෙක්ගෙ වගේ පේනවා. ඒ කියන්නෙ සූක්ෂම කර්මජ කයේ විශාලත්වය. ඒ වුනත් මේ මස් ලේ කය තියෙන භෞතික පරිසරයෙ සතර මහා ධාතූන්ගෙ දුර්වලතා නිසා, ඒ කර්මජ කයේ ප්‍රමාණයට මස් ලේ කය වැඩෙන්නෙ නැතිව යනවා. එහෙම නොවුන නම් මේ ශරීර එච්චරට ලොකු කරන්න හැකියාවක් තියෙනවා. ඒ හැකියාව තිබුණාට මේ භෞතික පරිසරයෙ ඉඳගෙන ඒ වගේ මට්ටමකට හදන්න පුළුවන් ශක්තියක් නෑ. මොකද මේ දස අකුසල් වැඩි වෙන කොට සතර මහා භූතයො කලින් කල දුර්වල වෙනවා. දස අකුසල් අඩු වෙන කොට නැවතත් සතර මහා භූතයො බල ගැන්විලා මනුස්සයින්ගෙ ශරීර පොදුවේ විශාල වෙනවා, ආයුස වැඩි වෙනවා. ඒ කියන්නෙ භෞතික පරිසරයෙ සතර මහා භූත ශක්තිය වර්ධනය වෙන කොට අර සූක්ෂම කර්මජ කයේ තියෙන ප්‍රමාණය ගන්න තරම් ශක්තියක් භෞතික මස් ලේ කයට එනවා. මේ කාලෙ වුනත් ඒ පරිසරය ආහාරයකින් හදන්න පුළුවන් නම් හුඟක් දුරට මනුස්ස ශරීර ලොකු කරන්න පුළුවන්.

නමුත් දැන් පොදුවේ මේ මුළු ලෝකෙම දස අකුසලයෙන් බරවීම නිසා ඇති වෙලා තියෙන පිරිහීම මේ මුළු ලෝකෙම භෞතික පරිසරයට බලපාල තියෙනවා. අපි දැන් බෞද්ධ කියල කොච්චර කෑ ගැහුවත් වැඩක් නෑ. මිනිස්සු අතර තියෙන මේ ඊර්ෂ්‍යාව, ක්‍රෝධය, වෛරය, පළිගැනීම ආදී කරුණු තමයි දස අකුසලයට මුල් වෙන්නෙ. නමුත් සමහර රටවල් තියෙනව බෞද්ධ කියල එහෙම විශේෂයෙන් ආගම් නෑ. හැබැයි ඊර්ෂ්‍යාව, ක්‍රෝධය වගේ කාරණා ඒ මිනිස්සු අතර බොහොම අඩුයි. ලොකුවට ආගම් ඇදහුවෙ නැති වුනාට යම් කිසි ලෞකික ගුණ ධර්මයක හරි පිහිටල ඉන්නවා. යුක්තිය, නීතිය, සාධාරණත්වය ගත්තත් ලොකු පොඩි කියල වෙනසක් නෑ. හැමෝටම එකයි. මෙහේ වගේ විවිධ හැඳිවලින් බෙදන අවස්ථා නෑ. සමාජයේ යහපතට හදපු නීති රීති හැමෝටම එක වගේ ක්‍රියාත්මක වෙන නිසා මිනිස්සු අතර සමගිය, සමාදානය, සහජීවනය රැඳිල තියෙනවා. එහෙම **නීතියක් හරි ක්‍රියාත්මක වෙන කොට ලෝක පාලක දෙවි දේවතාවන්ගෙ ආශිර්වාදය බැල්ම වුනත් වැඩියි.** නමුත් මෙහේ නම් බලපුළුවන්කම් තියෙන අය නීතියත් කඩල කොහොම හරි තමන්ගෙ වැඩේ කරගන්න බලනවා.

ඒ වගේම අපේ රටේ මිනිස්සු ගත්තොත් සමහර අවස්ථාවල පොඩි දේටත් ගහ මරා ගන්නවා. උදාහරණ විදියට හදිසියේ වාහන දෙකක් පොඩ්ඩක් හැප්පුනත් තුවාලයක් සීරීමක් නැතිවත් පුංචි දේකට දෙගොල්ලො ගහ මරා ගන්නවා, බැන ගන්නවා. සමහර අවස්ථාවල අවුරුදු ගණනාවක් යනකල්ම ඒ වෛරය ඇදගෙන යනවා. පිටට පේන්න මොනව කළත් ඇතුලෙ තියෙන ගති ලක්ෂණ ඒ වගේ අවස්ථාවකදි එළියට පනිනවා. නමුත් බටහිර රටවල් ගත්තොත්, බොහෝ කොටම ඒ වගේ හදිසි අනතුරකදි නීතියෙන් යමක් ක්‍රියාත්මක වුනොත් හැරෙන්න, දෙපැත්තම එළියට බැහැල සුහද වෙලා නැවත යන්න යනවා. ගහ මරා ගැනීම්, බැන ගැනීම් නෑ. ඒ වගේම අපේ රටේ වගේ අනුන්ට අණවින කොඩිවින, හදි හූනියම්, සාප කිරීම් කරන අවස්ථාවන් ඒ රටවල්වල නැති තරම්. ඉතින් අපි ඒ මිනිස්සුන්ට පර සුද්දො, අධිරාජ්‍යවාදීන් ආදී වශයෙන් මොනව කියල දොස් කිව්වත් අපි නොහිතන මේ වගේ පැත්තකුත් තියෙනවා. ලෝකයේ බටහිර රටවල් දිහා සියුම්ව බැලුවොත් මේ කාරණය අදත් දකින්න පුළුවන්. මේ වගේ ලෞකික ගුණධර්මවල පිහිටල ඉන්න නිසාත් ඒ වගේ සමහර රටවල මිනිස්සු බොහොම පැහැපත්, හරි උස මහතයි. ඔක්කොම එක වගෙයි. ස්ත්‍රී පුරුෂ හැම කෙනාටම වගේ ගැලපෙන විදියට උස මහත හොඳ පෘෂ්ටිමත් ශරීර තියෙනවා. නමුත් අනුන්ගෙන් පළිගන්න, ඊර්ෂ්‍යා කරන, වෛර කරන ගති ලක්ෂණ එන්න එන්න වැඩි වෙන කොට ඒ අයගෙ ශරීරත් කුඩා වෙනවා, කෘෂ වෙනවා. මොකද එතකොට ඊට අනුකූලව සම්පූර්ණ පරිසරය පවා දුර්වල වෙනවා.

විශේෂයෙන් බුදුන් වහන්සේ ඉපදුන මේ මධ්‍ය දේශයට අයිති ප්‍රදේශවල තමයි මේ පුදුම විදියෙ පරිවර්තන සිද්ධ වෙන්නෙ. සමහර විට දස අකුසලයෙන් තොරම පිරිසක් හැදෙන්නෙත් ඒ ප්‍රදේශවල. ඒ කියන්නෙ ධ්‍යාන අභිඥ්ඥාලාභීන්, මගඵල ලාභීන් වගේ අය. ඒ වගේම දස අකුසලයටම බර වෙච්ච පීඩිතම පිරිසක් හැදෙන්නෙත් ඒ ප්‍රදේශවල. හොඳ නරක දෙකටම මේ මධ්‍ය දේශයත් එක්ක සම්බන්ධය තියෙන ප්‍රදේශ විශේෂයි. එතකොට ඒ මධ්‍ය දේශය මුල් කරගෙන මේ මුළු ජම්බුද්වීපයම (ලෝකෙම) පිරිහෙනවා. සංඛාර මූලිකත්වයෙන් එන මේ වෙනස්කම් අදත් පැහැදිලිවම දකින්න තියෙනවා.

දැන් එතකොට අපේ රට ගැන බැලුවොත්, **මිනිස්සු වැඩි හරියක් බුද්ධාගම ගැන කතා කරනවා. නොයෙක් පින්කම් සිද්ධ කරනවා. බුද්ධාගම රකින්නෙයි කිය කිය නොයෙක් දේවල් කරනවා. හැබැයි ඊර්ෂ්‍යාව, ක්‍රෝධය, වෛරය, පළිගැනීම බොහොම වැඩියි. මතු පිටින් බුද්ධාගම කියල පේන්න තිබුණාට යටින් දස අකුසලයම වැඩියි. දවසකට සිද්ධ වෙන සිදුවීම් පෙළ ගස්සල බැලුවම ඒ කාරණය හොඳින් දකින්න පුළුවන්.** නමුත් ඒ අය දන්නෙත් නෑ මොකක්ද මේ වෙන්නෙ කියල. අනුන්ට හෙණ ගැහිල ගියත් කමක් නෑ කියන තැනට හිත තියනවා. පිටින් බැලුවොත් නම් මහා කරුණාවක් පේනවා. නමුත් ඇතුලෙ කුණු ගොඩක්. එහෙම අය ඕන තරම් ඉන්නවා. වැඩක් කරන්න ගියත් ඒ වගේමයි. කකුලෙන් ඇදිලි, බෙලි කැපිලි ඉවරයක් නෑ. ඒ වගේ දේවල් හැම තැනම තියෙනවා. ඒ නිසා තමයි, අර කතාවට වුනත් වැඩක් හොඳට කළාම, සුද්ද වගෙයි කියල කියනව මිසක් සිංහලය වගෙයි කියන්නෙ නැත්තෙ. ඒ කියන්නෙ වැඩක් කරන්න ගියත්, වැඩේ හරියට අවංකව කෙරුව නම් සුද්ද වගෙයි කියල තමයි කතාවට කියන්නෙත්. එතකොට මේක සිංහලය වගෙයි කියල අපි අතින්වත් අපිට නමක් හැදුනෙ නෑ. මොකද බටහිර සුද්ද අපිට වඩා වැඩේ හරියට කරන නිසා.

දැන් මේකෙන් පැහැදිලි වෙන දෙයක් තමයි සිංහලකම අපි කොච්චර වර්ණනා කළත්, අපිම අපේ සිංහලයො වගෙයි කියන්නෙ නැතිව, හොඳට වැඩක් කෙරුවොත් සුද්ද වගේ වැඩ කියල කියනවා. අන්තිමට එහෙම තමයි කියවෙන්නෙ. ඒ කියන්නෙ ☞

''සිංහලය වගේ වැඩ'' කියල කිව්වොත්, හරියට වැඩේ කරන්නෙ නැති, කම්මැලියො වගේ කියල තමයි කොච්චරවත් අදහස එන්නෙ. ඉතින් සිංහලයා මෝඩයා කැවුම් කන්න යෝධයා කියල දැන් අපිම කියා ගන්නවා. නමුත් ඔය කතාව පිටස්තර කෙනෙක් කිව්ව නම් අපිට අපවාද කරන්න හදනව කියල කෑ ගහනවා. නමුත් දැන් මේ කියන්නෙ අපිමයි.

එතකොට මෙතනින් පේනව, අපේ මිනිස්සු ඕනකමින් පිරිහිලා ඉන්නවයි කියල. හැබැයි මේ කියන්නෙ පෙර හිටපු සිංහලයො ගැන නෙවෙයි, ඊට පස්සෙ ආපු දැන් ඉන්න සිංහලයො ගැන. මොකද මේ පෙර කාලෙ ඉඳන් සිංහලයො කියල කියන්නෙ බුදුන් වහන්සේගෙන් පැවත එන පිරිස. මධ්‍ය දේශය කොහේ තිබුණත් බුදුන් වහන්සේගෙන් පැවත එන පිරිස තමයි නියම සිංහල පරම්පරාවෙ මුල. නමුත් අද ඒ ගති ගුණ පිරිහීම තමයි සිද්ධ වෙලා තියෙන්නෙ. එහෙම ගත්තම ඒ පිරිසම තමයි කාලෙකට හොඳ ශක්තිමත් යෝධයො වගේ හිටියෙ. මොකද බුදු **දහමෙ හරය අරගෙන දස අකුසලයෙන් තොරව හොඳ ශාන්ත ජීවිත ගත කරපු කාලයක් තිබුණා. ඒ නිසා තමයි ලෝකෙ අනික් සියලු මිනිස්සුන්ට වඩා උසස් ශිෂ්ටාචාරයක් අපිට තිබුණෙ. බුදු දහමත් එක්ක තිබිච්ච ඒ ශිෂ්ටාචාරය මුළු ලෝකෙටම විශේෂ වුණා.** ඒ නිසා තමයි මීට ශත වර්ෂ ගණනාවකට පෙර වැඩම කළ පාහියන් හිමියන් මේ රටේ හිටපු සිංහලයන් ගැන විස්තර ලියන කොට, සුදුවත් අඳින මස් මාංශ නොකන ඒ වගේම ආගන්තුක සත්කාරයට බොහොම ලැදි සිංහලයො කියල, මෙන්න මෙහෙම ශ්‍රේෂ්ට පිරිසක් ඉන්නව කියල වර්ණනා කරල තියෙන්නෙ. ඒ පෙර කාලෙදි. ඒ වගේම පස්සෙ කාලෙක ආපු රොබට් නොක්ස් මහත්තයත් මේ වගේ කතාවක් කියල තියෙනවා.

දැන් එතකොට කෙනෙකුට මෙහෙම ප්‍රශ්නයක් එන්න පුළුවන්. බුදු දහමකුත් නැත්නම්, විශේෂ ආගමක් අදහන්නෙත් නැත්නම් අපිට වඩා ඒ සමහර බටහිර රටවල මිනිස්සුන්ට ඊර්ෂ්‍යා, ක්‍රෝධ, වෛරය ආදී ගති ලක්ෂණ අඩු වෙන්නත්, ඒ අය සශ්‍රීක වෙන්නත් හේතුව මොකක්ද? දැන් මේ සමහර රටවල් ගත්තොත්, මුලින්ම මොනව හරි සිද්ධියක් උඩ ජනගහනය බොහොම අඩුවෙන් තමයි පටන් ගෙන තියෙන්නෙ. එතකොට ඉඩකඩම් ඇතුළු භෞතික සම්පත් අවශ්‍ය ප්‍රමාණයටත් වඩා වැඩියෙන් තියෙනවා. නමුත් ක්‍රමයෙන් ජනගහනය වැඩි වෙන කොට ඒ භෞතික සම්පත්වල පරිහරණය ඉහළ ගිහින් සම්පත් අඩු වෙන්න පටන් ගන්නවා. එතකොට ඒව බෙදාගන්න පොර කන්න ගිහින් ඊර්ෂ්‍යාව, ක්‍රෝධය, වෛරය වැඩි වෙනවා. නමුත් භෞතික සම්පත් වැඩිපුර තියෙනව නම් එහෙම දඟලන්නෙ නැ. මොකද අවශ්‍ය ප්‍රමාණය තමන්ට තියෙන නිසා. ඒ නිසා ඒ වගේ රටවල මුල් කාල සීමාවල මිනිස්සු අතර ලෞකික වශයෙන් හොඳ ගති ගුණ පිහිටන්න ඒකත් හේතුවක් වෙනවා. එතකොට සතර මහා ධාතුන්ගෙ ක්‍රියාකාරීත්වයත් වැඩි වෙලා සම්පත්තියත් වැඩියි. නමුත් ක්‍රමයෙන් ජනගහනය වැඩි වෙන කොට, සම්පත් හීන වෙන කොට ඒවට පොර බැදීමත් වැඩි වෙලා දූෂ්‍යතාවය පටන් අරගෙන පිරිහිලා යනවා. එතකොට සශ්‍රීකත්වයත් අඩු වෙනවා.

දැන් මේ කාරණය අපිට අදත් සාමාන්‍ය සමාජයේ අත් දකින්න පුළුවන්. හොඳට වැස්ස තියෙන, වතුර තියෙන





කාලයක කවුරුහරි තමන්ගෙ ළිඳෙන් වතුර ගෙනියන්න ඇහුවොත්, නාගන්න ඇහුවොත් කිසි ප්‍රශ්නයක් නෑ ඒකට ඉඩ දෙනවා. හැබැයි ඉඩෝර කාලයක් ඇවිත් වතුර හිඟ වෙන කොට ළිඳකින් වතුර ටිකක් බාගන්නවත් ඉඩ දෙන්නෙ නෑ. ඊට පස්සෙ තමන් වෙන වෙනම කළ ගෙඩිවලට වතුර රැස් කරන්න පටන් ගන්නවා. කවුරුහරි වතුර ටිකක් ගන්න ආවොත් දොස් කියනවා. අන්තිමට වතුරටත් ලෝභකම් කරනවා. ඔහොම කාලයක් යන කොට වතුරට ලෝභ වෙලා වතුර ගන්න එපා කිව්වොත් ළිඳේ වතුර හිඳෙනවා. ඒක ඇත්ත වශයෙන්ම අත් දකින්න තියෙන දෙයක්. සමහර ළිංවලින් වතුර ගන්න එපා කියල තහනම් කළාම ළිඳ ඉවරෙටම හිඳිල යනවා.

ඒ වගේම සමහරු ගහකින් ගෙඩියක් කඩා ගන්න ඉඩ දෙන්නෙත් නෑ. ඒවට නොයෙක් තහංචි දානවා. සමහර වෙලාවට බිම වැටිල තිබුණත් අහුල ගන්න දෙන්නෙ නෑ. මේ විදියට අනෙකට නොදී හංගන කොට ගති දූෂ්‍ය වෙලා සතර මහා ධාතු හීන වෙලා ඒවායින් හැදෙන සම්පත් පවා ක්‍ෂය වෙන්න, අඩු වෙන්න හේතු වෙනවා. ඒ සම්පත්වල මිල අධික නම්, වැඩිපුර ලාභ ගන්න පුළුවන් නම් වටිනකම් වැඩි වෙනවා. එතකොට ඒව නොයෙක් උපක්‍රම යොදල විකුණ ගන්න බලනවා. ඒ නිසා තමයි ඒ සම්පත්වලට රැකවරණ දාගෙන වැඩියෙන් සල්ලි හම්බ කරන්න බලන්නෙ. නමුත් ඉස්සර අපේ ආත මුත්තල කාලෙ වත්තෙ පිටියෙ නිකං හැදෙන ගෙඩි පළතුරු ඒ වගේ සල්ලි ගන්න විකුණුවෙ නෑ. ඒ තිබිච්ච ඒව සමගියෙන් බෙදා හදාගෙන කාපු ගති ලක්ෂණයක් තිබුණෙ. එතකොට ඒ කාලෙ අදට වඩා සශ්‍රීකයි. අදට වඩා ලොකු වෙනසක් ඒ කාලෙ තිබුණා. මිනිස්සුන්ගෙ ශරීර සෞඛ්‍යයත් හොඳයි.

එතකොට ඒ ඉස්සර කාලෙ බැලුවොත් මිනිස්සු අදට වඩා හුඟක් ශරීර උස මහතින් වැඩියි. ඒ වගේම වැඩ පල කරන්නත් හොඳ හයිහත්තියක් තිබුණා. හරියට යෝධයො වගෙයි. අදත් අනුරාධපුර, පොළොන්නරුව වගේ නටඹුන් වෙච්ච ප්‍රදේශවලට ගියාම එදා කරපු වැඩ ගැන පුදුම හිතෙනවා. සමහර විශ්ව කර්ම වැඩ හිතාගන්නවත් බෑ.

හැබැයි මෙතනදි මේ යෝධයො වගෙයි කියන්නෙ උසට සරිලන මහත මිසක් අද සමහරු හිතන් ඉන්නව වගේ අධික ස්ථූලතාවයක් නෙවෙයි. ඒ වගේම උස මහත අඩු වුනත් යෝධයො හිටියා. ඒ කාරණයත් විවිධාකාරයි. මොකද අධ්‍යාත්මික ශක්තියත් කයට විශේෂයෙන් බලපානවා. ඒ කියන්නෙ මානසික ශක්තිය. ඒක යෝධ ශක්තියක්. නමුත් කය කුඩා වෙන්න පුළුවන්. ඒ නිසා ඒ යෝධ ශක්තිය උස මහතත් එක්ක ගන්නවට වඩා වෙනස් දෙයක්. අද වුනත් සමහර අවස්ථාවල එහෙම අය ඉන්නවා. ශරීර පුංචි වුනාට ටොන් ගණන් බර උස්සන්න, යකඩ නවන්න පුළුවන් මිනිස්සු අදත් ඉඳල හිටල ඉන්නවා. එදා ඒ වගේ ශක්තිය බොහොම බලවත් වෙලා තිබිච්ච අය අදට වඩා වැඩි පිරිසක් හිටියා.

උදාහරණ විදියට බුදුන් වහන්සේ ජීවමානව වැඩ ඉන්න කාලෙ බන්ධුල මල්ලිකා බිසව වගේ සමහර කාන්තාවන්ටත් ඇත්තු පස් දෙනෙක්ගෙ බලය තිබුණයි කියනවා. ඒත් ශරීර ඒ තරම් විශාල නෑ, සාමාන්‍ය ශරීර. මොකද **ශරීර පොඩි වුනත් මානසික බලය විශාල නම්, හිතත් එක්ක ගත ක්‍රියාත්මක වෙලා යෝධ ශක්තියක් නගන්න පුළුවන්.** සමහර විට ඒක ශරීරයෙන්ද නැගුනෙ කියල හිතා ගන්නත් බෑ. ඒ තරම් යෝධ ශක්තියක්. නමුත් ඒක මානසික ශක්තියත් ප්‍රධාන කරගෙන නැගෙන දෙයක්. එතකොට බුදුන් වහන්සේට ඇත්තු කෝටි ☞

ගාණක බල තිබුණා. නමුත් පිරිනිවන් පාන්න කිට්ටුව උන් වහන්සේත් හැරමිටියකින් ගියයි කියල ධර්මයේ සඳහන් වෙනවා. එතකොට එච්චර බලයක් තිබ්බ උන් වහන්සේට අඩි 6 ක ශරීරයක් උස්ස ගෙන යන්න බැරිවද හැරමිටියෙන් ගියේ කියල කෙනෙකුට ප්‍රශ්නයක් එන්න පුළුවන්. නමුත් මේ කායික බලයයි මානසික බලයයි දෙකක්. ඒ අවස්ථාවෙදි උන් වහන්සේගෙ කායික ශක්තිය දුර්වල වුනාට මානසික ශක්තිය එහෙම්ම තිබුණා.

ඊළඟට අර කලින් විග්‍රහයට නැවතත් ගියොත් ඉස්සර අපේ කන බොන ආහාර වුනත් දැන් වගේ නෙවෙයි. ඒ ආහාර හොඳට කන්න බොන්න පුළුවන් කිසි වසක් විසක් නෑ. ලෙඩ රෝගත් නෑ. ශරීරයට තියෙන අමාරුකම් මුකුත් නෑ. ශරීර බොහොම නිරෝගියි. ඒ කාලෙ තිබ්බ ගති ලක්ෂණත් අද වගේ දරුණු නෑ. සමාජයේ ගුණධර්ම අද වගේ පොත පතට පමණක් සීමා වෙලා තිබුණෙ නෑ. ප්‍රායෝගිකවම මිනිස්සු අතර ඒ ගුණ ධර්ම තිබුණා. දැන් ඉතින් පිරිහිලා ඒ ගති ලක්ෂණ දුරස් වෙන කොට මිනිස්සුත් පුංචි වෙනවා. ආයුසත් අඩු වෙනවා. මොකද මිනිස්සුන්ගෙ ගති ගුණ අනුව ශරීර විතරක් නෙවෙයි, භෞතික පරිසරයත් බලා ඉඳෙද්දි ඊට අනුකූලවම හැඩ ගැහෙනවා. ඒ නිසා දැන් මේ පරිසරයෙ හැදෙන ගහකොළ, ගෙඩි, පළතුරු දිහා බැලුවම හොඳට හැදිච්ච ලොකු පළතුරක්, ගෙඩියක් දැක්කොත් රට ඒව කියල අපිට ඉබේටම කියවෙනවා. එහෙම කියවෙන සිරිතක් රටේ හැම තැනම වගේ තියෙනවා. රට දෙල්, රට පුවක්, රට අඹ, රට ඇපල්, රට දෙළුම් මේ ආදී වශයෙන් අපිමයි කියන්නෙ. මේ විදියට හොඳට ලොකුවට හැදිච්ච ඒවටමයි කියන්නෙ. රට වුනාම ඒකෙ බැලු බැල්මට පේන්න පිටින්ම වෙනසක් තියෙන නිසයි එහෙම කියන්නෙ. නිකං කියනව නෙවෙයි. මොකද හේතුවක් නැතිව කතාවක්, ඵලයක් එන්නෙ නෑ.

මේ වගේ, මිනිස්සුත් හොඳ එකක් දැක්කොත් රට කියන වචනය ඉස්සරහට දාල කතා කරනවා. ඇඳුමක් වුනත් රට ඇඳුමක් නම් බොහොම පිළිවෙලට හොඳ රෙදි පිළිවලින් මහපු වටින එකක්. මිනිස්සු අතරත් ඒකට ඉල්ලුම වැඩියි. හැබැයි අපේ ඇඳුම් බොහොමයක් එහෙම නෑ. එතකොට අපේ සිංහල ඒව ඔක්කොම නාටු ගැහිච්ච ඒවා. ඒක නොකියා කියනවා. බල්ලෙක් ගත්තත් රට බල්ල ලස්සනයි, ලොකුයි. අපේ එවුන් නාටු ගැහිච්ච එවුන්. හරක් දිහා බැලුවමත් එහෙමයි. රට හරක් නම් ලොකුයි. දැන් මේ බොරුවට කියනව නෙවෙයි, මේ සමාජයෙ දකින්න අහන්න තියෙන දේ. එතකොට මේ අපේ සිංහල නිෂ්පාදන මෙච්චර දුර්වල වෙන්න, ඒ වගේම සිංහලයො මෙච්චර කෙට්ටු වෙන්න කෘෂ වෙන්න, ශක්තියෙන් අඩු වෙන්න, ආයුෂ අඩු වෙන්න හේතුව අපි ළඟ පෙර තිබ්බ හොඳ ගති ගුණ නැති කර ගැනීම. එහෙම නොවුන නම් කවද හරි සිංහල පුවක්, සිංහල අඹ. ආදී වශයෙන් තමයි වටිනකම දෙන්න වෙන්නෙ. අද වෙනකොට එහෙම වටිනකමක් දෙන්න බැරි වෙලා තියෙන්නෙ දස අකුසල් අධික වීමෙන් භෞතික පරිසරය වෙනස්වීම නිසා. ඒ නිසා සතර මහා ධාතු හීන වෙලා දුර්වල වීමෙන් ඒවා පරිහරණය කරන මස් ලේ කයත් දුර්වල වෙනවා. ඒ ඇසුරේ හැදෙන වැවෙන ගස්වැල්වල ගෙඩි පවා දුර්වල වෙනවා. ඒ නිසා තමයි මේ කායික විකෘතිතාවයන්, කායික හීනතාවයන් ඇති වෙලා තියෙන්නෙ.

නමුත් මේ මිනිස්සුන්ගෙ මනෝමය සූක්ෂම කර්මජ කය මීට වඩා හුඟක් ලොකුයි. අර විදියෙ ප්‍රයෝග විපත් වශයෙන් මේ තත්ත්වයට ඇවිත් තියෙන නිසා, දැන් ඒ මනෝමය කර්මජ කයේ තත්ත්වය ගන්න විදියක් නෑ. හැබැයි මේකට ප්‍රයෝග සම්පත්තිය දෙන්න පුළුවන් නම්, නැවතත් එබඳු තත්ත්වයක් උදා කරගන්න පුළුවන්. ඒ කියන්නෙ අලුතින් මේ මස් ලේ කය පුම්බනව නෙවෙයි, අපේ සූක්ෂම කර්මජ කයේ ප්‍රමාණයට ලොකු කරන්න පුළුවන් කියන එක. ඒ කලින් තිබ්බ පරිසරය වර්ධනය වෙන්න පටන් ගත්තොත්, මිනිස්සුත් අලි ඇත්තු වගේ විශාල වෙන්න පටන් ගන්නවා. ගහ කොළ ගෙඩි පවා ඒ තත්ත්වයට වැඩිල ගුණාත්මක බව වර්ධනය වෙනවා.

එහෙම ගිහින් තමයි මෛත්‍රී බුදුන් වහන්සේගෙ කාලෙ ස්වයංජාත හැල් පහළ වෙන කාලයක් එනවයි කියන්නෙ. ඒ කාලෙට මෛත්‍රී බුදුන් වහන්සේ, කාශ්‍යප මහ රහතන් වහන්සේගෙ දේහය පිටි අල්ල උඩට අරගෙන, මේ ඒ කාලෙ හිටපු ගෞතම බුදුන් වහන්සේගෙ ශ්‍රාවකයින් කියල පෙන්වන බවත් ධර්මයේ සඳහන් වෙනවා. කාශ්‍යප මහරහතන් වහන්සේගෙ දේහය පිටි අල්ලට ගන්නව කියන්නෙ ඒ කාලෙ පහල වෙන මිනිස්සුන්ගෙ ශරීර කොහොම තියෙන්න ඕනද? හිතාගන්නත් බැරි තරම් විශාලයි. ඒ කාලෙ වෙද්දි මනුස්සයෙක්ගෙ පරමායුෂ අවුරුදු 80,000 ක් වෙනව කියනවා. ඒ කාරණය බොරු නෙවෙයි, එහෙම වෙන්නෙ අර කලින් පෙන්වල දීපු ක්‍රමයට. එතකොට ඒ කාලෙ තියෙන සූක්ෂම කර්මජ කයත් අද තියෙනවට වඩා සැහෙන විශාලයි. හැබැයි අදටත් තියෙන මේ සූක්ෂම කර්මජ කය මේ මස් ලේ කයට වඩා විශාලයි. නමුත් අද තියෙන භෞතික පරිසරයේ පිරිහීම නිසා ඒ ප්‍රමාණයට ලොකු කරගන්න බැරි වෙලා තියෙනවා. කාලයක් යන කොට පරිසරය විශාල වශයෙන් දූෂණය වෙන්න පටන් ගත්තම, චිත්තජ කය පුංචි වෙලා ක්‍රමයෙන් මනෝමය කර්මජ කයත් පුංචි වෙන්න පටන් ගන්නවා. එහෙම ගිහින් මනුස්සයා අඩියක් විතර තරමට පුංචි වෙන කාලයක් එනවා. ඒ තමයි අවසාන කාලය. ඒ කියන්නෙ මුරුගසන් වැස්සක් ඇති වෙලා ලෝක විනාසයක් එනවයි කියන කාලෙ. දැන් මේ සාමාන්‍යයෙන් අවුරුදු 70 - 80 ක තියෙන ආයුස ක්‍රමයෙන් අඩු වෙලා ගිහින් අවසානයේ අවුරුදු 10 ට බහිනව කියල ධර්මයේ පෙන්වනවා. ඒ අවුරුදු 10 ඇතුළතදි මනුස්සය ජීවිතයේ කරන්න තියෙන ඔක්කොම ලෞකික කටයුතු කරල අවසන් කරනවා. අන්න ඒ කාලෙ වෙනකොට සූක්ෂම කර්මජ කයත් පුංචි වෙනවා. මොකද පරිසරය දූෂ්‍ය වෙලා පුංචි වෙන කොට මනුස්සයින්ගෙ චිත්තජ රූපයත් පුංචි වෙනවා. ඒ චිත්තජ රූපයට අනුකූලව ඊළඟ පටිසන්ධිය ලබන කොට සූක්ෂම කර්මජ කයත් පුංචියි. දැන් මේ අපි ගත කරන්නෙ විශාලත්වයේ ඉඳන් කුඩා බවට පත් වේගෙන යන කාල වකවානුවක.

**මේ විදියට මනුස්සයින්ගෙ උස මහතත් අඩු වෙලා පරමායුෂ අවුරුදු 10 ට බහින කාලෙදි පිල ගහ යට නඩු අහන කාලයක් එනව කියල බෞද්ධ සාහිත්‍යයේ සඳහන් වෙනවා.** එතකොට මෙච්චර ගස් කොළං තියෙද්දි ඇයි මේකට පිල ගහක් ගන්නෙ? මොකද පිල ගහ කියන්නෙ ගස් වශයෙන් තෝර ගන්න සුදුසු ගහකුත් නෙවෙයි, එහෙම පරිහරණය කරන ගහකුත් නෙවෙයි. ඒක කටු ගහක්. මඤ්ඤොක්ක ගහක් කිව්ව නම් ඊට හොඳයි. එතකොට මේ කියන කතාව මතුපිටින් ගන්නෙ නැතිව මේකෙ තියෙන සැඟවිච්ච අර්ථය හොයා ගන්න ඕන. මොකද සමාජයේ පිල් ගැහෙනව කියල ගති ලක්ෂණයක් තියෙනවා. ඒ කියන්නෙ සමාජයක් අන්තිම දූෂ්‍ය වෙනකල් විනිශ්චයකාරවරයෙක් පිලක් පැත්තක් අරගෙන නඩු අහන්නෙ නෑ. නමුත් ඔය කියන කාලෙ වෙද්දි එහෙම පිල් ගැහිල තමන්ගෙ පැත්තට වාසි වෙන්න නඩු අහන අවස්ථාවකුත් එනවා. ඒ තරම් සමාජය දූෂ්‍ය වෙලා විනිශ්චයකාරවරුන් අන්තිමටම දූෂ්‍ය වුනාමයි එහෙම වෙන්නෙ. එතනදි සමස්ථයක් වශයෙන් එහෙම දූෂ්‍ය වෙනවා. ඔන්න ඔය පිල් ගැහෙන අදහස දෙන්න තමයි පිල ගහ යට නඩු අහනව කියන්නෙ. නමුත් මේ කාරණය පොත්වල නෑ. පොත්වල තියෙන්නෙ පිල ගහ කියන ගහක් යට නඩු අහන කාලයක් එනව කියල. නමුත් ඒක විග්‍රහ කරල නෑ. ඒ නිසා ඔය කතාවෙ අදහස නුවණින් මේ විදියට තෝර ගන්න ඕන.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

*වෑරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# අපට නොපෙනෙන ලෝකය දහම් ඇසින්...

17 වන කොටස

මේ ලිපි පෙළ යටතේ අද විශේෂයෙන් විග්‍රහ කරන්නෙ සතර මහා සාගර ගැන. මේ පිළිබඳ විවිධ ජන කතා, සාහිත්‍ය කතා ආදිය කියවුනත් ඒ සම්බන්ධ සැබෑ තත්ත්වය මොකක්ද කියල බොහොමයක් උදවිය දන්නෙ නෑ. නමුත් ධර්මයේ මහා සාගර 4 ක් ගැන සඳහන් වෙනවා. මේ අපි ඉන්න ජම්බුද්වීපය කියන මනුස්ස ලෝකයත් එක්ක තවත් මනුස්ස ලෝක 3 ක් මේ සක්වලේ තියෙන බව මීට පෙරත් විග්‍රහ කළා. අන්න ඒ මනුස්ස ලෝක 4 හෙවත් සතර දිවයින් වටා තියෙන සාගර 4 ක් ගැන තමයි මේ කියන්නෙ. අපි ඉන්න මේ ජම්බුද්වීපයට නිල් මුහුදත්, උතුරුකුරු දිවයිනට ස්වර්ණ මුහුදත්, පූර්ව විදේහයට කිරි මුහුදත් සහ අපර ගෝයානයට පබළු මුහුදත් විදියට තමයි ඒ සාගර 4 පිහිටල තියෙන්නෙ. එතකොට මහමෙර හතර පැත්තට මේ ලෝක හතර වට කරල තමයි මේව පිහිටන්නෙ. ඒ සාගර 4 ත් පාට 4 ක්. ඒ පාට 4 නිසා තමයි මේ සාගර 4 ට ඒ විදියෙ නම් වැටිල තියෙන්නෙ.

හැබැයි මේ සාගර 4 ක් කියල කිව්වට, මේව අපි හිතන් ඉන්නව වගේ ජල සාගර නෙවෙයි, හිම වළාකුළුවලින් හැදිච්ච සාගර 4 ක්. දස දහසක් සක්වලට තියෙන ප්‍රධාන සූර්යාගෙන් එන කිරණ, අපි මේ ඉන්න මගුල් සක්වලේ පිහිටල තියෙන මහමෙර පතුලට වැදුනම එතන තමයි අපිට දැන් මේ පේන උප සූර්යා පිහිටන්නෙ. අන්න ඒ උප සූර්යාගෙන් එන සූර්යාලෝකය මේ ලෝක 4 ට වැටුනම, ඒ ඒ පැත්තට තියෙන හිම වළාකුළුවල විවිධ පැහැයන් ගන්නවා. සූර්යාගෙන් වර්ණ විහිදෙන කොට විවිධ වර්ණ රටාවන් මතු වෙනවා. ඒ අනුව නිල් පාට කිරණ විහිදෙන පැත්තෙ ඒ හිම වළාකුළු නිල් පාටින් දිස් වෙනවා. ඒක තමයි නිල් මුහුද කිව්වෙ. අපි **අපේ ලෝකෙ ඉඳගෙන ඉහළ ආකාසෙ බැලුවම අපිට නිල් පාටට පේන මේ අහස තමයි ඒ විදියට නිල් වන් හිම වළාකුළු තියෙන නිල් මුහුද කියල කියන්නෙ.** විශේෂයෙන් ඉඩෝර කාලෙට මුහුදු පැත්තෙන් එන වළාකුලක් දිහා හොඳින් බලා හිටියොත්, සුදු පාට ලොකු වළාකුලක් ඇවිත් ඒක උඩට නැගෙන්න නැගෙන්න ටික ටික පුංචි වෙනවා. එහෙම පුංචි වෙලා දියවෙලා ගියාම නිල් පාටයි. අර ආපු වළාකුලට වෙච්ච දෙයක් නෑ. ඒ සියල්ලම දිය වෙලා ගිහින් අර නිල් මුහුදට එකතු වෙලා. ඊට පස්සෙ තනිකරම නිල් පාටයි. ඒ කියන්නෙ අර ආපු වළාකුලේ ඝනීභවනය අඩු වෙලා අංශු ඈත් වුනාම තමයි අපට නිල් පාටට පේන්නෙ. එතකොට නිල් මුහුදේ ස්වභාවයට පත් වෙනවා. දැන් ඔහොම තිබිල වහින්න පටන් ගත්තම වළාකුලක් පළාතකවත් නැතිව නිල් පාටට තියෙන ආකාසෙ ක්‍රමයෙන් සුදු පාට වෙලා තනිකර ඝන වළාකුලක් වෙනවා. එතකොට මේ වළාකුළු පිටින් එන්නෙ නෑ. මේ නිල් මුහුදෙම තියෙන වළාකුළු තමයි



දිය වෙවී එන්නෙ. ඒකෙන් පැහැදිලිව පේනව මේ නිල් අහස කියල කිව්වට ජලයම ඝනීභවනය වෙලා හැදිච්ච එකක් බව. ඝනීභවනයේ අඩු වැඩිවීම් අනුව නිල් පාටින්, සුදු පාටින් සහ අඳුරු පාටින් පේනවා. අනිත් ලෝක තුනේ සාගරත් මේ වගේ තමයි ක්‍රියාත්මක වෙන්නෙ.

ඊළඟට රන්වන් කිරණ විහිදෙන පැත්තෙ හිම වළාකුළු රන්වන් පාටින් දිස් වෙනවා. ඒක තමයි ස්වර්ණ මුහුද කිව්වෙ. ඊළඟට තවත් පැත්තකට සුදු පාට සූර්යාලෝක කිරණ ගිහින් වදින කොට ඒ පැත්තෙ හිම වළාකුළු සුදු පාටට පේනවා. ඒක තමයි කිරි මුහුද කිව්වෙ. තවත් පැත්තකට වදින කොට ඒ පැත්තෙ හිම වළාකුළු පබළු වගේ දිස් වෙනවා. ඒක තමයි පබළු මුහුද කියන්නෙ.

එතකොට මේ මනුස්ස ලෝක 4 ම මහමෙර වටේට කැරකෙනවා. එහෙම කැරකි කැරකි අවුරුදු 1 ක් ගියයි කියන්නෙ, මහමෙර වටේට රවුමක් ගියා කියන එක. ඒ යන කොට මහමෙරත් තමා වටේට රවුමක් කැරකෙනවා. ඒ කියන්නෙ මහමෙර කැරකෙන්නෙ එක තැන ඉඳන්. නමුත් අනෙක් ලෝක 4 මහමෙර වටේට කැරකි කැරකි යනවා. ලෝක 4 රවුමක් කැරකෙන කොට ඒත් එක්කම මහමෙරත් තමා වටේට රවුමක් කැරකෙනවා. ඒ නිසා කවදාවත් අර නිල් පාටට පේන නිල් මුහුද වෙන පාටකින් දිස් වෙන්නෙත් නෑ, වෙන ලෝකෙකට මාරු වෙන්නෙත් නෑ. ඒ නිසා මේ සාගර 4 ම ඒ ඒ ලෝකවලට අනුකූලව ඒ විදියටම පිහිටල තියෙනවා. ඒ පාට වෙනස් වෙන්නෙත් නෑ. මොකද මේ අපිට පේන උප සූර්යා මහමෙර පතුලෙ පිහිටල තියෙන නිසා, මහමෙර කැරකෙන කොට සූර්යාත් ඒත් එක්කම කැරකෙනවා. ඒ නිසා තමයි ලෝක 4 කැරකුණා කියල මේ හිම වළාකුළු සාගරවල වර්ණ වෙනස් වෙන්නෙ නැත්තෙ.

**හැබැයි පුණ්‍ය විපාක මුල් කරගත්තු නිසා අපේ ජම්බුද්වීපයට වගේ නෙවෙයි, අනිත් මනුස්ස ලෝකවල තියෙන්නෙ පුණ්‍ය සෘද්ධි අනුව වැසි ලැබෙන ක්‍රමයක්.** ඒ කියන්නෙ අපිට වගේ අකල් වැසි, කුණාටු ඒ ලෝකවලට නෑ. අපේ ලෝකෙ නම් සංඛාර මුල් වෙච්ච නිසා කාලෙකට වැස්ස, කාලෙකට ඉඩෝර ආදී වශයෙන් විවිධ කාලගුණ විපර්යාසයන් එනවා. නමුත් අනෙක් ලෝකවලට යම් කිසි ක්‍රම සිද්ධාන්තයකට අනුව තමයි වැසි ලැබෙන්නෙ. උදාහරණ විදියට කෙනෙකුට වතුර ඕන වුනොත් ආකාසෙන්ම ක්ෂණයකින් ජල කඳක් පුණ්‍ය සෘද්ධියෙන් පහළට එනවා. ඇවිත් ඒ අවශ්‍ය වතුර ප්‍රමාණය පිරෙනවා. පුණ්‍ය විපාකයක් වශයෙන් ඒ ලෝකවලට හිම් මහා සාගරවලින් ආපු වාෂ්පය ඒ විදියට ජලය බවට පත් වෙනවා. ඒකෙන් ඒ අයට නා ගන්න, හෝදන්න ඕන දෙයක් කරගන්න පුළුවන්. ඒ අවශ්‍ය දේවල් සුද්ධ කරගත්තට පස්සෙ නැවතත් ඒක වාෂ්ප බවට පත් වෙලා උඩට ඇදෙනවා. හරියට ☞

ස්වභාවික පෙරහනක් වගේ. මේ නිසා ඒ ලෝකවලට තෙතමනය අවශ්‍ය ප්‍රමාණයට ගැලපෙන්න තියෙනවා. ඊට අමතරව අපේ ලෝකෙ වගේ මඩවලවල් හැදෙන්නෙ නෑ. අවශ්‍ය කටයුත්ත කරගෙන සුද්ධ වුනාට පස්සෙ ක්ෂණයකින් ඒක වාෂ්ප වෙලා නැවතත් අර සාගරයට එකතු වෙනවා. ඒ තමයි පුණ්‍ය සෘද්ධියේ හැටි.

එතකොට මහ බෝසතාණන් වහන්සේ මවු කුසින් බිහි වෙච්ච වෙලාවෙත් උණු වතුර ධාරාවක්, ඇල් වතුර ධාරාවක් මිශ්‍ර ක්‍රමයට ඇදිල ඇවිත් උන් වහන්සේ සහ මවු තුමිය නෑවිලා ගියා කියන්නෙත් ඔය ක්‍රමයටම තමයි. ඒක උන් වහන්සේගෙ පුණ්‍ය සෘද්ධියට සිද්ධ වෙච්ච දෙයක්. ඒ වගේම බුදුන් වහන්සේ පිරිනිවන් පාල ශ්‍රී දේහය ආදාහනයෙදි ඉස්සෙල්ලම ස්වභාවිකව ගින්නක් ඇවිත්, ඊට පස්සෙ ගින්න නිවුනෙත් ස්වභාවිකවම ආපු ජල කඳකින්. එතකොට ගින්න පත්තු වෙලා නිවෙන්න ඕන වෙලාවට ජල කඳක් අහසින් ආවා. ඒකෙන් තමයි අවශ්‍ය වෙලාවට නිවුනෙ. ඒ විදියට ආවෙත් අපිට මේ වහිනව වගේ වැස්සක් නෙවෙයි. ඒ වැස්ස ආවෙ උන් වහන්සේගෙ ශ්‍රී දේහය තිබුණු තැනට විතරයි. ඒ සිද්ධිය තමයි බනේන අග්ගිං ජලමාන නාය... ආදී වශයෙන් එන ගාථාවෙන් කියන්නෙ. ඒකත් උන් වහන්සේගෙ පුණ්‍ය සෘද්ධියෙන්ම සිද්ධ වෙච්ච දෙයක්. ඉතින් සමහර උදවිය මේව නිකං සාහිත්‍ය කතා විදියට කිව්වත් ඇත්ත වශයෙන්ම එහෙම සිද්ධ වෙන ක්‍රමයක් තියෙනවා.

දැන් එතකොට මේ කියන සාගර හතරෙම අපි මේ දකින මුහුදුවල වගේ නෙවෙයි ජලය තියෙන්නෙ. විශාල ප්‍රදේශයක විහිදිච්ච තනිකරම හිම වළාකුළු. ජලයම තමයි, නමුත් හිම වළාකුළු වශයෙන් ඝනීභවනය වෙලා තියෙන්නෙ. මේ තියෙන ජල මුහුදුවල ජල වාෂ්පම තමයි මේ විදියට අංශු වශයෙන් එකතු වෙලා ඝන හිම වළාකුළු බවට පත් වෙන්නෙ. ඒක අපිට ඝනීභවනය වුනාට ඒ සතර මහා සාගරවල ඉන්න සූක්ෂම ශරීර තියෙන අසුර ආදී කොටස්වලට ඒව තනිකරම ජල කඳන් විදියට තමයි දැනෙන්නෙ. ඒ අයට ඒකෙ කිමිදෙන්න, පිහිනන්න, නාන්න ආදී මේ ඕන දෙයක් කරන්න පුළුවන්. මොකද ඒ අයගෙ ශරීරත් වළාකුළු වගේ සූක්ෂමයි. ඒ නිසා හිම වළාකුළුවලින් හැදිච්ච ජලය ඒ අයගෙ ශරීරවලට ගැලපෙනවා. සාගරය අසුරයන්ගෙ නිජ බිම කියන්නෙත් ඒකයි. ඒ විදියට ඝනීභවනය වෙච්ච විශාල වළාකුළු කඳන් 4 ක් තමයි මේ ලෝක 4 හෙවත් දිවයින් 4 මැදි කරල පිහිටල තියෙන්නෙ. ඒ ඒ දිවයිනෙන් දිවයින වටේට තියෙන වළාකුළුවලට ආලෝක කිරණ වැටුනම විහිදෙන වර්ණ නිසා තමයි මේ විදියට විවිධ පාටට පේන්නෙ. හරියට දිය බිංදුවකට ඉර එළිය වැටුනම ඒ දිය බිංදුවෙ පැත්තෙන් පැත්තට විවිධ පාට වැටෙනව වගේ.

එතකොට මේ අපේ **තියෙන ජල මුහුද කියන්නෙ අර නිල් මුහුදෙ පතුල. ඒ නිල් පාට හිම වළාකුළු ආකාසෙන් වටේට ඇවිත් අපි ඉන්න මේ ලෝකෙ හතර වටෙන් සම්බන්ධ වෙනවා.** විශේෂයෙන් උතුරු පැත්තට ඝනීභවනය ටිකක් වැඩි වළාකුළු තමයි සම්බන්ධ වෙන්නෙ. එතකොට අපේ ලෝකෙ උතුරු පැත්තෙ උෂ්ණත්වය නිල් මුහුදෙ හිම වළාකුළුවලට සාපේක්ෂව වැඩියි. සීතල වළාකුළු අතරින් සූර්යාලෝකය වදින උතුරු පැත්තෙ උෂ්ණත්වය සාපේක්ෂව වැඩි නිසා එතනදි හිම වළාකුළු උණුවෙලා දිය වෙනවා. ඒකෙන් තමයි අයිස් කඳු ඇති වෙන්නෙ.



ඒව අයිස් බවට පත් වෙලා තවත් උෂ්ණත්වය වැඩි ප්‍රදේශවලදි දියවෙනවා. අපේ ජල මුහුද හැදෙන්නෙත් ඒ දියවීමෙන් ඇති වන ජලයෙන්. එතකොට අපේ ලෝකය ගත්තොත් නිල් මුහුදෙ තියෙන හිම වළාකුළු තමයි උෂ්ණත්වයෙන් අඩු. ඊළඟට උෂ්ණත්වය වැඩිවෙලා ඒව තරමක් දිය වුනාම අයිස් කඳු තියෙන ප්‍රදේශය තමයි ඊළඟ මට්ටම. තවත් දිය වුනාම ජලය බවට පත් වෙච්ච අවස්ථාව තමයි අපේ ජල සාගරය. ජලයෙම ඝනීභවන අවස්ථා 3 ක් තමයි මේ තියෙන්නෙ. මේ ලෝක හතරෙම මේ විදියට තමයි සාගර හැදෙන්නෙ. එතකොට ලෝක හතරෙම විශේෂයෙන් උතුරු පැත්ත අයිස් කඳුවලින් හැදිල තියෙන්නෙ. ඒ උතුරු පැත්තෙ ඉඳල මහ මෙර වටේටම තියෙන්නෙ හිම වළාකුළු. ඒව තමයි ලෝක හතරෙ විවිධ පාටින් දිස් වෙන්නෙ. හැබැයි ලෝක හතරෙම ජලය ගත්තොත් ඒවට විවිධ පාට නෑ. අපේ තියෙන මේ සාමාන්‍ය ජලය වගේම තමයි අනිත් ලෝකවල ජලයත්. ජලයෙ ස්වභාවය කොහේ බැලුවත් එකයි. අර විදියට සූර්ය කිරණ වැදීම නිසා ඇති වන පාට තමයි හතර මහා සාගර විදියට විවිධ පාටවලින් දිස් වෙන්නෙ.

දැන් එතකොට **මහ මෙර පාමුල හතර පැත්තෙ පඨවි ධාතුව අධික ස්ථාන 4 ක තමයි මේ මනුස්ස ලෝක 4 පිහිටල තියෙන්නෙ. මේ සාගර හතරෙ පතුල් තමයි මේ මනුස්ස ලෝක 4 කියන්නෙ.** එතකොට පඨවි ධාතුව අධික තැන තමයි උෂ්ණත්වය වැඩිපුරම දරන්නෙ. පඨවි ධාතුව යම් තැනක බැඳෙන්න බැඳෙන්න එතන උෂ්ණත්වය වැඩි වෙනවා. එතකොට එතනට එන හිම වළාකුළු දියවෙලා ජලය බවට පත් වෙනවා. පඨවි ධාතුවෙන් ඈතට යන්න යන්න සීතලත් වැඩි වෙනවා. මොකද උෂ්ණත්වය අල්ල ගන්න එකක් නැති නිසා. අපි මේ ලෝකෙ ඉන්න කොට තියෙන වායු ධාතුවත් මේ පඨවි ධාතුව ආශ්‍රිතවමයි තියෙන්නෙ. ඒ නිසා වායු ධාතුව රත් වෙන්නෙත් මේ පඨවි ධාතුව නිසා. පඨවි ධාතුවට උෂ්ණත්වය වදින කොට ඒක තමයි බදල අල්ලගෙන රැඳෙන්නෙ. එතකොට අවට උෂ්ණත්වයත් වැඩි වෙලා වායුව රත් වෙනවා. ලෝකෙ උතුරු පැත්තට යන කොට උෂ්ණත්වය අඩු වෙන නිසා සීතලයි. පහළට එන්න එන්න උෂ්ණත්වය වැඩි වෙනවා. එහෙම වැඩි වෙලා නිරක්ෂය අවට තමයි උෂ්ණත්වය වැඩියෙන්ම තියෙන්නෙ. ඒ තමයි ලෝකෙ මැද රවුම. එතකොට මේ නිරක්ෂය වටේ තමයි වැඩිපුර පඨවි ධාතුව තියෙන්නෙ. දැන් මේ ලෝකය ගත්තොත් 100% ක්ම රවුම් නෑ. උඩ යට ටිකක් පැතලියි. වටේට ගෝලාකාරව ලොකුයි. ඒ කියන්නෙ නිරක්ෂය රේඛාවේ රවුම. උදාහරණ විදියට රබර් බෝලයක උඩයි යටයි පුංචි පෙත්ත බැගින් කපල අයින් කළාම එන හැඩය වගේ තමයි මේ ලෝකෙත්. පුංචි ප්‍රමාණයක් උඩ යට පැතලියි.

එතකොට මේ මහමෙර පාමුල ඉඳන් වටේට තමයි මේ හිම වළාකුළු විහිදෙන්නෙ. එහෙම විහිදෙන කොට අපේ මනුස්ස ලෝකෙට අහුවෙන කොටස තමයි නිල් මුහුද කියන්නෙ. මේ මහමෙර පාමුලෙන් පටන් ගෙන වටේටම තියෙන ඒ සාගරයට පොදුවේ සීදන්ත සාගරය කියල කියනවා. එහෙම ගිහින් පැත්තෙන් පැත්තට මේ සාගර 4 ම විහිදෙනවා. ඒ සාගර 4 ම මුල් කරල මහ මෙර

වටේටම තියෙන එක තමයි සීදන්ත සාගරය කියල පොදුවේ තනි නමකින් හඳුන්වන්නෙ. දත් වගේ දිස්වෙනව කියන එක තමයි සීදන්ත කියන්නෙ. සුදු පාටට සුදු දත් වගේ. ඒක විශාල හිම වළාකුළක්. ඒකෙන් ලෝකෙ උතුරු පැත්තට එන කොට එක්තරා මට්ටමකට රස්නෙයි. ඒ නිසා තමයි අර හිම වළාකුළු තරමක් දිය වෙලා අයිස් කඳු බවට පත්වෙන්නෙ. නිරක්ෂ රේඛාව ළඟට එන කොට තවත් රස්නෙ වැඩියි. එතකොට දිය වෙන අයිස් ප්‍රමාණය ජලය බවට පත් වෙනවා. ඒ විදියට තමයි මේ ලෝක හතරෙම හිම වළාකුළු, අයිස් කඳු, ජලය තියෙන්නෙ.

ඊළඟට සප්ත මහා සාගර කියල දෙයක් තියෙනවා. සීදන්ත සාගරය කියන්නෙ සප්ත මහා සාගරවලින් පහළම තියෙන සාගරය. ඒකට අහුවෙච්ච අනිත් සාගර 4 තමයි අර කලින් විස්තර කළේ. සප්ත මහා සාගර කියන්නෙ මහමෙර හැදිල තියෙන සංයෝගයේ සනීභවන වළලු 7 කට මැදි වෙලා තියෙන හිම වළාකුළු. මහමෙර පාමුල ඉඳන් ඒව මුදුන පැත්තට විහිදෙනවා. මහමෙර ගත්තම ඒක වටේටම හිම වළාකුළු රැළි තියෙනවා. අර මුහුදු 4 ට අමතරව හට ගත්තු වළාකුළුවලම සනීභවන කදම්භ 7 ක්. සප්ත සාගර කිව්වෙ ඒ වගේ හැදිච්ච වළලු 7 ක්. ඒ 7 ත් ජලය නෙවෙයි, වාෂ්ප හිම වළාකුළු. මේවා ඉහළට විහිදෙන්නෙ රවුම් වළලු විධියට. දැන් මේ වළලුවලත් තියෙන්නෙ හිම වළාකුළු. ඒ විදියට වළලු වශයෙන් පිහිටල තියෙන හිම වළාකුළුවලට තමයි සාගර 7 ක් කියල කිව්වෙ. ඒකත් මහමේරු පර්වතය කේන්ද්‍ර කරගෙන තියෙන ඒකෙම කොටසක් මිසක් වෙනම එකක් නෙවෙයි. ඒ 7 න් පහළම එක තමයි අර සීදන්ත සාගරය කියල කිව්වෙ. එතනින් ඉහළට යනකොට අනික් සාගර වළලුත් හමු වෙනවා. ඒවටත් වෙනම නම් තියෙනවා. මේ හැම සාගරයකම තියෙන්නෙ ඉතාම සියුම් ජල වාෂ්ප හෙවත් හිම වළාකුළු. ඒ කියන්නෙ ආපෝ ධාතුවම තමයි.

ඒ වගේම ඒ හැම සාගරයක්ම පිහිටල තියෙන්නෙ මහාමේරු පර්වතය වටා තවත් පර්වත වළලු 7 ක් එක්ක. ඒ විදියට මහමේරු පර්වතයේ ඉඳන් ඉහළට විහිදෙන ආකාරය ගත්තොත්, සීදන්ත සාගරය - යුගන්ධර පර්වතය - ඊෂධර සාගරය - ඊෂධර පර්වතය - කරවික සාගරය - කරවික පර්වතය - සුදර්ශන සාගරය - සුදර්ශන පර්වතය - නේමින්ධර සාගරය - නේමින්ධර පර්වතය - විනතක සාගරය - විනතක පර්වතය - අශ්ව කර්ණ සාගරය - අශ්ව කර්ණ පර්වතය ආදී වශයෙන් සාගරයක් හැර පර්වතයක් විදියට තමයි ඇතට විහිදෙන්නෙ. මේ ඔක්කොම වළලු විදියට තමයි පිහිටල තියෙන්නෙ. මේ සියල්ලම මහාමේරු පර්වතය කේන්ද්‍ර කරගෙන ඒ වටා වළලු ආකාරයට තමයි පිහිටන්නෙ. දැන් මේ පර්වත 7 ගත්තම අපේ ලෝකෙ තත්ත්වෙන් බැලුවොත් ඒව කාන්දම්වලින් තමයි හැදිල තියෙන්නෙ. ඒ කියන්නෙ විද්‍යුත් චුම්භක තරංග කොටස්. ඒක සූක්ෂම පඨවි ධාතුවක්. දැන් මේ මහාමේරු පර්වතයේ තියෙන කාන්දම් ස්වභාවය නිසා තමයි අපේ ලෝකෙ මාලිමා යන්ත්‍රයක් තිව්වම උතුරු කටුව ඒ පැත්තට ඇදිල තියෙන්නෙ. ඒ කියන්නෙ මහා මේරු පර්වතය පැත්තට. ඒක තමයි චුම්භක උතුර කියන්නෙ. අර කාන්දම් බලය නිසා තමයි ඒ පැත්තට ඇදෙන්නෙ. මේ කාන්දම් පර්වත ගත්තමත් ඒවත් විවිධ සත්ව කොටස්වලට වාසස්ථාන වෙනවා.

එතකොට මේ සාගර 7 ත්, පර්වත 7 ත් විවිධ සත්වයන්ට වාස භවන් වෙනවා. මහාමේරු පර්වතයෙ ඉඳන් ඉහළට යන්න යන්න ඒවායෙ වාසය කරන සත්තුන්ගෙ ශරීරත් සියුම් වෙනවා. එතකොට ඒ ජල වාෂ්පත් ඒ අයට ජලය වගේමයි. ඒ අයගෙ වාස භවනයත් ඒකමයි. හරියට මාළුන්ගෙ වාස භවන ජලය වගේ. දැන් මේ සාගර 7 න් පහළම වළල්ල නාගයන්ට වාස භවන වෙනවා. පොදුවේ ගත්තම මහමෙර පහළම කොටස සාගරයත් එක්ක නාගයින්ගෙ වාස භවන. නාග කොටස් තමයි ඒකට අධිපති වෙලා ඉන්නෙ. ඒ කියන්නෙ සීදන්ත සාගරයෙ පහළම කොටස. මේ නාග කිව්වම අපි මේ කියන නාගයින්ම නෙවෙයි. ශරීර ස්කන්ධ තියෙන අමනුස්ස කොටසක්. හැබැයි ඒ අයට නාග වෙස් ගන්න පුළුවන්. නමුත් ස්වභාවයෙන්ම නාග නෙවෙයි. එහෙම නාග වෙස් අරගෙන ඒ අයට යම් යම් දේවල් කරන්නත් පුළුවන්. ඒ විදියට මේ ලෝකෙට එන්නත් පුළුවන්. එහෙම ඇවිත් පින් දහම් කර ගන්න පුළුවන්. හැබැයි නිවන් දකින්න බෑ. ඊළඟට මේ නාග භවනට ඉහළින් තියෙන්නෙ අසුර භවන. තවත් ඉහළට යන කොට ගරුඬ භවන, ගුරුළු භවන, ගාන්ධර්ව භවන ආදී වශයෙන් විවිධ සත්ව කොටස්වලට වාසස්ථාන වෙනවා. තවත් ඉහළට යන කොට සතර වරම් දෙවියන්ට සම්බන්ධ පිරිස් ඉන්නවා. ඒ ඔක්කොම චාතුර් මහා රාජිකයේ පාලනයට අයිතියි. එහෙම ගිහින් මුදුන තමයි සක්‍ර දෙවියන්ට අයිති තාවතිංසය. ඒ කියන්නෙ කරවික පර්වතය හෙවත් මහමෙර මුදුන. මොකද මේ සාගර කඳු සියල්ලම පොදුවේ මහමෙරට අයිති වෙන්නෙ. එතනින් භූගක් එහාට යන කොට ඊළඟ දිව්‍ය ලෝක, බ්‍රහ්ම ලෝකත් ඇතට විහිදෙනවා.

ඊළඟට මේ හතර මහා සාගරවලින් ගංගා හැදෙන ක්‍රමයක් තියෙනවා. ඒ ඒ ලෝකවලට හිමි උඩ තියෙන හිම වළාකුළු පටලය තමයි සාගර 4 කිව්වෙ. කන්දක මුදුනට ගියාම මේ හිම වළාකුළු පටලය කන්දත් එක්ක ස්පර්ශ වෙනවා. එතකොට පොළොවෙ හටගත්තු උෂ්ණත්වය සනීභවන පස් තට්ටුව හරහා ක්‍රමයෙන් උඩට ගහල ක්‍රමයෙන් අර කඳු මුදුනට ඇවිත් හිම වළාකුළුවල වැදිල රත්වෙලා, දිය වෙලා ජලය හට ගන්නවා. ඒක තමයි කන්ද මුදුනෙන් ගංගා කියල පටන් ගන්නෙ. ඊට පස්සෙ උල්පත් හැදිල එකතු වෙලා පහළට ගලාගෙන එනවා. එතකොට විශේෂයෙන් ප්‍රධාන ගංගාවක් කඳු මුදුනකින් පටන් ගන්නෙ අර හතර මහා සාගරයෙ (අපේ ලෝකෙ නම් නිල් මුහුදෙ) හිම වළාකුළු දියවෙලා එන ජලයෙන්. මෙතනදි නවීන විද්‍යාවෙන් කියවෙන ජල චක්‍රයකුත් තියෙනවා. නවීන විද්‍යාවට අනුව ඒ ජල චක්‍රයෙන් තමයි මේ ගංගා ඇති වෙන්නෙ. නමුත් ඒක පොඩි චක්‍රයක්. මේ කියන්නෙ ඒක නෙවෙයි. දැන් ඉහළ ආකාසෙ පාවෙන වළාකුළු සියල්ලම හිම වළාකුළු. ආකාසෙ ඒ හිම වළාකුළුත් අර විදියටම චක්‍රයක් වගේ කැරකිලා ඉහළට යනවා. ඒ චක්‍රය තමයි ප්‍රධාන වෙන්නෙ.

ඒ වගේම අපේ තියෙන මේ ජල මුහුදත් එක්ක බලද්දි, මේ කියන සතර මහා සාගරවලින් එකක තියෙන ජල ප්‍රමාණය බැලුවොත් ඊට වඩා සිය ගුණයකටත් වැඩියි. අපි දැන් මේ මුහුද කියල කියන්නෙ එක්තරා පුංචි ජල කඳක් විතරයි. හැබැයි මේ ජල මුහුදයි, හිම වළාකුළු මුහුදයි දෙක එකිනෙකට සම්බන්ධයි. ඒකෙන් මේකටයි මේකෙන් ඒකටයි වශයෙන් ඒ ජලය හුවමාරු වෙනවා. නමුත් ප්‍රමාණය ගත්තම හිම වළාකුළු මුහුද අති විශාලයි. ප්‍රතිශතයක් විදියට බැලුවොත් ජල මුහුද 1% යි නම්, හිම වළාකුළු මුහුද 99% යි. මේ මහමෙර වටේ තියෙන මුහුද බැලුවොත් අති විශාලයි.

ඊළඟට අපි ගොළු මුහුද, කළු මුහුද, රතු මුහුද ආදී වශයෙන් හඳුන්වන්නෙ මේ අපේ ලෝකෙ තියෙන සාමාන්‍ය මුහුදු. ගොළු මුහුද කියල කියන්නෙ ඒකෙ රළ නැගෙන්නෙ නැති නිසා. ඒ කියන්නෙ නිහඬයි. කළු මුහුද, රතු මුහුද ආදී වශයෙන් කියන්නෙත් ඒවා ඇතට විහිදෙන වර්ණයන් අනුව. ඒව මේ ලෝකෙ තියෙන ජල මුහුදෙම තවත් කොටස්.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# උපමා උපමේය සංසන්දනයෙන් නිවන් දකින හැටි

සංයුක්ත නිකායේ 3 වන කාණ්ඩයේ එන ඵෙණ පිණ්ඩූපම සූත්‍රයේ රූපය පෙණ පිඩුවක් ලෙසත්, වේදනාව දිය බුබුලක් ලෙසත්, සංඥාව මිරිගුවක් ලෙසත්, සංඛාර කෙසෙල් කඳක් ලෙසත්, විඤ්ඤාණය මායාකාරයෙක් ලෙසත් උපමා මගින් පෙන්වා තියෙනවා. දැන් මේ කාරණය එකින් එක විග්‍රහ කරල ගත්තොත්,

**පෙණ පිඩුව අසාරයි - රූපය අසාරයි**

කුඹුරක උඩ ලියැද්දෙන් පහළ ලියැද්දට වතුර වැටෙන වක්කඩ ළඟ, නොයෙක් හැඩ තියෙන පෙණ පිඩු දකින්න පුළුවන්. ඒවා අතින් අල්ලල පොඩි කළොත් මඩ වතුර ටිකක් විතරයි අතේ ඉතුරු වෙන්නෙ. ඒ කියන්නෙ පෙණ පිඩුව කියන රූපය කඩල බිඳල බැලුවම වටිනා හරවත් දෙයක් ඇතුලෙ නෑ. ලොකු පෙණ පිඩුවක් කියන්නෙ, කුඩා පෙණ බුබුළු විශාල ප්‍රමාණයක් එකතු වෙලා හැදිල තියෙන රූපයක්. ඉහළින් වතුර වැටෙන තාක් කල් පෙණ බුබුළු හැදෙනවා. ඒවා එකතු වෙවී කිසියම් හැඩයක පෙණ පිඩුවක් (රූපයක්) සකස් වෙනවා. ඒ පෙණ පිඩුව වටේට තියෙන පෙණ බුබුළු, ටික වෙලාවකින් බිඳිල යනවා. අළුත් පෙණ බුබුළු එකතු වෙනවා. ඒ නිසා එතැන පෙණ පිඩුව කියල රූපයක් පෙනුනට, නොකැඩී නොබිඳී ස්ථිරව පවතින පෙණ පිඩුවක් නෑ. වතුරට, වතුර වැටුනම (ස්පර්ශ වුනාම) පෙණ බුබුළු හැදෙන්නෙ ඇයි? ඒ වතුරෙ රොන් මඩ තියෙන නිසා. පිරිසිදු වතුරට පිරිසිදු වතුර වැටුනට පෙණ හැදෙන්නෙ නෑ.

අපේ ශරීරයත් මෙන්න මේ පෙණ පිඩුව වගේ අසාර දෙයක්. අපේ හිතේ තියෙන රොන් මඩ තමයි අවිදුවයි, තණ්හාවයි. ඒ අවිදුවත්, තණ්හාවත් නිසා ඇස, කන, නාසය... ආදී ඉඳුරන්ට ගෝචර වෙන රූප, ශබ්ද, ගන්ධ.... ආදී අරමුණු ස්පර්ශ වුනාම ඡන්දරාගයෙන් (ඒ ඒ අරමුණු සමග සැරිසැරීමේ කැමැත්තෙන්) බැඳෙනවා. ලෝභයෙන්, ද්වේශයෙන්, මෝහයෙන් නැත්නම් අලෝභයෙන්, අදෝසයෙන්, අමෝහයෙන් බැඳිල හිතන, කියන, කරන දේවල්වලට සංඛාර කියල කියනවා. අවිද්‍යා ප්‍රත්‍යයෙන් සංඛාර ගොඩ නැගුවම පටිච්ච සමුප්පාදය ක්‍රියාත්මක වෙනවා. අවිජ්ජා පච්චයා සංඛාරා, සංඛාර පච්චයා විඤ්ඤාණං.... භව පච්චයා ජාති කියල යම්කිසි ජාතියක් (රූපයක්) හට ගන්නවා. පෙණ පිඩුව කුඩා පෙණ බුබුළු එකතු වෙවී සකස් වුනා වගේ, කුඩා ජීවිත බිඳු (ශුද්ධාෂ්ටක) පොදි වශයෙන් එකතු වෙලා තමයි මේ ශරීරය කියන රූපයත් සකස් වෙලා තියෙන්නෙ. ශරීරය ක්‍රියාත්මක වෙන කොට ඒවා ජරාවට, වැහැරීමට පත්වෙලා මියයනවා. ඒ වෙනුවට කන බොන ආහාර පානවලින් අලුත් ජීවිත බිඳු ගොඩනැගෙනවා. මේ ක්‍රියාවලිය කර්ම ශක්තිය තියෙන තුරු නොකඩවා සිදුවෙන නිසා, නොමැරී ජීවත් වෙන ඒකීය සත්වයෙක් / පුද්ගලයෙක් ඉන්නව කියල තමයි මස් ලේ සහිත ඇහැට පේන්නෙ.





කෙස්, ලොම්, නිය, දත්, සම් කියන මායා වැස්මෙන් වැහිල තියෙන නිසා, මේ රූපය කියන්නෙ හේතුවක් නිසා හටගත් ඵලයක්ය කියන කාරණය දකින්නෙ නෑ.

මේ වැස්ම ඇතුලෙ තියෙන්නෙ මොනවද? ඇට, ඇට මිදුළු, මස්, නහර.... ආදී කොටස් 32 ක් එකතු වෙලා තමයි මේ රූපය මතු වෙලා තියෙන්නෙ. රූප කියන්නෙ මොනවද? වේගයෙන් භ්‍රමණය වෙන බව හඳුන්වන වචනයක් තමයි රූං .... රූං... කියන්නෙ. එහෙම වේගයෙන් භ්‍රමණය වීමක් හේතුවෙන් ඔප වෙලා පෙනෙන, දැනෙන දේ තමයි රූ + ඔප - රූප කියන්නෙ. උදාහරණයක් විදියට ගිනි පෙනෙල්ලක් වේගයෙන් කරකැව්වොත් ගිනි වලල්ලක් පේනවා. කරකැවීම නැවතුනාම ගිනි වලල්ල නෑ. ඒ කියන්නෙ අපි දැක්ක ගිනි වලල්ල කියන රූපය හේතු ඵලයක්. හේතුව නැත්නම් ඵලයත් නෑ. ජීවිත බිඳු වේගයෙන් බිඳෙනව වගේම, වේගයෙන් ගොඩ නැගෙනවා. මේ ක්‍රියාවලිය නොකඩවා සිදුවීම හේතුවෙන් ශරීරය කියන රූපයත් විද්‍යමාන වෙනවා. ශබ්ද රූප, ගන්ධ රූප, රස රූප, ස්පර්ශ රූප කියන මේවත් මෙන්න මේ වගේ වේගයෙන් භ්‍රමණය වීම හේතුවෙන් ගොඩනැගිල දැනෙන දේවල් මිසක් මොහොතක්වත් එකාකාරව පවතින රූපයක් නෑ.

ශරීරය හැදිල තියෙන කොටස් තිස් දෙක, එක එකක් වෙන වෙනම අරගෙන බැලුවොත් ඒ එකක්වත් ප්‍රිය මනාප, ලස්සන රූප නෙවෙයි. තෙත් සහිත, දුගඳ හමන, පිළිකුල් සහගත අප්‍රසන්න දේවල්. නමුත් ඡන්දරාගයෙන් බැඳුනෙ, පැහැපත් සුවඳ හමන ප්‍රියමනාප වටිනා හරවත් දේවල් බලාපොරොත්තුවෙන්. ඒ වුණත් ලැබුනෙ කැමති හැටියට පවත්වන්න බැරි, කැඩී බිඳී යන, කඩා බිඳ දමන්න පුළුවන්, වැහැරී යන කුණු ගොඩක්. පෙණ පිඩුව පොඩි කරල බැලුව වගේ, මනසින් මේ කයේ ස්වභාවය කුඩා කොටස්වලට බෙද බෙදා බැලුවම තමයි අසාරත්වය පේන්නෙ. මේ කය විතරක් නෙවෙයි, ඇසට ගෝචර වෙන බාහිර රූප, කනට ගෝචර වෙන ශබ්ද රූප, නාසයට ගෝචර වෙන ගන්ධ රූප.... ආදියත් අසාර රූපමයි. ඒවත් අසාර බව දකින්න කුඩා කොටස්වලට බෙද බෙදා බලන්න ඕන. පෙණ බුබුළු ගොඩක් එකක් හැටියට අරගෙන රූප මාත්‍ර වැලක් එකතු කරල, එක රූපයක් හැටියට සිතා ගත්ත වගේ, ඒකීය රූප හැටියට දකින්නෙත්, විඳින්නෙත් ඒ වගේ දේවල්ය කියන කාරණය එතකොටයි වැටහෙන්නෙ. මොහොතක්වත් එකාකාරව නොපවතින රූපයක් ''මම'' කරගෙන, එබඳුම රූප ''මගෙ '' කරගෙන, මට ඕන හැටියට පවත්වගෙන ආස්වාද විඳින්න බලාපොරොත්තු වෙන එක මොන තරම් අසාර ද කියල හිතල බලන්න. කරන්න බැරි දෙයක් කරන්න උත්සාහ කරල, වෙහෙස වෙලා අසහනයට පත් වෙන එකයි අන්තිමට සිද්ධ වෙන්නෙ.

**දිය බුබුල අසාරයි - වේදනා අසාරයි.**

''ඵස්ස පච්චයා වේදනා....'' ස්පර්ශය හේතුවෙන් වේදනා හට ගන්නවා. එහෙනම් වේදනාව කියන්නෙ හේතු ඵලයක්. කයට රූප, ශබ්ද, ගන්ධ... ආදී ස්පර්ශයෙන් කායික වේදනාත්, මනසට ධර්ම ස්පර්ශයෙන් මානසික ☞

වේදනාත් හටගන්නවා. සැප වේදනාවක් ආවම, ඒක බොහෝ කාලයක් රඳව ගන්න අපි කැමතියි. නමුත් ස්පර්ශ මාත්‍රය ගෙවෙන කොටම වේදනා මාත්‍රයත් ගෙවිල යනවා. **රසම රස දෙයක් වුනත්, රස වේදනාව තියෙන්නෙ දිවට ස්පර්ශ වෙලා ගිලින කල් විතරයි. ඒ රස හුග වෙලාවක් විඳගන්න ඕන කියල රස දේ දිව මත තියාගෙන හිටියොත්, රස දැනෙනව වෙනුවට ගිලින්න ඕන කියන අසහනයක් එනවා. ඒ වගේම හොඳ සුමුදු ස්පර්ශ වේදනාවක් රැඳෙන්නෙ, ස්පර්ශ වෙන මොහොතෙ විතරයි. ආස්වාදය රඳව ගන්න බලාපොරොත්තුවෙන් ස්පර්ශය වෙනස් නොකර තියාගත්තොත්, ආස්වාද වේදනාව ගෙවිල අසහනය එනවා.** වේදනාව හේතුවක ඵලයක් නිසා, හේතුව ගෙවිල යනකොට ඵලයත් ගෙවිල යනවා. වහින වෙලාවට එකතු වෙන වතුරට වැහි බිඳු වැටිල (ස්පර්ශ වෙලා) දිය බුබුළු හැදෙනවා. දිය බුබුල දකින මොහොතත් එක්කම වෙනත් වැහි බිඳුවක් වැටීමෙන් ඒක බිඳිල, අලුත් දිය බුබුලක් හැදෙනවා. වැහි බිඳු වැටෙන වැටෙන සැරේට දිය බුබුළු හැදි හැදී බිඳෙනවා. ඇස, කන, නාසය .... ආදී ඉඳුරන්ට ගෝචර වෙන රූප, ශබ්ද, ගන්ධ ... ආදී අරමුණක් ස්පර්ශ වෙවී වේදනා මාත්‍ර නිපදවෙනවා, මොහොතකින් ගෙවිල යනවා. මේ නිසා ආස්වාදය රඳව ගන්න උත්සාහ කළාට, වෙහෙසුනාට ඵලක් නෑ. අසහනය ඉතුරු කරල වේදනාව ගෙවිල යනවා.

### මිරිඟුව අසාරයි - සංඥා අසාරයි.

ඇසට රූපයක් ස්පර්ශ වුනා, කනට ශබ්දයක් ස්පර්ශ වුනා... ආදී වශයෙන් වීමක් දනවන අර්ථයෙන් වේදනා කියනවා. ස්පර්ශයක් වුනා කියල දැනගත්තම, ඊළඟට ඒ මොකක්ද කියල දැනගන්න ඕන කරනවා. කෙලෙස් සහිත හිතක ස්වභාවය ඒකයි. පෙර මතක සටහන් (නාම ගෝත්‍ර) ඇසුරු කරගෙන ඒ ස්පර්ශය මොකක්ද කියල හඳුන්වා දෙන්නෙ සංඥාව. සංඥා කියන්නෙ මොනවද? එකතු වෙනව... ගොඩ නගනව.... කියන අර්ථය තමයි ''සං'' කියන්නෙ. ''ඥ'' කියන්නෙ දැනීම. දුර වේවා, ළඟ වේවා, ඝන වේවා, සියුම් වේවා, හීන වේවා, ප්‍රණීත වේවා, අභ්‍යන්තර වේවා, බාහිර වේවා කුමන ආකාරයේ හෝ ගොඩ නගාගත් දේවල් දැනෙන ආකාරය තමයි ''සංඥා'' කියන්නෙ. ''සං'' වුන හැම දෙයක්ම පටිච්ච සමුප්පන්නයි, බය ධර්මයි, වය ධර්මයි (ක්ෂය වෙලා යනවා, වැය වෙලා යනවා), විරාග ධර්මයි (රාග වශයෙන් අල්ලන්න සුදුසු නෑ), නිරෝධ ධර්මයි (හට ගත් දෙයක් පැවතිලා වැනසිලා නිරුද්ධ වෙලා යනවා), ගෙවී ගෙවී විනාශ වෙන නිසා හරයක් නැති අසාර දේවල්. සංඥාවකින් දැනගන්නෙ පටිච්ච සමුප්පන්න දේවල් නම්, ඒවා සකස්වුන හේතුවක් තියෙනවා. ඒ සකස්වුන හේතුව නැතිවෙන කොට ඒ ඵලයත් නැති වෙනවා.

උදාහරණයක් හැටියට අපි පහන් දැල්ලක් ගත්තොත්, පහනෙ තෙල් තියෙන හේතුවෙන් පහන් දැල්ල සකස් වෙනවා. තෙල් ඉවර වුනාම පහන් දැල්ල කියන රූපයත් නැති වෙනවා. මොහොතක්වත් එකාකාරව පවතින පහන් දැල්ලක් නෑ. තිරේ අගදි රත්වෙලා ගිලිහෙන තෙල් බිඳු ගිනි ගන්නවා. වායුවත් සමග ඉහළ යන ගිනි බිඳු, තෙල් ටික දැවිල ඉවර වුනාම නිවෙනවා. පහනෙ තෙල් තියෙන කල් නොකඩවා මේ ක්‍රියාවලිය සිද්ධ වෙන නිසා, පහන් තිරේ අග ඉඳල අඟලක් දෙකක් ඉහළට යන කල් නොකඩවා ඉහළට ඇදි ඇදී, නිවි නිවී යන ගිනි බිඳු වැල එකක් හැටියට, පහන් දැල්ලක් තියෙනව කියල සංඥාවක් දෙනවා. සංඥාවෙන් කරන්නෙ, අපි කලින් ස්පර්ශ කරල මනසෙ සටහන් වෙලා තියෙන නාම ගෝත්‍ර එක්ක සසඳල බලල, ගෝචර වුන රූපය මොකක්ද කියල තෝරා දීමක්. ඇසට රූපයක් ගෝචර වුනාම, අන්න රූපයක් කියනවා. කනට ශබ්දයක් ගෝචර වුනාම, අන්න ශබ්ද රූපයක් කියනවා. මේ විදියට රූප මාත්‍ර වැලක් හේතුවෙන් සංඥා මාත්‍ර වැලක් තමයි ගොඩනැගෙන්නෙ. මේ සංඥා මාත්‍ර රැහැන එකක් හැටියට අරගෙන, රූපයක් තියෙනව කියල අපිව මුළා කරන සංඥා කියන්නෙ මිරිඟුවක්. මිරිඟුව ඈතට පේන්නෙ ජලාශයක් වගේ. එතැන වතුර නැති වුනාට සිදුවන යම් ක්‍රියාදාමයක් හේතුවෙන් තමයි වතුර ඇති විදියට පේන්නෙ. ඒ කියන්නෙ තද උණුසුම් සම බිමකදි, උණුසුම් වාතය රත් වෙවී ඉහල නගින හැටි. ඒක ඈතට පේන්නෙ ජලාශයක රැළි නැගෙනව වගෙයි. අධික පිපාසය නිසා මුවෝ මේ මිරිඟුවට වතුර කියල රැවටිල මිරිඟුව පසුපස දුවල හති වැටිල වෙහෙසට පත්වෙනවා. ලෝක සත්වයොත් පංචකාම පිපාසයෙන් මේ සංඥා පස්සෙ දුවල හති වැටිල වෙහෙසට පත්වෙනවා.

### කෙසෙල් කඳ අසාරයි - සංඛාර අසාරයි.

මේ සංඥා මාත්‍ර රැහැන එකක් විදියට සකස් කරල හඳුන ගත්තම ඒ රූප, ශබ්ද, ගන්ධ.... ආදී අරමුණු කෙරෙහි රාගයෙන්/ලෝභයෙන් බැඳෙනවා, ද්වේශයෙන් ගැටෙනවා, මෝහයෙන් මුළා වෙනවා. නැත්නම් අලෝභයෙන්, අදෝසයෙන්, අමෝහයෙන් බැඳෙනවා. මේ කුමන බැඳීමකින් හෝ හිතන, කියන, කරන දේවල්වලට සංඛාර කියනවා. අවිද්‍යාවෙන් සංඛාර ගොඩනැගුවොත් පටිච්ච සමුප්පාදය අනුව සංඛාර පච්චයා විඤ්ඤාණං, විඤ්ඤාණ පච්චයා නාමරූපං..... භව පච්චයා ජාති කියල යම්කිසි ජාතියක් හට ගන්නවා. ජාතියක් හට ගත්තොත් ඒකට උරුම ජරා, මරණ, සෝක, පරිදේව, දුක්ඛ, දෝමනස්ස ආදී සියලු දුක් කඳ උරුම වෙනවා. සංඛාර ගොඩ නැගුවෙ රූපාදී අරමුණුවල ආස්වාදයක් තියෙනව කියන අවිදුව නිසා. නමුත් රූපාදී අරමුණුවල ආස්වාදයක් තියෙනවද? අපි හොඳ රසවත් කෑම පිඟානක රස විඳින අවස්ථාවක අපට දැනගන්න ලැබුනොත්, ඒ කෑම සකස් කරල තියෙන්නෙ සතෙක් වැටිල මැරිල කුණු වෙච්ච ළිඳක වතුරෙන් කියල, දැන් ඒ කෑම පිඟාන තව දුරටත් කන්න හිතෙනවද ? නැත්නම් ගිලපු කෑම එළියට දාන්න හිතෙනවද? කෑමවල නම් රස ආස්වාදයක් තිබුණෙ, දැනටත් ඒ කෑම පිඟානෙ කිසි වෙනසක් වුනේ නැති නිසා, ඒ කෑම පිඟානම නිසා දැනුත් ඒ රසාස්වාදයම දැනෙන්න එපැයි! නමුත් දැන් කෝ අර කලින් තිබ්ච්ච ආස්වාදය? මොන හේතුවක් නිසා හෝ අප්‍රිය අමනාප දෙයක් ආවොත්, එහෙම නැත්නම් කැමැත්ත නැති වුනොත් ආස්වාදයත් යටපත් වෙනවා.

**කෙනෙක් තමන්ගෙ පෙම්වතා හෝ පෙම්වතිය ගැන හිත හිතා මිහිරි ප්‍රේම ගීතයක් අහගෙන ආස්වාද විඳිනවා. ඒ ප්‍රේම ගීතයම, ප්‍රේමයෙන් වියෝවුන කෙනෙකුටත් ආස්වාදයක් දෙනවද? ඒ ශබ්දවල ආස්වාදයක් තිබුණ නම් ප්‍රේමයෙන් වියෝ වුන කෙනෙකුටත් ඒක මිහිරි විය යුතුයි.** ආස්වාදය තිබුණෙ ''අරමුණ කෙරෙහි කැමැත්තෙන් බැඳීම'' කියන කාරණය (පටිච්ච වීම) නිසා. කැමැත්ත අත හැරියොත් ආස්වාදයේ බැඳීමත් අත හැරෙනවා. ඉතින් බාහිර ලෝකයේ තියෙන රූපාදී අරමුණුවලින් ආස්වාද විඳින්න බලාපොරොත්තු වුනාට, සංඛාර ගොඩ නැගුවට, ආස්වාදයක් වින්දට හරයක් ලැබෙයිද? ප්‍රතිඵලය කෙසෙල් කඳක් පතුරු ගලවල හරයක් හොයනව වගෙයි.

### මායාව අසාරයි - විඤ්ඤාණ අසාරයි.

ආස්වාද කියල දෙයක් නැත්නම් ලෝක සත්වයා මේ අරමුණු කෙරෙහි බැඳෙනවද? නෑ. ආස්වාද කියල දෙයක් තියෙනවා. තියෙන නිසාමයි ලෝක සත්වයා මේ සසර සැරිසරන්නෙ. ස්පර්ශ මාත්‍රයකට - ආස්වාද මාත්‍රයක්. රූප, ශබ්ද, ගන්ධ... මේ කුමන හෝ අරමුණක ස්පර්ශ මාත්‍රයක් ලැබුණම යලි යලිත් ඒ මාත්‍රය ලබා ගැනීමේ කැමැත්තෙන් බැඳෙනවා, පටිච්ච වෙනවා. පටිච්ච වීම නිසා සම උප්පාදයක් ඇතිවෙනවා. පටිච්ච සමුප්පාදය ක්‍රියාත්මක වෙලා සංඛාර පච්චයා විඤ්ඤාණං කියල විකෘති දැනීමක් හට ගන්නවා. ආස්වාද මාත්‍ර රැහැන එකක් සේ සකස් කරල, මෙන්න ලස්සන රූපයක්.... මේ මිහිරි ශබ්දයක්.... ආදී වශයෙන් සංඥාවක් පෙන්වනවා. අපේ මනස රාග, ද්වේශ, මෝහ ආදී ☞

කෙලෙස්වලින් කහට ගැන්වුන, මනසේම අවස්ථාවක් තමයි විඤ්ඤාණ කියන්නෙ. (හෙළ බොදු පියුම 4 වන කලාපයේ ''අරුත් සැඟව ගිය හේතුඵල දහම යථාර්ථවත්ව...'' කියන ලිපියේ මේ පිළිබඳ විග්‍රහයක් කර ඇත.)

යම්කිසි පිරිසිදු වස්ත්‍රයකට කහට පැල්ලම් වැටුනොත් ඒ වස්ත්‍රයේ හැබෑ තත්ත්වය දකින්න බෑ. පිරිසිදු වතුරට මඩ හෝ කහට වැනි යමක් වැටුනොත්, ඒ වතුරෙන් පිරිසිදු වතුරවල හැටි දකින්න බෑ. මේ වගේ කෙලෙස් කහට වැටුන මනසත් රූපාදී අරමුණු ගැන අපට දෙන පණිවිඩය, අරමුණුවල සත්‍ය තත්ත්වය පෙන්වන්නෙ නෑ. නැති දෙයක් ඇති සේ පෙන්වන විඤ්ඤාණය මායාවක්. මායාකාරයො අතේ ඇඟිලි තුඩු එකතු කරල, ලේන්සුවකින් වහල, ටික වෙලාවකින් ලේන්සුව ගසල පරවියෙක් පෙන්වනවා. හැබැයි අතේ පරවියෙක් හිටියෙත් නෑ, ලේන්සුවෙ පරවියෙක් හිටියෙත් නෑ. මේවට මැජික් හෙවත් මායා දර්ශන කියල කියනවා. විඤ්ඤාණයත් මායාවක්. විඤ්ඤාණය කියල වෙනම එකක් නෑ. මනසෙම විකෘති, කහට ගැන්වුන අවස්ථාවක් තමයි විඤ්ඤාණය කියන්නෙ. ඇඟිලි ටික එකතු කරල ලේන්සුවෙන් වැහුව වගේ විවිධ අරමුණු එකතු කරල, ආස්වාදය නමැති මායාවක් ගොඩනගනවා. ඒක තමයි මැජික් එක, මායාව. ආස්වාද කියල ස්ථිරව, කැමති සේ පවතින යමක් ලෝකෙ නෑ. ස්පර්ශ මාත්‍රයක් හේතුවෙන් ආස්වාද මායා මාත්‍රයක් ඵලයක් වශයෙන් හටගන්නවා. ඊළඟට ස්පර්ශ මාත්‍රය ගෙවිල, ආස්වාද මාත්‍රයත් ගෙවිල යනවා. මායාව අසාර වගේම විඤ්ඤාණත් අසාරයි. විඤ්ඤාණයත් පටිච්ච සමුප්පන්නයි. ''මනෝ අනිච්චෝ, සංඛතෝ, පටිච්ච සමුප්පන්නෝ....'' කියල පටිසම්භිදා මග්ගප්‍රකරණය 1 කාණ්ඩයේ 146 පිටුවේ සඳහන් වෙනවා. මෙතැනදි මනස ගොඩනැගෙන්නෙ ස්පර්ශ අරමුණු කෙරෙහි කැමැත්තෙන් බැඳීම හේතුවෙන්. ඒ මනසත් අනිච්චයි. සංඛතෝ කිව්වෙ සකස් වෙච්ච දෙයක් කියන අර්ථයෙන්. පටිච්ච සමුප්පන්නයි කිව්වෙ හේතු ප්‍රත්‍යයෙන් හැදිච්ච එකක්.

මේ කරුණු අනුව තේරුම් ගන්න ඕන, අධ්‍යාත්මික වශයෙන් හෝ බාහිර වශයෙන් හෝ මේ තුන් ලෝකයේ කොතැනකවත් ස්ථිරව, නොවෙනස්ව, එකාකාරව පවතින සත්ව, පුද්ගල, ද්‍රව්‍ය, වස්තු වශයෙන් කිසිවක් නැති බව. මේ සියල්ල සකස්වීම, පැවතීම, විනාශවීම කියන කාරණා හේතු ඵල ක්‍රියාවලියක් පමණයි. නොවෙනස්ව පවතින්නෙ ධර්ම නියමයන් පමණයි. බුදුවරයන් වහන්සේලා පහළ වුනත් නැතත් ඒ ධර්ම නියමයන් එසේමයි. ඒවා වෙනස් නොවී එසේම ක්‍රියාත්මක වෙනවා. නමුත් උන් වහන්සේලා තමයි ඒව ඒ විදියට ක්‍රියාත්මක වෙන බව පැහැදිලි කරල විග්‍රහ කරල දෙන්නෙ. සියලු බුදුවරයන් වහන්සේලාම දේශනා කරන්නෙ මේ චතුරාර්ය සත්‍යයමයි, සත්තිස් බෝධි පාක්ෂික ධර්මයමයි, නිවනමයි.

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ:*

**ඩබ්ලිව්. ඒ. තිළිණවතී**
**විශ්‍රාමික මහජන බැංකු නිලධාරිනී**
**කඩවත**

# හෙළ බොදු පියුම දහම් සඟරාවේ 28 වන කලාපය සඳහා ශ්‍රමය හා මූල්‍යමය දායකත්වය සැපයූ පිංවතුන්

**ශ්‍රම දායකත්වය** ♦ ධම්මික සේනාධීර මහතා - නෙක්මෝ කම්පියුටර්ස් ආයතනය - මාලබේ ♦ අසංග මංජුල කුමාර මහතා - හෝමාගම ♦ සමන් සිල්වා මහතා - කළුතර ♦ චන්දන සිරිවර්ධන මහතා - අලපලාදෙනිය ♦ ෆික්රි ඉස්මයිල් මහතා - ගොතටුව ♦ ඩබ්.ඒ.තිළිණවතී මහත්මිය - කඩවත ♦ සම්පත් ඉන්දික මහතා - වලස්මුල්ල ♦ පර්ෆෙක්ට් කම්පියුටර් ආයතනයේ කාර්ය මණ්ඩලය - පිටකෝට්ටේ ♦ ඉමාෂි මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය ♦ නන් අයුරින් දායකවූ පින්වතුන්

**මූල්‍යමය දායකත්වය** ♦සමන් සිල්වා මහතා - කළුතර - රු. 16,000/- ♦ප්‍රියනාත් ආරියරත්න මහතා ඇතුළු පවුලේ සැම- කුරුණෑගල - රු. 10,000/- ♦ තුසිත නාකන්දල මහතා, සරූපා නාකන්දල මහත්මිය, දෙව්න්යා දුව -ගල්කිස්ස - රු. 10,000/- ♦ පබසරා අමරසිංහ මහත්මිය ඇතුළු පවුලේ සැම - පොතුහැර - රු. 10,000/- ♦ අමිත් හඳුගොඩ මහතා - අත්තිඩිය - රු.5,000/- ♦ කැළුම් ලංකේශ්වර මහතා ඇතුළු පවුලේ සැම - නෙළුව- රු. 5,000/- ♦ සොනාලි සමරදිවාකර මෙනෙවිය - මහරගම - රු. 5,000/- ♦ කේ.එච්. සඳුන් රණසිංහ මහතා සහ රයලි යශස්වි දුව - නියාගම - රු. 5,000/- ♦ දෙහිවල කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙණේ සදහම් වැඩසටහනට සහභාගි වන පින්වතුන් - රු. 5,000/- ♦ මර්ලින් රන්දෙනිය මහත්මිය ඇතුළු පවුලේ සැම - ඕස්ට්‍රේලියාව - රු. 4,256/- ♦ අමිල සල්ගාදු මහතා - බෝමිරිය - රු. 3,000/- ♦ ජනක හපුආරච්චි මහතා ඇතුළු පවුලේ සැම - ගිනිගත්හේන - රු. 3,000/- ♦ නුගේගොඩ නාලන්දාරාමයේ සදහම් වැඩසටහනට සහභාගි වන පින්වතුන් - රු. 3,000/- ♦ බිනද සුදුසිංහ පුතා ඇතුළු පවුලේ සැම - පානදුර - රු. 2,500 /- ♦ ඩබ්. ප්‍රේමවතී මහත්මිය සහ ඩබ්.කේ. නලින් සේකර මහතා - වළල්ලාවිට - රු. 2,500/- ♦ මානෙල් කටුගම්පොළ මහත්මිය - මහරගම - රු.2,000/- ♦ කෝෂලා සිරිවර්ධන මෙනෙවිය - ගාල්ල - රු. 2,000/- ♦ ඩබ්. උපුල් පරාක්‍රම ද සිල්වා මහතා - මාරවිල - රු.2,000/- ♦ ඩබ්. විලියම් මහතා - දෙහිඅත්තකණ්ඩිය - රු. 2,000/- ♦ මනෝරි ඉන්ද්‍රරත්න මහත්මිය - ඕස්ට්‍රේලියාව - රු.2,000/- ♦ කේ. උපාලි මහතා සහ ආර්. ස්වර්ණලතා මහත්මිය - දික්වැල්ල - රු. 2,000/- ♦ ලලින්ද සඳරුවන් උඩුකාව මහතා ඇතුළු පවුලේ සැම - නවසීලන්තය - රු. 2,000/- /- ♦ සකුන්තලා ඒකනායක මහත්මිය ඇතුළු පවුලේ සැම - බත්තරමුල්ල - රු. 2,000/- ♦ මොනිකා කුලසේකර මහත්මිය සහ මෙතුලි රෙහාරා වීරසිංහ දියණිය - අත්තිඩිය - රු. 2,000/- ♦ අයිරාංගනී තිලකරත්න මහත්මිය - නාවල - රු. 1,500/- ♦ කේ.ඒ.උපාලි ජිනදාස මහතා - ගැටහැත්ත - රු. 1,000/- ♦ ඉන්ද්‍රානි විශාකා ජයසිංහ මහත්මිය- බොරලැස්ගමුව - රු. 1,000/- ♦ එච්.කේ. තිලකලතා මහත්මිය - කිරුළපන - රු.1,000/- ♦ ශ්‍යාමල් බණ්ඩාර මහතා-කුරුණෑගල - රු. 1,000/- ♦ රුවන් රණසිංහ මහතා - පන්නිපිටිය - රු.1,000/- ♦ නදීශා හර්ෂනී ලියනගේ මෙනෙවිය - කළුබෝවිල - රු. 1,000/- ♦ කේ. අමරතිලක මහත්මිය - මහරගම - රු. 1,000/- ♦ ආර්.ඒ. පුංචි බණ්ඩා මහතා - උඩුබැද්දෑව - රු. 1,000/- ♦ එරංග ලියනගේ මහතා සහ බිසන්තිකා ගුණසේකර මහත්මිය - කළුබෝවිල - රු. 1,000/- ♦ අනුරුද්ධ ඉද්දවෙල මහතා - කඩවත - රු. 1,000/- ♦ චන්ද්‍රිකා අබේසිංහ මහත්මිය ඇතුලු පවුලේ සැම - නෙළුව - රු. 1,000/- ♦ නුවන් යාපා අමරසේකර මහතා - රදාවාන - රු. 1,000/- ♦ අසිත දේවින්ද මහතා - ගිජිදාගම - රු.1,000/- ♦ සුජාන් කරස්නාගොඩ මහතා - ගම්පහ - රු. 1,000/- ♦ වාසනා වීරසිංහ මහත්මිය - බියගම - රු. 1,000/- ♦ ☞

මධුභානි කළුවැව මහත්මිය - මාලබේ - රු. 1,000/- ♦ රසික ජයලත් මහතා ඇතුලු පවුලේ සැම - පොල්ගස්ඕවිට - රු. 1,000/- ♦ සී. එම්. පී.සී. ලක්රුවන් මහතා - කළුතර - රු. 1,000/- ♦ ජයනාත් සුහසිංහ මහතා - පන්නිපිටිය - රු. 1,000/- ♦ ශශිකා කරවිට මහත්මිය - හෝමාගම- රු. 1,000/- ♦ සෝමා කස්තුරිආරච්චි මහත්මිය - අල්ගම - රු. 1,000/- ♦ ඩිලානි ඩයස් මහත්මිය - මහරගම - රු. 1,000/- ♦ නිරෝෂ් සපරමාදු මහතා - කොච්චිකඩේ- රු. 1,000/- ♦ එම්.පී. ප්‍රේමරත්න මහතා - කටුවාවල - රු. 1,000/- ♦ වීණා අතුකෝරාළ මහත්මිය සහ ජනිඳු බිම්සර පුතා - නෙළුව - රු. 1,000/- ♦ ජීවනී මධුරාවල මහත්මිය - රු. 1,000/- ♦ ප්‍රේමා ගීකියනගේ මහත්මිය සහ නිශාන්ත පුතා - හොරණ - රු. 1,000/- ♦ පුබුදු කමල් දසනායක මහතා සහ කණිෂ්කා නුවන්ජිනි මහත්මිය - හොරණ - රු. 1,000/-♦ රංජිත් වික්‍රමසිංහ මහතා, පද්මාවතී වික්‍රමසිංහ මහත්මිය, සුභාෂිනී දිසානායක මෙනවිය - කඩිගමුව, උපුල් විජේනායක මහතා - මාවනැල්ල, මනෝජ් ජයසූරිය මහතා, උදාන ආරියවංශ මහතා - මහරගම, ඉසුරු සම්පත් මහතා - කළුතර, පතිරණ විජේතිලක මහතා - හෝකන්දර, චතුර මල්වාන මහතා - කෑගල්ල, චන්දිම ගුණදාස මහතා - මොරටුව, දුමින්දා සංජීවනී මහත්මිය - නිට්ටඹුව, ශාන්ත මාරසිංහ මහතා - මහනුවර, කුමාරි ගොඩවිට මහත්මිය - කුරුණෑගල, ඩී.එම්. එල්. පුෂ්පකුමාර මහතා - වාරියපොල, ශ්‍රී රංජිත් සිංහ මහතා - කැළණිය, අජිත් ප්‍රියන්ත මහතා - කෑගල්ල, නීල් ගුණසේකර මහතා - පිටකෝට්ටේ, සිරිතුංග දෙළුම්දෙණිය මහතා - බෙන්තර, කිත්සිරි මෙවන් තිලකරත්න මහතා - මොණරාගල, එස්. බණ්ඩාරනායක මහතා - නුගේගොඩ, ජිනපාලි ද සිල්වා මහත්මිය - නාවල, ඒ.ඒ. ඩී. ඩයස් මහත්මිය - වරපලාන, තවත් පිංවතෙක් - රු.10,100/- ♦ එකතු වූ සියලු මුදල් පරිත්‍යාග- රු. 146,856/- ♦ පළමු පිටපත් 10000 සඳහා මුද්‍රණ වියදම රු. 232,500/- ♦අනෙකුත් වියදම් - 18,590/- ♦ සම්පූර්ණ වියදම - රු. 251,090/- මුද්‍රණ කටයුතු සඳහා ගිය හිඟ මුදල සඟරා අලෙවියෙන් පියවා ගන්නා ලදී. සඟරා අලෙවියෙන් ලැබෙන ඉතිරි සියලු මුදල් නැවත මුද්‍රණ කටයුතු ඇතුළු දහම් කටයුතු සඳහා යොදවනු ලැබේ.

**ඉහත නම් සඳහන් පිංවත් පිරිස ඇතුළු ආධාර උපකාර කළ සියලු දෙනා සිදු කරගත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද හේතු කොටගෙන, අනන්ත සසරේ පටන් මේ දක්වා තම තමන් අතින් අවැඩ, අසාධාරණ, වැරදි, ප්‍රමාද දෝෂවලට ලක් වූ සියලු දෙනාට මෙන්ම උදව් උපකාර කළ සැමටත්, මියගිය සතර වරිගයක ඥාති මිත්‍රාදීන්ටත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද විහිදී පැතිරී පිහිටා සුඛිත මුදිත වෙත්වා, සුගතිගාමීව තම තමන්ගේ පැතුම් පරිදි නිර්වාණාවබෝධයටද හේතු වාසනා වේවා! එම ආධාර උපකාර කළ පිංවත් පිරිස් ඇතුළු සිය පවුල්වල සැමටත්, කරන කියන යහපත් රැකී රක්ෂා ව්‍යාපාර ආදියෙන් සියලු ජයග්‍රහණයන් අත් වේවා. දූ දරුවන්ගේ අධ්‍යාපන ආදී කටයුතුවලින් විශිෂ්ඨ ජයග්‍රහණ අත් වී සුචරිත පිරිසක් වී සියලු අභිවෘද්ධිය උදා වේවා!**

**සියවස් ගණනාවකට පෙර සැඟව ගිය නිමල බොදු මග යළි පුබුදුවමින්,**
**හෙළ බොදු පියුම දහම් කරුණු ඔබ වෙත රැගෙන එන්නේ, බුදු පියාණන් වහන්සේ අනුදැන වදාළ, අග්ගඤ්ඤ සූත්‍රය, නිරුත්තිපථ සූත්‍රය සහ අරණවිභංග සූත්‍රය යන සූත්‍රාන්තයන්ට අනුව, දහම් පදවල සැඟවුණු දහම් අරුත් මතු කරන පද නිරුක්ති සහ අතීතය, වර්තමානය, අනාගතය හඟවන තුන්කල් නිරුක්ති සහිත ව්‍යවහාර ශබ්ද නිරුක්ති ක්‍රමවේදය අනුව මිස, උන්වහන්සේ අනුමත නොකළ ලිඛිත භාෂා රීති සහිත බමුණන්ගේ ත්‍රිවේද නිරුක්ති මත නොවන බව සලකන්න.**

**පින්වත් ඔබ වෙනුවෙන් එළි දැක්වූ දහම් ගබඩාවන්...**

www.hiddendhamma.net mp3.hiddendhamma.net www.helabodhupiyuma.net www.aaryadharma.org
විද්‍යුත් ලිපිනය: webmaster@helabodhupiyuma.net දු.අං:- 071 3046895

**දම් සභා ගුවන් හඬ** - www.waharaka.com වෙබ් අඩවිය ඔස්සේ පුර සහ අමාවක පොහොය දිනයන්හි උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා

**සැඟවුණු බොදු මග යළි විවර කරමින් වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ සදහම් වැඩසටහන් පැවැත්වෙන කාල හෝරාවන්:**

සැම පුන් පොහෝ දිනකම සහ සැම අමාවක පොහොය දිනකම උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා - පෙහෙවත් සමාදානය, දහම් සාකච්ඡා සහ විශේෂ පුණ්‍යානුමෝදනාව.

ගමන් මාර්ගය: නිට්ටඹුව - රුවන්වැල්ල ප්‍රධාන මාර්ගයේ ගෝණගල්දෙනිය හන්දියේ සිට වහරක අතුරු මාර්ගයේ මීටර 350 ක් පමණ දුරින් දකුණු පස.

## හෙළ බොදු පියුම දහම් සඟරාවේ පසුගිය කලාපයන් ඇතුලු සියලු කලාපයන් දැනට ලබාගත හැකි ස්ථාන:

1. ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - තලවතුගොඩ පාර, පිටකෝට්ටේ
2. නෙක්මෝ කම්පියුටර්ස් ආයතනය - මාලබේ.
3. නිව් පියුමි කොමිනිකේෂන් - පීරිස් මාවත, කළුබෝවිල.
4. තුෂාරා ෆැෂන් - හයිලෙවල් පාර, හෝමාගම.
5. පිනැකල් නෙට් - ශානි ඉන්ස්ටිටියුට් - හයිලෙවල් පාර, ගොඩගම
6. තුෂාරි සාරි සෙන්ටර් - කොළඹ පාර, පාදුක්ක.
7. සුජය ෆාමසි - කටුබැද්ද හංදිය, මොරටුව.
8. ගේට්වේ අධ්‍යාපන ආයතනය - කලේගාන, ගාල්ල.
9. සමනල පොත්හල - නෙළුව.
10. නිව් මෙට්‍රෝ කම්පියුටර්ස් - කාලිදාස මාවත, මාතර
11. මෝලෙ කඩේ - මුදුන, වලස්මුල්ල.
12. කේ. පී. ස්ටෝර්ස් - ගන්තුන, කෑගල්ල.
13. නුගේගොඩ නාලන්දාරාම විහාරස්ථානයේ සදහම් වැඩසටහනින් (ඉරිදා උදේ 9.00 සිට සවස 2.00 දක්වා පමණි.) (077 7577592)
14. දෙහිවල කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනින් (සෙනසුරාදා උදේ 8.30 සිට සවස 2.00 දක්වා පමණි) (දෙහිවල පොලිස් ස්ථානය අසල)

***ඉහත ආයතන හිමි පින්වතුන් මෙම සද් කාර්ය ඉටු කරනු ලබන්නේ කිසිදු වෙළඳ ලාභයකින් තොරව සාසනික කටයුත්තක් වශයෙන් පමණි.***

# අරි මෙත් සිතක වරුණා...







මුනිඳු දෙසු අරී මෙත
හැමටම සුව ගෙනෙයි සිත
නිකං හිඳිනා අත
කළත් සිහියෙන් ගෙනෙයි ජය සෙත

දෙව් බඹ රැක බලයි
සුව සේ නිදයි පිබිදෙයි
දොස් හීන නොදකියි
මිනිස් නොමිනිස් සැවොම සලකයි

ගින්නෙන් වස විසින්
අවි ආයුධද එලෙසින්
එන විට දස දෙසින්
කෙරෙයි රැකවල් දසත වෙසෙසින්

ගත සිත සවිය දෙයි
සිත සමයට ඇදී යයි
මුව වරුණ පැහැ වෙයි
මුලා නොම වී තොසින් මිය යයි



අරී මෙත් සිතක බල
හරියට දැන වඩොත් එල
අරිහත් නොමැති කල
කෙරෙයි උපතක් ඉහළ බඹ තල

මියෙන මොහොතකදීත්
සිහියට නැගෙයි කළ මෙත්
තුන් ලොව කොතැන මුත්
උපනුපන් තැන යළිදු බල වෙත්



බැඳුණු සසරෙහි එන
ගනුදෙනු නිතර මතු වන
පියවන දහම දැන
වඩනු අරී මෙත සියලු සැප දෙන

නැගුවොත් අරී මෙතක්
අසුරක් ගහන මොහොතක්
සසර ගනුදෙනුවක්
වෙතොත් පිය වෙයි නොමැත වෙහෙසක්

තම තමන් කර ඇති
නොමනා කම් අවැඩ පැති
හැම දෙන කෙරෙහි ඇති
එම සියල් අරී මෙතින් පහවෙති

මිල මුදල් වෙහෙසින්
ගනුදෙනු සසර දහසින්
ගෙවන්නද කෙලෙසින්
වඩොත් අරී මෙත ගෙවෙයි දවසින්

අපමණ සසර දුර
කොපමණ වේද සිහි කර
බලා කෙළෙසුන් හැර
වඩොත් අරී මෙත දෙයි නිවන් පුර

හැම කලම නැත්තේ
බුදු සමයකයි ඇත්තේ
තියෙන කල ගත්තේ
නැතොත් අඳුරැයි දැනිය යුත්තේ

ලොව දුලබ අරී මෙත
දැනගෙන වඩොත් හැම සත
මෙලොව පරලොව සෙත
ගෙනෙයි කෙළවර නිවන් සුව ඇත

කල නිකන් නොදවා
ලැබෙන ඉඩකඩ යොදවා
අරී මෙතම රඳවා
සසර හැර යනු කෙලෙස් මුදවා

පබැඳුම
නීතිඥ චන්දන සිරිවර්ධන




# ජය සිරි මහ බෝ සමිඳුගෙ වරුණා.....

දඹදිව් තලේ මැද දෙස පින් ඇති බිමෙක
බඹ දෙව් පවා නමදින සුපතල නමෙක
නිබඳව පෙරුම් බල වැඩි බෝ රජ තුමෙක
ගැබ විය ලොවට සෙත දෙන සම්බුදු දමෙක

සහජාතයෙන් පැන නැගි බෝ රැකවරණේ
විදුරාසනෙන් ගෙන දුනි නොසැලෙන කිරණේ
පෙරුමා බලෙන් ජය ගෙන තුන් ලොව මරණේ
මරුවාදරෙන් පර දා දුනි බුදු සරණේ

භූ කම්පනයටත් නොසැලෙන එකම තැන
සූදානම් වුණා ගැනුමට මරු ද පැන
වූ විට පාරමී අපමණ සසරකින
මූණද අඳුරු වී සුනු විය මරුගෙ අණ

දස දහසකින් සක්වලකට හිමි වන්නේ
අස දිස පැතුම එතැනිනි මල් එල ගන්නේ
වස විස පලව හැර පාරමී බලයෙන්නේ
ඇසතුව නමින් බෝ රජ පහලව ඉන්නේ

සක්වල දස දහස විහිදා සෙත් කිරණ
දික් කර ගුණය සත නිවනට පත් කරන
දුක් කඳ නසන්නට මහ බෝසත් පුරන
තෙක් රැකවරණ විය මහ බෝ පත් අරණ

හිඳ වැඩ තෙදින් සම්බුදු බණ තියෙන කලේ
සිඳ බිඳ දමයි සක්වල විස කිරණ තලේ
මඳ නැත බුදුන් පිරිනිව වැඩි කලද බලේ
වැඳ බැතිමතුන් නිරතුරු මෙත් ගඟුලෙ ගිලේ

පිට දුන් බෝ සමිඳු තවමත් ඇත යහතින්
දහසින් කල් ගියද නොම වෙයි කඳ මහතින්
දෙවියන් බඹුන් නොම යයි කිසි විට ඉහතින්
දිවැසින් දකින උතුමන් හඳුනති මොහොතින්

සම්බුදු සසුන ලොව පවතින තුරාවට
දම් මග යනෙන ලෝ සත රැක බලා කොට
නිම් නැති සසර බිය පහ කර නිමාවට
තුම් බල ගෙනෙයි ජය සිරි බෝ පියා හෙට

පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන

නීතිඥ චන්දන සිරිවර්ධන විසින් නුගේගොඩ ගංගොඩවිල වනාත පාරේ අංක 96/A දරණ ස්ථානයේ පිහිටි ඉමාෂි මුද්‍රණාලයේ මුද්‍රණය කර ප්‍රසිද්ධ කරන ලදී.